# බුදුන්ගේ රස්තියාදුව


srinathchathuranga33@gmail.com

**ප්‍රථම මුද්‍රණය**
2018

**කවර නිර්මාණය**
සංජය ඈපා සෙනෙවිරත්න

**පිටු සැකසුම**
අමිලා සඳමාලි කන්නංගර

**සෝදුපත් බැලීම**
උපුල් ශාන්ත සන්නස්ගල | සසන්ත ඉන්ද්‍රජිත්
වරංග ද සිල්වා | ගී ලී
ශලනි සමරනායක | උදිත විරත්න



**ප්‍රකාශනය**
සංහිඳ ප්‍රකාශන

**මුද්‍රණය**



සංහිඳ මුද්‍රණ සහ ප්‍රකාශන
අංක 06, විජේරාම පාර,
ගංගොඩවිල,
නුගේගොඩ.
e-mail: sanghindapubs@gmail.com
web: www.sannasgala.lk
☎ 011-2802679

# පිදුම?

සරුංගලයක් මෙන්
අරමුණක් නැතිව
විනෝදයට පියාසර
කළ මගේ දිවියට
අනාරාධිතවම පැමිණ
රාජාලියෙකුට මෙන්,
තියුණු දෑක්මක්, හා
අරමුණක් දුන්

**මගේ පොඩි
පුතුටයි මේ**

රැඩිකල්
පිදුම







facebook.com/srinath.chathuranga.14
instagram.com/k_k_sri/

පපුව අල්ලගෙන බිම වැතිරිල හිටපු මම ගෙදරින් පාරට බැස්ස. ඒ මට බිරිඳක් ඉන්න නිසා නෙවෙයි. ලෝකයම අතැඹුලක් සේ මට පසක් වුණ නිසා. සිදුහත් බුදු වුණා. මේ භද්‍ර කල්පෙදි නම් ඒ හතරවෙනි එක්කෙනා. එතනින් පස්සෙ, කීවෙනියද මන්දා. ගණන් කරන්න බැරි තරම් බුදුවරු මේ පොළොවේ පහළ වෙන්න ඇති. ඒත් එයාල නිහඬව මිය යන්න ඇති. ඒ වගේම හැම මිනිහෙක්ටම, තමන් බුදු වුණා වගෙ හැඟීමක් ඇති වෙන එක මේ වෙද්දි මහ කජ්ජක් නෙවෙයි. ඒ ඇ එකට විතර ඇති. මම දුරකතනය ක්‍රියා විරහිත කරා. ඒ ආපහු අතට ගන්න නෙවෙයි.



දුරකතන හරිම සංකරයි. හිත ඇදෙන සුළුයි. ඉස්සර තනියෙන් කතා කරන මිනිසෙක් කියන්නෙ විහිළුවක්.

දැන් ඒක භයානක විහිළුවක්. පුදුමයක් නෙවෙයි. කෝල් එකක් ආවම නිකම්ම උඩ බැලෙනව නම් ඒක ටිකක් මනෝවිකාරයි. බිම බැලෙනව නම්, කකුලෙන් මිදුලේ රටා ගොඩක් එක්ක වළවල් ගොඩක් හෑරීමට නියමිතයි. ඒත් අහසෙ තියෙන්නෙ දෙව්ලොවට ළඟ දේ විතරයි. අපාය තියෙන්නෙ කකුලෙ මහපට ඇඟිල්ල ළඟයි.

ඉතින් මිනිස්සු හැර තමන්ගේම මනෝ විද්‍යාවක් හිමි කරගත්ත දෙය හැම විටම තාක්ෂණයයි. ඒ තාක්ෂණය අපිව බලවත් මිනිසුන් කරන්නේ යම් සේ ද නූතනයේදී ඒ දුරකතනයයි. ඒවගෙම අහස්ගත කළ චන්ද්‍රිකාවක් විනාඩියකට කුලියට ගත්තම ඒකෙ මිල රුපියල් 2 යි සත ගාණයි. ඉතිං දුරකතනයක් කියන්නේ ඒකට. දෙව්ලොවට සෑහෙන්න ළඟ දේකට.



මිනිහෙක් දුරකතනයක් ක්‍රියාවිරහිත කරනව කියන්නේ, මං කියන්නෙ ඒ දීර්ඝ කාලයකට, අඩුම තරමේ දවස් දෙකක්, මිනිස්සු හිතනව, ඒ මිනිහා අනිවාර්යෙන්ම මහා නරක සිත් තැවුලකින් ඉන්නව ඇති කියලා. දවස් තුනක් ගිය තැන, මිනිස්සු කලබල වෙනවා, මිනිහා ගැන පොඩ්ඩක් හොයල බලන්න වෙනව කියලා.

ඒත් මිනිස් වර්ගයා සතුව කාලයක් තිබ්බා, මෙන්න මෙහෙම. මට පායන හඳ ඔහෙටත් පායනවා. අපි ඒ හඳ දිහා ලෝකයේ දෙතැනකට වෙලා බලාගෙන ඉන්නවා. හඳ දිහා බලනව නම් ඒ දිහා බලන්න පුළුවන් තැන් දෙකක

ඉඳන් විතරයි. මට ඒ හඳ පේන තැන ආයෙ මට විතරයි. වෙන කාටවත් නැහැ. මේ නිසා හඳ අපෙ සිත් අතර පණිවුඩකරුවා වෙනවා. කවිය උපදිනවා. අපේ හිත්වල මොනව තිබුණත් හඳ ඒ ගැන දැනගන්නවා. හඳෙන් ඒ සියල්ල දැනගත හැකියි. ඕනෙම මුදල් වංචාවක තොරතුරු එය සතුයි. ඇයි ස්ත්‍රී දූෂණ. මිනීමැරුම්. පැහැරගෙන යාම්. ඉතිං කිසිම තේරුමක් නැතිව ඒ වැඩේ කරන්න පුළුවන් හඳට විතරයි. ඒ නිසයි හඳ සුන්දර වස්තුවක් වෙන්නෙ. මොන මිනීමරුවද හඳ දිහා නොබලන්නෙ...?

කිසිම තේරුමක් නැතත් ඒ දිහා බලාගෙන ඉන්න පුළුවන් නම්, ඒකට කියන්නෙ සුන්දරත්වය කියලා. හරියට හාදු වගේ. හාදුවලත් කිසිම තේරුමක් නැහැ. නිකාං හුස්ම උඩට පහළට යන කොට තොල් මුහුණට මුහුණ ළං වෙනවා. ඉතින් ඒ තොල් අතර දුර දුරයි නම්, ඉවසන්න බැරිම නම් පරෙවියෙකු අතේ පණිවුඩයක් යවනවා. ඒත් ලද අවසරයකින් ඒ පරෙවියා, අනේ ඒ ලැබිය යුතුම පණිවුඩය, වෙන පරෙවියක හා හාද වෙලා, අතර මග දී, වෙනතකට යනවා. කාලයක් යද්දි පණිවුඩය උගෙ ගෙලෙහි පැළඳි ආභරණයක් වෙනවා. නන්නාත්තාරේ යන මිනිහෙකුට, සමහර විට ජීවිතය එපා වෙලා සියදිවි නසා ගන්න හදන මිනිහෙකුට, ඒ පණිවුඩය ලැබෙනවා. ශූන්‍යාත්වයෙන් පිරි ඒ මිනිහාගේ ජීවිතය එයින් නැවත අර්ථවත් වෙනවා.

දුරකතනය හැදෙන්න නම් මුලින්ම කාර් හැදෙන්න ඕනෙ. ඒ වගෙම පොඩි ළමයෙකුට සෙල්ලම් කාර් එකක් පදින්න පුළුවන් වෙන්න ඕනෙ. පොඩි කාලේ සෙල්ලම් කාර් පැද්ද හැටි මට මතකයි. දුෂ්ටයන් යට කරගෙන සතුරු විමානවලින්, යක්ෂ විමානවලින් බේරිල පැනල ගිහිපු හැටි මතකයි. ඒ නිසා කාර් එකක් පදවන හැම දරුවෙක්ම, මිනිහෙක්ව යට කරන්නත් ඉගෙන ගන්න ඕනේ. ඒත් දුරකතනය හැදෙන්න නම් කාර් තියෙන්න ඕනෙ. කාර් එකෙ සුක්කානමට අත ගිහිපු සැණින් මට ඇමතුමක් එන්න ඕනෙ. කතා කරකර තනි අතින් පදවගෙන යන්න ඕනෙ.



"උඹ කාර් එකක්වත් එලවන්න දන්නෙ නැද්ද?"

ඒ විදියට චෝදනා ලබපු වාර ගණන අනන්තයි. මටත් බිරිඳක්, ඒ කියන්නේ මෙන්න මෙහෙම බිරිඳක්. අතිශය නූතන අදහස්වලින් පිරි, බටහිර පන්නයෙ පවුලකින් ආපු, කෝපි බොන්න හැමවෙලේම උත්සාහ කරන, කියවල අවසන් නොකරන පොතක් නිරන්තරයෙන්ම අතේ තියෙන, එයාගෙ දරුවන්, ඇත්තට ඒ ගැහැනු දරුවෙක්, මට දාව නොවුණත්, ඒ කාගෙ උනත් දරුවෙක්, කැඩිච්ච සිංහල කතා කරන, සිංහල කතා කරන්න ආස කරන, මටම අනන්‍ය වුණ, ඒ නිසා පුංචි ඉරිසියාවක් එක්ක, සියලු පසුතැවිලි, එක් ඇසක් වසා එක්වර ඉඟි කර, දැන් ඒව ඔක්කොම හරි, අමතක කරන්න කියල කියන, කාර්

එකේ යන කොට වැස්ස වැටෙන, වැස්සට විතරක් එළියට ගන්න කාර් එකක්, මගෙ දුප්පත්කම මට මවල දුන්නා.

ඒ දුප්පත්කම තාම මගෙ වටේ හොල්මන් කරන කොට, මගෙ මිතුරා අහපු ප්‍රශ්නය,

"මොකද්ද බං කාර් එකක් වත් එලවන්න දන්නෙ නැද්ද?"

මට දැනුණෙ සතෙක් පස්සෙ එලවන්න දන්නෙ නැද්ද කියල අහන වගක්. ඇත්තටම වාහන තියෙන්නෙ පදවාගෙන යන්නද, එලවන්නද... සත්තු පස්සෙ සත්තු එලවන්නෙ මහ කැලේ. මහ වනාන්තර මනසක් ඒ ප්‍රශ්නයෙ තිබුණා. සුදු මහත බඩ තියෙන ගෝරිල්ලෙක් මිනිහෙක්ගෙන් අහන්න ඕනෙ ප්‍රශ්නය, මේකා මගෙන් අහනවා.

එවෙලෙම මම උගෙ කනට ගැහුව. සිහි එලව ගනිං මිනිහෝ. ඇත්තටම අර වගෙ සුන්දර ගෑනියෙක් එක්ක මට පුළුවන්ද වාහනයක් එලවන්න. ඒ ගෑනි මාව දාල යන පළවෙනි දේ ඒක.

ඒත් ඒ සුන්දර ගෑනියට, මට වඩා කඩවසම්, ඒත් හොඳ හදවතක් තියෙන, සල්ලිකාර මිනිහෙක් හමු නොවෙයි කියන්න බැහැ. මම ඇය හා සංසර්ගයෙ යෙදුණත් හැමදාම, සුරතාන්තය අග ඇයට හැකියි අර ආගන්තුක සල්ලිකාරයා ගැන පොඩියක් හෝ සිහිකරන්න. මට වඩා හොඳට ඒ සල්ලිකාරයට ඉංග්‍රීසි පුළුවන්කම, ඇයව සුරතාන්තයට ගෙනියනව ඇති.

කමන් නෑ බබා, ඔයා යන්න, ඔයා ගියත් මට මේ දරුවව දීල යන්ඩ. මොකද මම මේ කෙල්ලගෙ ඇස් දෙක දවසක දිනවනවා. මේවා දුර්ලභ ඇස්. ඒකට පුළුවන් මගෙ කලාවට පණ දෙන්න. අනේ දුවෙක් හිටියමයි පිරිමියෙක් තමන්ගේ ප්‍රේමය පසක් කරගන්නෙ. පුතෙක් හිටිය නම්, ඒකා කවදාහරි ගෙදරින් පැනලා යනකං, ඉන්න වෙනවා මගෙ සුන්දර බිරිඳව ඉඹින්න. හදිසියේ හරි ඒකා ගෙදරින් පැනල ගියෙ නැත්තං, අපි දෙන්නගෙ කාමරයේ සිද්ධ වෙන දේවල් හොයන්න බිත්ති හිල් කරාවි.

ඒත් බලන්න. මගෙ යාළුවා, අර කාර් පිස්සා, මේ දැන් මාව පහු කරගෙන ගියා, මගේ මූණවත් නොබලා, මේ මහ රෑ...



මම ඇවිදගෙන ඉස්සරහටම යනවා. පාරේ ඉස්සරහින් කවුරුවත් දැන් පේන්න නැහැ. යාළුවගෙ සද්දෙ එහෙම්ම වියැකිලා ගියා. ඈත පොල් ගස් අතරින්, වාහනේ ලයිට් එළිය වැදෙනව. අන්තිම පොල් ගහත් ඉවර වුණා. දැන් මං ඉන්නෙ කළුවරෙ. ලයිට් එළියක් නැහැ. මං හිතන්නෙ කරන්ට් ගිහිං.

කරන්ට් එක නැති ලෝකයක් ගැන දුරම මතකය තිබුණෙ, දැන් ගෙ හදන්න කාලෙකට කලින්, කුලියට හිටපු ගෙදරක, අල්ලපු ගෙදර හිටපු දූවරු තුන්දෙනාට. මම දන්නෙ නෑ එයාල දැන් කොහෙද කියලවත්. ඒ කාලෙ හැම තිස්සෙම මේ දූවරු තුන් දෙනා අපෙ අම්මාත් එක්ක

සැහෙන රණ්ඩු කරනවා. ඒ කාලෙ මම දන්නෙ නෑ ඒකට හේතුව මොකද්ද කියලා. කියා ගන්න තරම් හේතුවක් නොතිබ්බ නිසා, එයාල ගැන මට තිබුණෙ, රාගික හැඟීමක්. ඒත් වැස්ස දවසට එයාල තවත් ලස්සනයි.

එයාල හැමදාමත් හිටියෙ එකම උසින්. මම හිතන්නේ ඒක එයාලගෙ අම්මගෙන් ලැබුණ ශාපයක්. මම කොච්චර උස ගියත් එයාලට අනාගතයක් තිබුණෙ නෑ ඒ පැත්තෙන්. එයාල නිතරම බයෙන් හිටියා, පෙම්වතුන් එයාලව මග අරියි කියලා, ඒ කොට නිසා. ඒ වගෙම මමත් බයකින් හිටියා, ගෙදර එද්දි අදත් අපේ අය රණ්ඩු වෙලා ඇති කියලා, ඒ උන්ගෙ ඇස් පුංචි නිසා. ඒත් මම කියන්න ඕනෙ මේ දේ, ඒ ලස්සන ඇස් ඇති කෙල්ලො තුන් දෙනාගෙ පවුල අපිත් එක්ක දිගටම තරහෙන් හිටියා.

ඒ කාලෙ අපේ ගෙදර තිබ්බේ කෙල්ලො තුන්දෙනාගෙ පවුලට ඇඳිලා. එක මුදුන් ලීයකින් වෙන් වෙන ගෙවල් දෙකක්. මෙ ආකෘතියෙම තවත් ගෙයක් තිබුණා. ඒ ගෙයටත් අපේ ගෙවල් දෙක වගෙම එක සමාන ගෘහ නිර්මාණ ආකෘතියක් තිබුණා. ඒ කාලෙ අපිට තිබුණා සර්පයින්ගෙ තර්ජනයක්. සර්පයෙක් එක ගෙදරක වහලක පරාලයකට නැග ගත්තම, ඇවිත් බහින්නෙ හතර වෙනි ගෙදරින්. ඒ කියන්නෙ අපේ ගෙදරින්. දැන් මට තේරෙනව අපි රණ්ඩු වුණේ ඇයි කියලා.

අපේ ගෙයටත් රූමතියො තුන් දෙනාගෙ ගෙදරටත්, විදුලිය තිබුණේ නැහැ. අපි දෙගොල්ලොන්ගෙ ගෙදරට එහායින් තිබුණ පොඩි වගා කරපු ඉඩමක්. ඒකෙ පැළවුණු පැෂන් ෆෘට් වැලකින් අපි දෙගොල්ලොන්ගෙ මුදුන් ලීයත්, අර එහා ගෙදර අයගෙ මුදුන් ලීයත් යා වෙලා තිබුණා. අපි එන්න කලින් මෙහෙ ජීවත් වෙලා හිටපු හැම සර්පයෙක්ම, ගමන් ගත්ත මාර්ගය, ඔන්න ඔය පැෂන් ෆෘට් වැල එක්ක සම්බන්ධ කරගෙන තිබුණා. සර්පයින් අතරින් ගැරඬියා කියන්නෙ, උග්‍ර විෂ ඇති සතෙක් නෙවෙයි. නිකමට හරි ගැරඬියෙක්ගේ සපා කෑමට ලක් වුණ කෙනෙක්, උග්‍ර නයි විෂකින් වුණත් මරා දමන්නට නොහැකි තරමට ආශීර්වාදයක් ලබනවා. ගැරඬින්ගෙ ඇසුත් පුංචියි. ඉතින් වැඩිහරියක් එහෙ මෙහේ ගියේ ගැරඬි.

විදුලි බලය නැති නිසා අපි දෙගොල්ලො හිටියෙ ලාම්පු එළියෙන්. අනිත් ගෙදර දෙගොල්ලොන්ට තිබුණා ලයිට්. ඒ මදිවට එයාල ලේ නෑයෝ. ඒත් අපි දෙගොල්ලො එහෙම නෙවෙයි. තාත්තගෙ ගම නම් ගාල්ලේ. ලේ නෑයො පවුල් දෙක නම් මාතර. ඔන්න ඔය වගෙ පවුල් හතරක්.

ඉතින් දවසක් මේ හොඳට සෙල්ලම් කර කර හිටපු, ලේ නෑයොන්ගෙ දරුවොයි, රූමතියො තුන් දෙනායි, මහා විශාල ගැටලුවක් නෙවේ, මේ පුංචි ආරවුලකින්, සදහටම තරහ වෙන්න තීරණය කරා. ඒ ආරවුලෙ නම ක්‍රිකට් නෙවෙයි. තාරාඩි නෙවෙයි. ඒකෙ නම 'යුද්ධය'.

ඒ යුද මෙහෙයුම සැරටම දියත් වෙන කාලය. කොටියි හමුදාවයි, වෙන් වෙලා පොඩි ළමයි සෙල්ලම් කරපු කාලය. අපිට තිබුණ හොඳ යුද පිටියක්. එක අන්තයක තිබ්බෙ පරණ වලව්කාරයෙකුගෙ වලව්වක්. මේ වලව්වෙ හිටියෙ ආයම්ම කෙනෙකුයි, ඒ වලව්වෙ හාමුයි, බේබි මහත්තයයි. තව කෙනෙක් හිටියා. ඒ ඇතෙක්. වලව්ව සෑහෙන පරණ එකක්. ඒක තිබුණෙ කැලණි ගඟට යාබදව. හැමෝම කියන විදියට මේ වලව්වෙ ජනේලවලින් අවතාර බලාගෙන හිටියා. මිනිස්සු කිව්වෙ එක ගෑනියෙක්ට මේ වලව්වෙ ජීවත් වෙන්ඩ බෑ කියලා. ඇත්තටම මොන වලව්වෙද ගෑනියෙක් හිතේ සන්තෝසෙන් ජීවත් වුණේ. ඒවයෙ ජීවත් වෙන්න පුළුවන් වයසක ගෑනුන්ට විතරයි.

වලව්වෙන් අනික් පැත්තෙ තිබුණ, ඒ වලව්වට ඉස්සර කාලෙ අයිති වෙලා තිබුණ ඉඩමක, අපි ජීවත් වුණ ගෙවල්. අපි ඒවයෙ හිටියෙ කුලියට. ඒවා තිබුණේ අපේ යුද භූමියේ සිතියමට අනුව අන්තිම කොනේ. මැද තිබුණ පොල් ගස් වලින් හැදුණ වලව්වෙ වත්ත.

ඉතින් නාමත් පැත්තක් තීරණය වුණෙ නැති යුද නායකයන්ට සිද්ධ වුණා තමන්ගෙ කණ්ඩායම් දෙක තෝර ගන්න. අවසානයේ ලේ නෑයෝ ටික, වඩා ශක්තිමත් පිලක් හදාගත්තා. ලේ නෑයොන්ගෙ පැත්තෙ හිටියෙ ගෙවල්වල ලයිට් තිබ්බ යාළුවො. අනිත් පැත්තෙ හිටියෙ රූමතියො තුන් දෙනාගෙ හයියෙන් වසඟයට ගත්තු යාළුවො. ඒ

විසංගය කොච්චර බලවත් ද කිව්වොත් ඒ පිරිසෙ හිටියා ගෙවල්වල ලයිට් තිබ්බ අයත්. එච්චරටම ඒ කෙල්ලො විසංගකාරියි. ඉතින් මම මොන පැත්තෙද?

සුදුයි, ලස්සනයි නිසා, යන්නෙ කොළඹ ඉස්කෝලෙකට නිසා, මගෙ අත සිනිඳු නිසා, ඒ ගැහැනු ළමයින්ගෙ හැම පෙම් සබඳතාවක් ගැනම මම දැනගෙන හිටපු නිසා, එයාලගෙ තනියට හිටපු ආරක්ෂකයා නිසා, ඔන්න ඔය විගෙ බරපතල තීන්දු රාශියක් නිසා, අවසානයේ මාව තෝරගත්තෙ ලේ නෑයන්ගෙ පිලට. ඇයි මම රහස් රකින්නෙක් නිසා...!!

කොහොම හරි, එදා තීරණය කෙරුණා, කාසියක් උඩ දාල, හමුදාව කවුද කොටි කවුද තීරණය කරන්න. ඒකත් ලේසි තීරණයක් නෙවෙයි. තුනෙන් දෙකක කාසියේ වාසිය බැලීමක්. පොඩි කාලෙ මිනිස්සුන්ගෙ ඉරණම් එච්චරටම සෙල්ලක්කාරයි. ඔන්න හෙමීට කාසිය උඩ කැරකැවෙන්න පටන් ගත්තා.

එදා වලාකුළෙන් අහස බර වෙලා. ඔන්න, ආයෙත් කාසිය උඩ ගියා, තුන් වෙනි වතාවටත් උඩ ගියා, රූමතියන්ගෙ අවාසනාවට එයාල කොටි උනා. දෛවය ඒ තරමටම ක්‍රීඩාවක් නිසා, අවාසනාව ඔවුන්ව කොටින් කරපු නිසා, හමුදාවට හිමි උනා වලව්කාරයාගෙ වත්ත. කොටින්ට හිමි වුණා අපේ ගෙවල් පැත්ත. ඒත් හැම කාසියක්ම තියෙන්නෙ මිනිස්සුන්ගෙ පැත්තෙ නෙවෙයි. ඒක තියෙන්නෙ දෙපැත්තක.

දෙපැත්තෙ තිබුණ ආයුධවල විස්තර මෙහෙමයි. වතුරෙ දියකරලා හදාගත්ත රතු නිල් කුකුල් සායම් සොපින් බෑග් වලට පුරවාගැනීම. රතු කොටි, හමුදාව පැත්ත නිල්. මේ එක සායම් පුරවපු බෑග් එකක් වැදුණොත්, ඔහු මරණීය තුවාල ලැබුවෙක්. නැත්නම් සිරකරුවෙක්. ඒ වගෙම තිබුණා උණ බටවලින් හදාගත්ත තුවක්කු. එක එක ඇට වර්ගවලින් සාක්කු පුරෝගෙන ඉන්න. පොල් කෝම්බ තමයි කාලතුවක්කු උණ්ඩ. මෝටාර් තිබුණට ඒවට ඉලක්ක වෙන සතුරන් මැරෙන්නෙ අපෙ හිත්වලින්. ටී පනස් හය, රිවෝල්වර් තිබුණට ඒවට සිද්ධ වුණෙත් එකම ඉරණම. ඉතින් කෝමද නියම යුද්ධයක් කරන්නේ දෙපැත්තක්?

ඔන්න දෙපැත්තට බෙදිල යුද්ධය පටන් ගත්තා. ඒත් සෑහෙන වෙලාවක් යනතුරු තිබුණේ, නිශ්ශබ්දතාවක්. ඒ කියන්නේ අනිත් පැත්ත ගැන කිසිම තොරතුරක් නැතුව පැය ගාණක් ඔහෙ බලාගෙන සිටීමක්. ඇනුම් ඇරීමක්.

ඒ නිහඬ බවට හේතුව වුණේ දෙපැත්තටම යහපත ගැන අදහසක් තියෙන නිසා. ජයග්‍රහණය කියන්නෙ හැම විටම මුළාවක්. ඒ වගෙම යුද්ධයක් සිද්ධ වෙන්න යන නිසා ඒක දෙපැත්තටම අයහපතක්. ඒ කියන්නෙ යුද්ධෙකදී අභිමුඛ වෙන්නෙ දෙපැත්තක් නෙවෙයි හතර පැත්තක්.

මේ නිසා යුද්ධය වඩාත්ම විශිෂ්ට යහපත උදාකරන්නන් අතර සිද්ධ වෙන සදාචාරයක්. ඒ සදාචාරයෙ නම අවසානාවට 'යුද්ධය'. අයහපත මේ විශිෂ්ටත්වය උදාකරගැනීම පිණිස භාවිත කරන අවිය. දුෂ්ටත්වය ඒකට කියන තවත් නමක්. වඩා වැඩිම දූෂ්ටත්වය ඇති පැත්ත විශිෂ්ටතම යහපත සඳහා වෙන පළමු අඩිය තබා ඇත. ඉතින් ඒ නිසයි දෙවිවරුන් අතර පවා යුද්ධ ඇති වුණේ.

ඒත් යුද නායකයන් ඔය අතරේ අරගෙන තිබුණ මහා තීරණයක්.

"මේ, මැණිකෙ, වතුර ටිකක් අරන් එන්න. මේ බෝනලේට ළිඳෙන්..."

පණිවුඩය මට ලැබුණෙ අක්ක කෙනෙක්ගෙන්. එයාගෙ නම මිනිලා. ඒ කාලෙ එයා කියන ඕනෙම දෙයක් කරන්න මම ලෑස්ති වෙලා හිටියා. මොකද මම දැකල තියෙනව, එයා පෙම්වතුන් වෙනුවෙන් දුක් විඳින තරම. එයා ඒ වෙනුවෙන් ඇඬූ තරමක්. දවසක මටත් ඇඬුණා. මම හිතුවා, ලොකු වෙලා, මිනිලාව බඳිනව කියලා. විවාහ වෙලා එයාගෙ දුක නැති කරනව කියල. එදා ඉඳන් මම එයාට හොරෙන් එයාගෙ ස්වාමිපුරුෂයා වුණා. ඇත්තටම මම මිනිලාගෙ විතරක් නෙවෙයි තව අක්කල කිහිප දෙනෙකු සමග, ඒක පාර්ශවීය, නමුත් මටම විතරක් රහසක් වුණ පුංචි සැමියෙක් වෙලා හිටිය.

අක්ක කෙනෙක් එක්ක ආදරයෙන් බැඳෙන එක, ඒක වෙනම ලෝක දැක්මක්. වැදගත්ම දේ තිබුණේ මම එයා දිහා බලන එක ගැන නෙවෙයි. එයා මගෙ දිහා බලන එක. එයාගෙන් මාව පේන විදිය ගැන. ඒ ඇස්වල තියෙනව පුංචි කොල්ලෙක්ගෙ ආදරය නොවැටහෙන හොඳම විදිය. නොවැටහෙන හොඳම විදියට කියන්නෙ මග අරිනවා කියල. ඒ නිසා එයාට මාව පේන හැම විදියටම කිව්වෙ "ඔයා පුංචි මල්ලි කෙනෙක්." ඒ නිසා යම් තරමකට වහලෙක්. කඩේ යවන්න පුළුවන් හොඳම විදියට මාව සරසල ගත්තම අවසානයට මම දූරතලෙක්.

ඉතින් එයාට මාව පේන විදිය මට මැරෙන්න තරම් එකක්. මරණයට පුළුවන් උනා මාව පෙම්වතෙක් කරන්න. ඒත් මම එයාගෙ පරෙස්සම කාටවත් වඩා, අඩුම තරමේ එයාගෙ අම්ම තාත්තටත් වඩා හිතපු බව දන්නෙ මං විතරයි. දවසක් එයා අඬනවා. එයාගෙ පෙම්වතා එයාව රවට්ටලා. මහ ලොකු දේකිනුත් නෙවෙයි. නිකම්ම නිකම් පුංචි දේකින්. ඉතින් මම ගිහින් එයාගෙ ඇස්වලින් වැටෙන කඳුළක් අතට ගත්තා. ඒක දැකපු එයා මාව තුරුලු කරගත්තා. හරියටම පපුව මැද. මම දැන් නරක මිනිහෙක් නෙවෙයි. මම හොඳ මිනිහෙක් වෙන්න පටන් ගත්තෙ එදයින් පස්සෙ. ඒ උණුහුමයි පපුව දිගෙ රූරා වැටී ගෙන ආපු කඳුළුවලින් මාව තෙමුණයින් පස්සෙයි, පංච ශීලයත් පරද්දන සතුටක් මට ලැබුණා.

ඉතින් එයා කියූ සැණින් මම වතුර බෝතලයත් අරගෙන ළිඳ ළඟට දුවගෙන ගියා. ළිඳෙන් වතුර අදින්න පටන් ගත්ත. එතකොටම මාරාවේෂයෙන් අර සුරදූතියන් ඇතුළු කොටි සෙබළු ටික, මං දිහාවට කඩන් පැන්න.

උන් මාව උස්සගෙන ගියා. මම බේරෙන්න දැඟලුවට වැඩක් උනෙ නෑ. එයින් එක සුරදූතියක්, සමාවෙන්න ඇස් පුංචි කුමාරියක්, සමාවෙන්න, අර රූමතියන් තුන්දෙනාගෙන් එක රූමතියක් මගෙ කලිසමට යටින් අත දාලා, මගෙ පුංචි ශිශ්නය මිරිකුව. එතකොටයි මට තේරුණෙ, ළිඳ මැදි වෙලා තිබුණෙ, යුද මුක්ත කලාපයේ මැදට වෙන්න කියලා. වතුර තිබහ හැදෙනකම් ළිඳ ළඟට යන්න බැහැ. ඒත් යුද්ධය නිසා කවුරුත් ඒ කලාපයට ආවේ නෑ. තිබහ ඉවසගෙන ඉන්න උනා. ඒත් සිංහල හමුදාව, මගෙ අවංක කමින් ප්‍රයෝජන ගත්ත. උන් මාව බිල්ලක් කරා, යුද්ධ කරගන්න යුද්ධයට හේතුවක් හදාගන්න, මාව බිල්ලට දුන්නා, මිනිලා ඔයා ද මේ මට මෙහෙම කරේ...?



උන් මාව ගෙනිහින් දැම්මා, බංකරයකට. ඒක වළක්. නිකං නෙවෙයි පොල් වළක්. ඒ වළට උඩින්, වියපු පොල් අතු වහගෙන, කොටි ටික ඇතුළට වෙලා හිටියා. එහෙම කරාම සෑහෙන තරමටකට බංකරය, කළුවරයි. කළුවර අහස නිසා තවත් කළුවරයි. කළුවර වර්ග දෙකයි. ඒ දෙක එකට තියෙන එකට කියන්නෙ ත්‍රස්තවාදයයි. හමුදාවයි කොටියි කියන්නේ ඒ වර්ග දෙකකට. කිහිප දෙනෙක් මාත් එක්ක බංකරේ නතර උනා. ඒ අතරේ හිටියා රූමතියන් තුන්දෙනාත්. සෙස්සො ඔක්කොම හිටියෙ ඒ රූමතියන්ගෙ අණින් සේවා මුරයේ. කොටින්ගේ සැලසුම උනෙ, වලව්ව වටලන්න. ඒකට සෑහෙන දුරකට විහිදෙන්න අවශ්‍යය නිසා මුළු වත්තත්, මහ පාරත්, හංදියත් පුරාවට, යුද කලාපය විහිදිලා තිබුණා. සුර දූතියන් තුන් දෙනා එක්ක, බංකරේ

ආරක්ෂාවට හිටියෙ තවත්, තුන් හතර දෙනෙක් විතරයි. ක්ෂණික පහර දීමකට කඩා වැදී, පුළුවන් තරම් උපරිම අලාභ හානියක් කර පැන යාමයි ඔවුන්ගෙ අරමුණ වුණෙ.

ඒත් වළ ඇතුළෙදි සිද්ධ වුණෙ වෙන දෙයක්. ඒ පුංචි ඇස් හය, එයින් එකක් මං හිතන්නෙ ටිකක් වපරයි, මගෙ දිහාවට එබුණා. ආයෙත් වතාවක් එක අතක් ඇවිත් අරෙක මිරිකන්න ගන්න. හනේ එදා මම වැඩිහිටියෙක් උනා. ඒක දැකල රූමතියො තුන් දෙනාට හිනා ගියා. අඳුර වියැකී ගියා. ලෝකය ආලෝකයෙන් පිරී ගියා. ලෝකය කිව්වෙ අර වළ..!!

ඉතින් දැන් යුද්ධයට නිමිත්තක් කාට කාටත් තියෙනව. ඒ තමයි මම. අපේ රජවරු මේ පුංචි අස්ථි කැබැල්ලකට යුද්ධ කරා වගේ. මේ කිසිම තේරුමක් නැති දෙයක් වෙනුවෙන්. ෆුට් බෝලයක් කියන්නෙ කිසිම තේරුමක් තියෙන දෙයක් නෙවෙයි. ඒවගෙ තේරුමක් නැති දෙයක් නිසයි ඒකට බෝලයක් කියන්නෙ. ඉතින් මමත් බෝලයක්. හැම විශිෂ්ටත්වයක් පිටිපස්සෙම තියෙන්නෙ අන්න ඒවගෙ බෝලයක්. එක්කො අස්ථි කැබැල්ලක්. ලෝකයෙ වැඩක් නැති දේවල් හරිම අඩුයි. එහෙම දේවල් හොයා ගන්නත් අමාරුයි. නිර්මාණය කරන්නත් අමාරුයි. ඉතින් ඒ වගෙ කිසිම වැඩකට නැති දෙයක් මතයි මිනිස්සු ජීවත් වෙන්නෙ. ඒත් ආයෙත් එහෙම දෙයක් හමුවෙන එක හරිම අමාරු වැඩක්. නිවන කියන්නෙ අන්න ඒ තරම් දෙයක්.

නිවනෙන් කාටද වැඩක් තියෙන්නෙ. ඒක අත්පත් කරගත් කෙනාටත් වැඩක් නැති කොට.

ඉතින් එක පාරටම හමුදාවෙ සේනාව කඩාගෙන වැදුණා අපි ඉන්න දිහාවට. උන් සටන් කරගෙන ඉස්සරහට එනවා. ආයෙ පස්සට එනවා. නිල් රතු පාට හැම තැනම විසිරිලා. එකා පස්සෙ එකා සායම් බෑග් අරගෙන දුවනවා. ඒ අතරේ දැක්කා හමුදාව කාටවත් නොදැනි දූවරුන් තුන් දෙනාව වට කරගන්නවා. බංකරේ හිටපු මට ඉවසුම් නැතුව ගියා. ඉතින් මම ක්‍රියාත්මක වුණා, ඒ මට පුළුවන් උපරිම විදියෙන්. බංකරේ තිබුණ සායම් පුරවපු බෑග් පුළුවන් තරමක් ඇගේ එල්ල ගෙන මම ඒ දිහාවට කෑ ගහගෙන දුවගෙන ගියා. මම ඒ තරම් හයියෙන් කෑ ගහල නෑ.

කෑ ගහමින් පුළුවන් තරම් වේගෙන් හමුදාවට වෙඩි තියන්න ගත්තා. රතු පාට සායම් බෑග්වලින් මම එවුන්ට පහර දුන්නා. උන්ට හිතාගන්නවත් වෙලාවක් තිබුණෙ නෑ. විශේෂයෙන්ම මිනිලාට. මම මිනිලට ගහද්දි මගෙ කෑගැහිල්ල තවත් වැඩි වුණා. මගෙ පහරවල්වලට වඩා මගේ කෑගැහිල්ලට එවුන් බය වුණා. උන් ආවේ මාව අරන් යන්න. මම උන්ට අයිති වස්තුවක් බව පෙන්නන්න. ඒත් දවසක ඒ වස්තුව කතා කරන්න ගත්තොත් මොකක් වෙයිද? රජකම අයිති කරගන්න දෙපැත්තකට බෙදිලා මරාගන්න අයට, දවසක දන්ත දාතුව කිව්වොත් මට

තමුසෙලගෙන් වැඩක් නෑ. පාඩුවේ මට ඉන්න තැනක ඉන්න දෙනව ඕයි කියලා. මම හිටියෙ අන්න ඒ වගෙම වේදනාවකින්. ඒ වේදනාවෙන් කෑ ගහපු විදියට උන් පස්සෙන් පස්සට ගිහින් කකුල් පැටලිල බිම වැටුණා. මේක දැකපු කොටි තිහිප දෙනෙක් කෑ ගහගෙන මගෙ උදව්වට පැන්නා. හදිස්සියේ ලැබුණ යුධ බලයෙන් හමුදා උන් ඔක්කොම අත් අඩංගුවට ගත්ත. උන්ගේ ශුද්ධ වූ වස්තුව වන මම කොටියෙක් උනා.

ඉතින් එදා ඉඳන් මම සැහෙන කාලයක් යනකන් අර පොල් වළට ආවා ගියා. ඒත් මට කවුරුවත් හමුවුණේ නම් නැහැ. යුද්දෙකදි මැරෙන අය අමරණීය වෙනවා හැර වෙන දෙයක් වෙන්නෙ නැහැ. යුද්ධ කරන දෙපැත්තෙම ඉන්න අයට ඒක එහෙම්මයි. මොකද යුද්දයක සෙබළු ඉන්නෙ ඒ දිව්‍යමය පොරොන්දුව තමන්ගෙ ස්වර්ණමය නිතිය කරගෙන. ඒක තේරෙන්නෙ සෙබලෙක්ට විතරයි. ඇත්තෙන්ම ඒ නිසයි ගැහැනියකගෙ හිත සෙබලෙක් වෙත නිරායාසයෙන්ම ඇදී යන්නෙ. අමරණීයත්වය ළඟා කරගන්න පුළුවන් සෙබලෙකු වගෙ හිතන, ඒ කියන්නේ ප්‍රවේශම්කාරී නොවන දේ කරන, උපහාසයයි සැර පරුෂ බවයි පුහුණු කරපු කෙනෙක්ට විතරයි. ඒත් හැම යුද්දෙකම ඉන්නව බය ගුල්ලො කියල පිරිසක්. එවුන්ට කියන්නෙ යුද්ධයට බිය වී පලා යන පිරිස කියලා. වීරත්වයට එරෙහිව බිය ආයුධයක් කරපු, මානවවාදයේ පළමු නැගී සිටීම

පටන් ගන්නෙ ඒ පලා ගිය පිරිසගෙන්. උන් පුළුවන් තරම් දුරට පරිකල්පනය කරලා හදා ගත්තා මෙන්න මෙහෙම දෙයක්. සෑම යුද්ධයක්ම භූමියත්, දේපළත් පවුලත් තුළින් හට ගනියි. එ නිසා විරයා කියන්නෙ නෂ්ටකාමියෙක්. වංශවතුන්ට අයත් භූමියත්, දේපළත් පවුලත් නිසා යුද්ධ ඇති වෙයි. ඒ වෙනුවෙන් සටන් කර මිනිසුන් මිය යයි. ඒ මිය යන අය අතරින් ටික දෙනෙක් වීරයන් වෙයි. අවසානයෙ එ වීරයන්ද වංශවතුන් බවට පත් වෙයි. නෂ්ටකාමීත්වයෙ තරම එයයි. සියලු සතුරන් විනසා දැමුවද එයින් මිනිසුන් මියයයි. බිය වූවන් පලා යයි. බියෙහි අගය මානවවාදී දාර්ශනික මිනිසායි.

ඉතිං ඒ බියටපත් දාර්ශනිකයන් එක්ව මෙලොවට විරයන් බිහි වීම නතර කරා. හැබැයි ඒ පැරණි වීරයන් අමරණීයයි. අමරණීයත්වය කියන්නෙ අර පැරණි අලංකාරිකයන්ගෙ කොටසක් පමණයි. ඒ විදියට අමරණීයත්වය දාර්ශනිකවත් පරාජය වුණා. යල් පැන ගිය එකක් උනා.

ඒත් එදා කොට් ටික මාව කරේ තියන් යුද ජයග්‍රහණය සැමරුවා. උන් මාව කරේ තියන් වත්ත වටේ ඇවිද්ද. තව ටිකක් දුර ගියා නම් ඒ දෙමල්ලු එක්ක මම මහ පාරේ. මම යුද විරයෙක් විදියට ජනප්‍රිය උනා. මේක දැකපු අපේ අම්මා කනෙන් ඇදගෙන මාව ගෙදර අරගෙන ගියා. අච්චර යුද්ධයක් කරලා ගෙදර ඇවිත් ඒ වෙනතුරු ජීවත් වෙච්ච

හැම වීරයෙක්ටම සිද්ධ වෙන නරකම දුෂ්ටම ලැජ්ජාවෙන් පිරිච්ච කඳුළු පනින වැඩේ ඒක. අම්මගෙ ඇසුත් පුංචියි. එදා අම්මගෙ ඇස් කඳුළින් තෙත් වෙලා තිබුණා.

එදා ඉඳන් තමයි මම ගැහැනු ඉදිරියේ ලැජ්ජා වෙන්න පටන් ගත්තෙ. පුංචි ඇස් තියෙන කෙල්ලන් දකිද්දි, මම අහක බලාගත්තෙ. ඒ බයකින් නෙවෙයි, අම්ම දිහා බලනව වගේ ගෞරවයකින්. ලැජ්ජාව, ගෞරවයේ ආරම්භය යි. කොයි වෙලාවෙ ගැහැනියක් ඇවිත් මගෙ කනින් ඇදන් යාවිද?

ඉතිං, පුංචි ඇස් තියෙන මිනිහෙක් ඔත්තුකරුවෙක් වෙන්නෙ, පුංචි ඇස් නිසාම නෙවෙයි. ඒ ඇස්වලින් වටපිට බලද්දි, ඒ මිනිහා කොහේ බලනවද, මොකක් කරනවද කියල හොයාගන්න බැරි නිසා. ලොකු ඇස් තියෙන මිනිහෙක් ඔත්තුකරුවෙක් වෙන්න හිතනව නම්, මුලින්ම කරන්න ඕනෙ, ඒ මිනිහාගෙ ඇස් අන්ධ කරන එක.

කාලෙකට කලින් දවසක් මහ රෑ, එතකොට මට අවුරුදු විසි තුනයි. මම ඒ කාලේ හිටියේ විප්ලවේ කරන්න ගිහින්. කොමියුනිස්ට් පාරාදීසියේ පක්ෂ එක්ක එකතුවෙලා. මගෙ ආවේගයට ඔවුන් කැමති උනා. ඒ කිසිම වග විභාග යකින් තොරවමයි. මේ ඔක්කොටම හේතුව අර මිනිලා.

දවසක් පිකටින් එකක් ඉවර වෙලා රෑක මම පාරේ ඇවිදගෙන එද්දි පොද වැස්සෙ මිනිහෙක් මට අත වනනවා. මම ගියා ඒ දිහාවට. මිනිහ හිටියෙ කුඩයකුත්

ඉහලාගෙන. මම ළං වුණ සැණින් මාව කුඩේ ඇතුළට දාගත්ත. හරියට වැස්ස එනකං මිනිහ බලන් හිටිය වගෙ. නැත්තම් ඒක මිනිහ ඇති කරපු වැස්සක්. වැහිවල හැටි ඔහොම තමයි. එක එකා නිසා වහිනවා. බලද්දි වැහැල තියෙන්නෙ ඔන්න වගේ මිනිහෙක්ගෙ උවමනාවකට.

"සද්ද නැතුව, උත්තර දෙන් නැතුව ඉන්න එපා. ඒක බයානකයි. අහන ප්‍රස්නවලට බොරුවක් හරි, කියන්න. ඇත්ත බොරු හොයන එක නෙවෙයි මිනිස්සු කරන්නෙ. ඔයා කොච්චර ස්මාර්ට්ද හොයන එකයි. ඔයා ගොඩක් දක්ෂයි නම්, මෙන්න මෙතනට අත තියන්න.'' මිනිහා ඇවිදින ගමන්, මිනිහගෙ කලිසමෙ බෙල්ට් එක බුරුල් කරගෙන මගෙ අත ඇතුළට දැම්ම. අඩෝ! අහුවුණෙ, මම හිතපු එක නෙවෙයි. ඒක වෙන එකක්.



"ඇදල ගන්න ඒක එළියට.'' මිනිහා මගෙන් ඉල්ලීමක් කරා.



මිනිහෙක්ගෙ හදවත සිදුරු කරන්න, පිළිවෙළට සකස් කරපු යකඩ ගොඩක්, හරියටම මරණයෙ පිළිවෙළට, මං දන් නෑ, එච්චර උවමනාවක් ලෝකයට කොහෙන්ද, තවත් මිනිහෙක් මරන්න, අර කිසිම තේරුමක් නැති යකඩ ගොඩකට, කවුරු හරි අර්ථයක් දෙන්න...!! මේවයෙ තියෙන්නෙ උණ්ඩ, රතු පාට සායම් නෙවෙයි. ඒත් ඒ උණ්ඩ ඇතුළෙ තියෙනව රතු පාට සායම් පුරවලා. අපේ ඇඟ පසාරු කරගෙන ගියාමයි රතු පාට පිපෙන්නේ.

ජීවිතයේ පළවෙනි පාරට, මම හිතන්නෙ, අපායට යන්න තියෙන, ලොකුම දොරක්, ඇරුණා බුදු හාමුදුරුවනේ, මාව බලාගන්න. අපි දෙන්නම මැරෙයි.

ඉතින් මරණය එච්චරක් සරලයි. මම තුවක්කුව අතට ගත්තා. ඒක හරිම උණුසුම්. මට මතක් උනා අම්මගෙ උණුහුමක්. ඔව් ඒ දෙකම එකක්.

"ඔන්න, ඕක ලෝඩ් කරන්න" කියන ගමන් මිනිහා කලිසමට ආගෙය බෙල්ට් එක තද කරගත්ත.

"මම කොහොමද ඒක කරන්නෙ" ඇත්තටම මම දැනගෙන හිටියෙ නෑ, ඒක කරන්නෙ කොහොමද කියලා. ඒත් තුවක්කුවක් අතේ තියෙද්දි මම වඳුරෙක් තරම් මෝඩයෙක් නම් නෙවෙයි. මිනිහෙක් උනාම තුවක්කුවක් ලෝඩ් කරන්න ඉගෙන ගන්න ඕනෙ. ඒකයි තුවක්කුව අපිට නිතරම කියන්නේ.



මිනිහ ඒක කරන හැටි ඇඟිලිවලින් අනුකරණය කරල පෙන්නුවා. මං දිහාවට ඇඟිල්ල දික් කරලා වෙඩි තිබ්බා. ඒකෙන් පිටවෙන දුම්වලට පිම්බා. ඒකා බුලත් විටක් හපන මිනිහෙක්, තැඹිලි පාට ෂර්ට් එකක්... වයස අවුරුදු හතලිහක් විතර. තුවක්කුවක් කලිසම පස්සෙ ගහගෙන ඉඳියි, කියල හිතාගන්න බැරි තරමට, ඇත්තටම ඒක ලෝකෙ පළවෙනි වතාව. මං දන්නෙ නෑ, මිනිහා මොන මඟුලක් මාත් එක්ක නටන්න යනවද කියලා. දාල දුවන්නද? දිව්වොත්, මිනිහට පුළුවන් මට වෙඩි තියන්න. මිනිහා පුංචි වුණාට, අත්ල සෑහෙන විශාලයි. ඒ විශාල දෑත්වලට තුවක්කුවක් හසුරවන එක, මහ දෙයක් නෙවෙයි. ඒ අත්වලින් මිනිහ ස්වයංවින්දනයෙ යෙදෙන හැටි... ඔව්, මට දැන් හැම දෙයක්ම තේරෙනවා.

"මට මේක කරන්න බෑ" මට කියවුණා. ලැජ්ජාවෙන් මාව පිරිලා ගියා. නෑ, කියල කියන එකයි, බෑ, කියල කියන එකයි දෙකක්. මට දැනුණෙ මං ඇතුළෙන් ගෑනියෙක් කතා කරනව කියලයි. මට මං ගැන එහෙම දැනුණ, මගෙ ජීවිතයෙ එකම එක තැනක් තියෙනවා.

මම එදා නැගල හිටියෙ සෙනඟ පිරුණ බස් එකක. සැහෙන සෙනඟ අස්සෙ, හිර වෙවී, යන එක තරම්, ඇත්තටම ඒක ලෝකයෙ අවසාන බස් එක. මොන හෝ වෙහෙසක් දරලා, ගෙවල්වලට යන්න, හිත හදාගන්න ගැහැනු පිරිමි. ඇත්තටම ඒක හිත හදාගැනීමකට වඩා, හැමකෙනාම, තිහඬව ඇති කරගන්න එකඟතාවක්. ඒත් මේ බස්වල යනව, කාමාතුරයින්. කිසිම කෙනෙකුට කාමාතුරයෙක් නොවී මේ බස්වල යන්න බැහැ.



කිසිම සදාචාර සම්පන්න මිනිහෙකුට මේ බස්වලින් එක අඩියක් ඉස්සරහට යන්න බැහැ. විප්ලවකාමීන් පවා, තමන්ගෙ අරගලය නැවැත්විය යුතු වෙලාවක් ඒක. ගෑනුන්ගෙ ගැහැනුකම්, ගණිකා වෘත්තියට මාරු කරන්න ඕනෙ වෙලාවක් ඒක. මුළු දවසම වැඩ කරල, වෙච්ච මහන්සිය, අනාගතය සරි කරගන්න දරපු වෙහෙස, එහෙම්පිටින්ම උතුර දකුණ මාරු කරල දාන, සරාගික, අවස්ථාවක් ඒක. කිසිම මානවවාදයකට, සමාවෙන්න, මානවවාදය මුළුමනින්ම සරාගික කාමාතුර එකක් කරවන්න, මිනිස් සංහතියට ලැබෙන, එකම, රත්තරන් අවස්ථාව ඒක.

ඇත්තටම ලෝකය විනාශය වෙන්නෙ, මේ බස් එක, මිස් වුණොත් විතරයි.

මමත්, මේ ඔක්කොම, ඔය විදියට හිතමින්, ඉතිහාසයෙ පෙර නොවූ විරූ අයුරින්, බස් මගියෙක් නොකරපු තරමට, හිත හදාගනිමින්, රාත්‍රිය එනකං, විදුලි කම්බියක, එල්ලෙන, නාගරික, සෝබන, සංකර, වව්ලෙක් වගෙ එල්ල්ල්ලිලාආආආ හිටියා.

බස් එක ඉස්සරහට යනව. ඒ වෙලාවෙ වැස්ස. බස් එක ඇතුළ සැහෙන රස්නෙයි. ඇතුළේ රස්නය නැති වෙන්න, බස් එක වේගය වැඩි කරන්න ඕනෙ. ඒත් ඩ්‍රයිවර්... මිනිහාගෙ ඇස් පුංචියි. සමහර විට ඒවා, කොකෙක්ගෙ වගෙ. වෙල්වල මාළු ගිලින්න බලාගෙන ඉන්න කොක්කු, කාක්කො වගෙ නෙවෙයි. එවුන් හරිම නිශ්ශබ්දයි. මම නවම අහල නෑ, කොකෙක් කෑ ගහනවා. උන් ඒ තරමට නිශ්ශබ්දව, ගොදුරක් වෙන්න අවශ්‍යය ඉඩ අපට හදල දෙනව. කොටින්ම නිදහස. නිදහස කියන්නෙ ගොදුරක් වෙන්න අවශ්‍යය හොඳම පරිසරය.

මේ ඔක්කොම අස්සෙ, මම පුළුවන් හැම පුරුෂ දහිරියම යොදල, බස් එකේ එල්ලිලා හිටියා. හරියට තුවක්කුව ලෝඩ් කරා වගෙ. ඒත් මට දැනුණා මං ගැනම හරිම නුපුරුදු බවක්. ඒක හරිම අප්සෙට්. මට කිසිම මිහිරි හැඟීමක් තිබුණෙ නෑ. මම තවමත් ඒ හැඟීම හරියටම මොකද්ද කියල හිතන්න උනා. මොකද්ද මට මේ සිද්ධ වේගෙන එන්නෙ. අනෙ, මට දැනුණා ඒක...

මම ගැහැනියක් වී ගෙන එනවා. නිකම්ම නෙවෙයි, ඒක වෙන්න පටන් ගත්තෙ, පිටිපස්සෙ ඉඳන්, කොට නාකි මිනිහෙක්, මගෙ පස්ස පැත්තට, මිනිහගෙ එක හේත්තු කරගෙන ඉන්නවා. මට දැනුණා ඒකෙ විශාලත්වය. මට තේරෙන්න ගත්තා, ගැහැනියක් වීමේ අරුමය. බැරිම තැන, මම ඒ මිනිහා දිහාවට හැරුණා.

"මොකද මේ ඔයාට වෙලා තියෙන්නෙ?" හෑ..ත්. මගෙ කට හඬත් ටිකක් වෙනස් වෙලා. ඒකෙ තිබුණා උච්ච ස්වරයක්. ලයාන්විත බවක්. මාරාවේෂයක් නෙවෙයි. හරිම හීනි කටහඬක්. කොටින්ම ගැහැනු කට හඬක්. මිනිහත් බය වෙච්ච පාරට, ගියා කඩාගෙන බස් එකේ පිටිපස්සටම. මම හැරිලා බැලුවා දෙවතාවක් විතර. මට වෙච්ච දෙය බස් එකේ මිනිස්සු දැක්කද? මම කඩාගෙන බිඳගෙන ගිහින් බස් එකෙන් බැස්සා. එතැන ඉඳන් කිලෝ මීටර් 10ක්... මම ගෙදර ගියෙ පයින්මයි. ආවේ මේ පාරෙන්මයි...

ලැජ්ජාව, මට ස්ත්‍රීත්වය අරන් දුන්න විගේම, ගෞරවය මට නිහතමානී පිරිමිකමක් ගෙනත් දුන්න. ඉතින් එදා අර මිනිහගෙ අතේ තිබ්බ කුඩක්කුව අතට දීලා කිව්වා, මේ නෙළුම් වෙලෙන් ඈත පේන ගෙවල් ගොඩ දිහාවට වෙඩි තියන්ඩ කියලා. මම ලොකු හුස්මක් ගත්ත. මම හිතන්නෙ මිනිහට ඒ හුස්ම හඬ ඇහුණා. ඇත්තටම මිනිස්සු මෙච්චර කාලෙකට හුස්ම ගත්තෙ කිසිම තේරුමක් නැතුව. ඒත් පරණ කාලෙදි නම් සිහියෙන් හුස්ම ගන්නව කියන්නෙ තිවන් දකින්න පාරක්.

අන්න එතනදියි, ඒ කියන්නෙ මම උඩට ගත්ත හුස්මෙනුයි, මිනිහා පටන් ගත්තෙ තමන් කවුද කියල කියන්න.

"මම මිනීමරුවෙක්. මේ රටේ අවසර ලත් මිනීමරුවෙක්. මම තමුසෙගෙ පස්සෙන් එන්නෙ මේ දවස් දෙක තුනක ඉඳන්. තමුසෙ දඟලනව වැඩි බවක් අපේ අයට දැනිලා තියෙනවා. විප්ලවය කරන්ඩ හදනව නේද? ඒත් තමුසෙල වගෙ එවුන්ව නිශ්ශබ්ද කරන්න ඒ කාලෙ වගෙ පැහැර ගන්ඩ ඕනෙ නැහැ. මොකද තමුසෙලව අතුරුදහන් වුණාම, මරල දැම්මම ආයෙ අපිටමයි කරදර."

"නීතිය සැමට පොදුයි වගෙම දේශපාලකයා එය පනවමින්, උත්තරීතර වෙමින්, නීතියෙන් ගැලවෙයි. එහි ප්‍රතිඵලයක් ලෙස අවසානයේ ඔහු සාමාන්‍යය වැසියෙකුගෙ අතින් මැරුම් කයි."

මිනිහා ඒ ටික කියාගෙන ගියේ කට පාඩමින්... මොකද්ද ඒ පොත. කවුරු ලියපු එකක්ද? මිනිහා මට ආයෙ අණ කරන්ඩ පටන් ගත්ත.

"ඒ නිසා අර පැත්තට වෙඩි තියපං. ඔය උණ්ඩ ඔක්කොම දැන් තමුසෙගෙ. මේ ජේන තෙළුම් යායට උඩින් ඒ හැම උණ්ඩයක්ම පියාසර කරවන්ඩ උඹට අයිතිය තියෙනව. ඒක ගිහින් නතර වෙන්ඩ ඕනෙ නෙළුමක් ළඟ නෙවෙයි. මෙලෝ වැඩකට නැති, දහසක් බුදුවරුන් ඉපදෙන්න අයේ මලාට නොහිතන, පස් මහ බැලුම්වලින් දශමයක්වත් නොගැවුණු සතෙක්ගෙ පපුවකට. උඹ දන්නෙ නෑ තාම මේ රටේ ඉන්න සත්තු ගැන"



"තමුසෙ මිනිමරන්ඩ නෙමෙයි බය. වෙඩි සද්දෙටයි බය. ඕකෙන් මහ ලොකු සද්දයක් එන්නෙ නෑ. අකුණු ගහන වෙලාවක් බලලා තියෙන එකයි ඇත්තෙ. තමන් අකමැති සද්දයක් ඇහෙනකොට කරන්න තියෙන්නෙ, ඒ සද්දෙට වඩා හයියෙන් කෑ ගහන එක. එක වෙලාවකදි තමන්ගෙ සද්දෙයි අර සද්දෙයි සමාන වෙනවා. මිනිහෙක් ඇතුළේ අභ්‍යන්තරික සාමය බිහිවෙන්නෙ එතකොට. නැතුව මේ කට පියාගෙන කොට්ටෙට උඩ රැට රැට භාවනා කරන එකෙන් නෙමෙයි. ඕක ලෝඩ් කරගන්නව."

"හැම උණ්ඩයකටම වටිනාකමක් තියෙනවා. එක වටිනාකමක් තමයි මරණය ගෙන ඒම. අනිත් වටිනාකම තමයි පුස් වෙඩිල්ල. දෙකම එක වගෙ. ඒත් අවසානයන් දෙකක්. වටිනා ජීවිතයක් උණ්ඩයකින් බිලිගන්නකොට,

පුස් වෙඩිල්ලකින් කොහෙද ඉන්න නිකමෙක්ව බය ගන්වනවා. ඒ පුස්වෙඩිල්ල ගැන දන්නෙ අපි විතරයි. අර නිකමා මේ දැන් මැරෙයි මැරෙයි කියල බයෙන් වෙව්ලනවා. උගෙ මරණය අගිස්සටම ගෙනත් උණ්ඩය පුපුරවනවා. පුස් වෙඩිලි පත්තු කරන්නෙ නාට්ටිවල කියලා. ඒත් නාට්ටියයි සැබෑ ලෝකයයි අයිති එකම නාට්ටියකට. ඒ නාට්ටියෙ නම තමයි 'මරණය'.''

''අපූරුම වැඩේ කියන්නෙ ගොඩක් උණ්ඩ තියෙන්නෙ යුක්තිය පැත්තේ. ඒත් මේ රට තාම යුක්තිය වෙනුවෙන් සූදානම් නැහැ. ඒකට තව ගොඩක් දුර යන්න ඕනෙ. යුක්තිය ඉටු වෙලා තියෙනව නම් කොතනක හරි, ඒක යුක්තියක් නෙවෙයි, යුක්තිය රඟදැක්වීමක්. ඒක ලෝකෙ කොහෙ වුණත් එකයි. මොන මඟුලටද එක මිනිහෙක්ව විතරක් මිනීමරුවෙක් විදියට හිරේට යවන්නෙ. ඇයි ඒකට හේතුවෙච්ච කාරණා හිරේ දාන්ඩ බැරි. අන්න ඒ වගෙ බැරිකමක් තමයි යුක්තිය කියන්නේ. එක මිනිහෙක්ව වරදෙහි බැන්දවීම... ඒකට කියන්නෙ යුක්තිය කියල නෙවෙයි බැරිකමයි මෝඩකමයි කියලා. ඒකයි මම කියන්නෙ මේ උණ්ඩවලින් මොකා මැරුණත් කමක් නෑ. නමුසෙ වෙඩි තියල දානවා.''

''අනිත් එක මිනීමැරුමක් කියන්නෙ සෑහෙන මානුෂික වැඩක්. ඒත් සිංහයෙක් තමන්ගෙ බඩගින්නට මුවෙක්ව මරන කොට, උෟ ඒක කරන්නෙ උට ඒ හැර

තව විසඳුමක් නැති නිසයි. ඒත් කවදාවත් මිනීමරුවෙක් මස් කන්න මිනීමරන්නෙ නැහැ. එහෙම කළොත් ඌ මිනීමරුවෙක් නොවී වනචාරියෙක් වෙනවා. ම්ලේච්ඡයෙක් වෙනවා. ඒ නිසා මිනීමරුවෙක් කියන්නෙ මනුෂ්‍යත්වයෙ නාමයෙන්ම මිනීමරුවෙක්. ඒත් සාමාන්‍යය මිනිස්සු ඒ ගැන දන්නෙ නැති නිසා මිනීමරුවන් එක්ක ආශ්‍රයට යන්නෙ නෑ. එවුන්ව වෙනම සිරගත කරල දානවා. මිනිසත් බවට එකම විසඳුම සිරගත කර දැමීම නම් වූ මනුස්සකමයි. තේරුණාද?"

"ඒ නිසා තමුසෙගෙ අතින් එකෙක් මැරුණට මුකුත් වෙන්නෙ නෑ. පව් පිරෙන්නෙ නෑ. පවු පින් තියෙන්නෙ තමන්ගෙ හෘද සාක්ෂියට ඕනෑවට. මිනීමරුවෙක් වෙනව නම් ඒක ගුණයයි තියෙන්න ඕනෙ. ඒ තමයි පුළුවන් තරම් තනිකඩ වෙන්න ඕනෙ. තනිකඩ නොවුණොත් හැදෙනව් හෘද සාක්ෂි."

ඒත් මට මිනිහෙක්ට හානි කරන්නට බැහැ. මගෙ හෘද සාක්ෂිය ලොකුයි ඊට  වඩා .

"පුළුවන් තරම් ගෑනුන්ගෙන් ඈත් වෙලා ඉන්න ඕනෙ. මොකද උන් දක්ෂයි හෘද සාක්ෂි හදන්න. ගෑනු උපන්නෙ ඔය මඟුලෙ බ්‍රහ්මයගෙන් නෙවෙයි. හෘද සාක්ෂියෙන්. උන් ඒක බුදිමින් හැදෙන වර්ගයක්. පරපෝෂිතයන් කොටසක්. උන්  එකතුවෙල මළගෙවල් තියල අඬල දොඩල උත්සවත් තියාවි. ඉතින් තමුසෙ ඉන්නෙ මාත් එක්ක. මම තමුසෙට උදව් කරන්නම් වෙඩි තියෙන හැටි ඉගෙන ගන්න."

"අනිත් එක තමයි, මේ රටේ නිවන් දකින්න තරම් කෙලෙස් තියෙන මිනිහෙක් නෑ. ඔක්කොම ඉන්නෙ ලෙඩ්ඩු. ජනතාව කියන වර්ගය අන්න බුද්ධ ධර්මයෙන් නිවන් යන්න බැහැ. හැබැයි හීලෑ කරන්ඩ පුළුවන්. හීලෑ කරන්න පාවිච්චි කරන එකකට බුදු දහම කියන්ඩ බැහැ. නියම බුදු දහමෙන් කවුරුවත් හීලෑ කරන්ඩ බැහැ."

මම මොකක් කරන්නද කියල හිතා ගන්ඩ බැරුව, කඩාගෙන වැටුණා. එතනම බිම ඉන්දෙන්න ගියා. එතකොටම මිනිහා මගෙ කොන්ද වත්තම් කරගෙන, මගෙ අතේ පණ නැතුව හිටපු තුවක්කුව ලෝඩ් කරා මගෙ අතේ තියාගෙනම. ඉලක්ක කරා ඈතට.



"ගනින් එල්ලය මගෙ පුතේ... එතකොටයි මිනිහෙක්ගෙ මුවගට මද සිනහවක් ඕනෙ... හැම මද සිනහවකම අර්ථය, ඌ උඹට දැනටමත් වෙඩි තබා ඇත කියන එක. උඹට දැනෙන්න ඕනෙ මොකද්ද උඹල කරන විප්ලවය කියන එක."

මිනිහා මගෙ ළඟින්ම හිටගෙන හුස්ම ගන්නවා. දෙයියනේ ඒ සුවඳ සෑහෙන වෘත්තීමය එකක්. ඒ වගෙම මිනීමරුවෙක්. උගෙ සුවඳ මට දැනෙනවා. බුලත් විට සුවඳ. පපුවක් ගැහෙන හඬ නම් ඇත්තෙම නෑ. හීතල අත්. මහ විශාල අත්.

"මේ රටේ මෙච්චර මිනී මැරෙනවා. යුක්තිය තියා කරුමය පලදෙන්නෙත් සෑහෙන පරක්කු වෙලා.

තේරෙන්නෙ නැද්ද මිනිහෝ මේ රටට බුදුන් මදියි කියලා. උඹ හිතන තරම් මේ රට මානුෂික නෑ. ඒක බොරුවක්. මිනිහෙක්ව මරලා පාඩුවෙ ජීවත් වෙන්න පුළුවන් එකම රට මේක. ඉතින් ඒකට මෝඩකමයි ඔය බම්බුවේ මානවවාදයයි දෙකම අත අරින්න ඕනෙ."

එතකොටම මේ මිනිහා මගෙ අතේ තියෙද්දිම කොකා ගැස්සුවා. අකුණකුත් ගැහුවා... මම දැක්කා පොඩි වෙලාවක් උණ්ඩය පියා සලනවා. ඇස් වැහුණා.





මිනිහාගෙ ඇස්වල මහ අමන විකාරරූපිත්වයක් තිබුණා. ඒත් එක්කම මහා විකෘති හිනාවක් දැම්මා. මට බිම ඉන්දුනා, වමනේ යන්න ළඟයි. වමනේ ගියා. කවුරුත් මගෙ පිටට අත තියල සැනසුවෙ නෑ. මට අම්මව මතක් වුණා.

එදා මගෙ අතින් මිනිහෙක් මැරුණද කියන්න දන්නෙ නෑ අම්මේ. එක්කෝ අර මිනිහා මිනීමරන්න මගෙ හිත හැදුව, නැත්තම් ඔයාව මතක් කරා. ඒ මිනිහා මගෙ ඔළුව ඇතුළට රිංගුවේ මාරයා රිංගන විදියට. මාරයාගෙ භාෂාව එතන තිබුණා. මට මතක් වුණා අම්මා මට මට මාරයා ගැන කියල දුන්න හැටි. මාරයන් ඉන්නෙ අපට නොපෙනෙන විදියට ඒත් අපේ ළඟින්ම. මිනිස්සු කියනවා මාරයා කියන්නෙ අපේ හෙවනැල්ලට කියලා. අඳුරෙදි

හෙවනැලි නැහැයි කියන්න බැහැ. හේතුව හෙවැනැලි අඳුරුයි. අඳුර කියන්නෙ සුවිශාලතම හෙවනැල්ලක්. එහෙනම් මහ දවල් පේන හෙවනැල්ලත් දෙකම එකම බය නෙවෙයිද?

මාරයා කියන්නෙ අත වනන දෙයකට. අපි ඒ දිහාවට ඉබේ ගියත් එකයි නැතත් එකයි, ඒක අත වනනවා. ජීවිතය තියෙන්නෙ කොහොමද? මරණය තියෙන්නෙත් එහෙමම්මයි. එකක් තියෙන්නෙ අර්ථකතනය කරන්න පුළුවන් තැනක. අනිත් එක තියෙන්නෙ අර්ථකථනයට ඔබ්බෙන් තැනක. ඒත් ඒ මහා දාර්ශනික සංවාදවලට කලින් මාරයා කියන්නේ මේකට. ඒ කියන්නෙ ඒක අපෙ අම්ම දන්න දෙයක්ව තිබුණා දේකට. ජීවිතයයි මරණයයි දෙකම සම්භවය වුණේ අම්මගෙන්.



"පුතේ මාරයා කියන්නේ දූවරු තුන්දෙනෙක්ගෙ තාත්තෙක්. මේ දූවරු තුන් දෙනාට තිබුණා දක්සකම් තුනක්. පළවෙනි දුවගෙ දක්සකම තණ්හාව, දෙවෙනිය රතිය, රඟා... ඉතින් මේ වගෙ දක්සකම් තුනකින් පරිපූර්ණ දූවරු තුන්දෙනෙක් ඉන්න තාත්තා කෙනෙක් මාරයා නොවී අල්ලපු ගෙදර අන්කල් වෙන්න නෑ නේද...''

අම්මා, හොඳට රූප අඳින්න පුළුවන් කෙනෙක්. බලාගෙන ඇඳීම කියන්නෙ අම්ම ආස කරපු දෙයක්. පොඩි කාලෙ ඉඳන් අම්මාගෙ හිතට අල්ලපු රූප අඳින්න එයා පුරුදු වෙලා හිටියා. අම්මට එහෙම පොතක්ම තිබුණා. ඒ

චිත්‍ර  අතරින් එක පිටුවක අම්මා ඇඳල තිබුණා මේ මාර දූවරු තුන් දෙනාව.

"මේ දූවරු තුන් දෙනාට පුළුවන් එකවර ස්ත්‍රී රූප සියගණනක් මවන්න. ඒ හැම රූපයකටම පුළුවන් උනා පිරිමි හිත් දණ ගස්සන්න. මාරයට අකමැති මිනිහෙක් ඉන්නව නම් මේ දූවරුන්ගෙ උනන්දුව අහස උසට නගිනවා. ඒ තරම් බලවන්තයි. මේ තියෙන්නෙ ඒ මාර දූවරුන්ගෙ දස්කම් ටික.''

ඒ චිත්‍රය  හරිම ලස්සන එකක්. ඒත් එතන තිබුණා මට නොතේරෙන එක තැනක්. අම්මේ මේ අයිනේ කොනට වෙන්න රැස් විහිදවන්නෙ මොකෙන්ද? ඒ උරහිස කාගෙද...?



"පුතේ මේ උරහිස බුදුන්ගෙ. මම එවෙලේ මාර දූවරුන් දිහා බැලුවෙ එතුමන්ගෙ උරහිසට උඩින්.  මාර දූවරුන් එක එක විදිවලින් බුදුන්ගෙ සිතේ දුර්වල තැනක් හොයනවා. ඒ දුර්වල සිදුරෙන් රිංගල ගිහින් බුදුන්ව වසඟ කරවගන්න හදනවා. දැක්කද මේ ගැනු කෙනාගෙ ඉඟ. ගැනියෙක්ගෙ ඉඟක් අන්න එහෙමයි තැවෙන්න ඕනෙ. මේ බලන්න මෙයාගෙ ලස්සන.''

අම්මගෙ අතේ ඇඟිලි තිබුණෙ ඒ ගැහැනු රූපයෙ ඇස් අස්සෙ. ඒ ඇස් දිගයි. අඩවන් වෙලා. ස්වරූප රාගයෙන් මත් වෙලා. එක ඇහි බැමක් ඉස්සිලා. මම එදා තමයි ඉගෙන ගත්තෙ එක ඇහි බැමක් ඔසවන්න. ඒක මට

තාමත් පුළුවන්. මේ දැනුත් පුළුවන්... මේ මේ. දැක්කද... ඕනෙ නම් අනිත් ඇඟි බැමත්. වරකට එක බැගින් ඉහළට පහළට. ඕනෙ නම් මාරුවෙන් මාරුවට. මාර දූවරුන්ට ස්තුතියි.

ඒ ඇස් උඩ අම්මගෙ ඇඟිලි එහෙ මෙහෙ සියුම් වියරුවකින් ස්පර්ෂ වෙනවා. මට මතකයි එවෙලෙ අම්මාගෙ එක ඇහැක් කසන්න පටන් ගත්තා. ඒ රූපවල හිටපු ගැහැනුන්ට ළමයි වදන්න බැහැ. ඒ නිසාම වසවර්තියෙ ගැහැනු හරිම ලස්සනයි. ඒත් මගෙ අම්මා මාව හැදුවා. ඒ නිසා ගැහැනියක් ටිකක් හරි කැත වෙන එක මෙහේදි නම් යුතුකමක්. ඒ යුතුකම ඉටුකරපු නිසා අම්මගෙ එක ඇහැක් කසනවා. දරුවො හදන්න හදන්න ඇස් කසනවා. අන්තිමට අම්මලා අන්ධ වෙනවා.

"ඉතින් දවසක් මේ දෝණිලා දැක්කා තමන්ගේ තාත්තා අසතුටින් ඉන්නවා. ඔය කවුරුත් මාරයා අසතුටින් ඉන්නව අහල තියෙනවද? ඒ වගෙම එයාට අසතුටින් ඉන්න පුළුවන්ද?'' අම්මා මගෙන් ඇහුවද, අම්මම එහෙම අහගත්තද මම දන්නෙ නෑ... ඒත් මම ඒකට උත්තරයක් දුන්න. අම්මගෙ තුරුල්ලේ ඉන්න කොට උත්තර දෙන්න බැරි කාටද?

උත්තරය තමයි "බුදු හාමුදුරුවෝ.''

අම්මගෙ ඇස්වලින් කඳුළු උනනවා. එයින් එක කඳුළක් වැටුණා මගෙ ඇස් උඩට. ඒ ඇහැ ඇවිල්ලෙන්

පිරිලා ගියා. මගෙ ඇස් දෙකෙන්ම කඳුළු උනන්න පටන් ගත්තා. මම හිතන්නෙ ඒ වැටුන කඳුළින් අම්මා මට මේ ලොකේ මැරෙන්න අවසරය දුන්නා. පුතේ උඹ දවසක මැරේවි, අර මාරයාව සතුටු කරාවි. මොන දුවද අකමැති තමන්ගෙ තාත්තා ඉන්න නොසතුට කරදරයක් කර නොගන්නෙ. මට දැනුයි තේරෙන්නේ ඇයි අම්මා ඇඬුවේ. ඇයි අම්මා ඇඬුවේ..!!





මේ ලියන්නට යන්නේ

දහස් ගණන් පෙම්වතියන් ගැන නොවෙයි

දහස් ගණන් විරහවන් ගැන නොවෙයි

දස දහස් ගණන් කවියන් ගැන නොවෙයි

මගේම අම්මා මට කළ ආදරය ගැනයි

ඉතිං එදින, මා මිය ගිය පසු

ඇයම ගොතා නිම කළ සිනිඳු සේලයකින් මේ දෑස්

වසා...

පැදුණු ඇටකටු මත සියුම් ඉවසුම් සිතුවම් ඇඳ

නිය පොතු කපා දමා

පාවින් පාට සීරුවට ගෙන පාට කළා

කොණ්ඩය එකින් එක ගෙන රනින් කරවා බැඳ රිදී බූලක්

දැමුවා...

ලේ බිඳුවෙන් බිඳුව ඉවතට ගෙන පිරිසිදු කොට

යලින් මා පුරවා දැම්මා

හදවත ගලවා එළියට ගෙන සෝදා

දුම් වැටි රොඩු බොඩු පිස දමා යළි හදවතේ ම තැබුවා

ඒ අතරේ ,

මගේ සම සපා කෑ

පිට සූරා තුවාල කළ

පෙම්වතියන්ගේ මතක සලකුණු

සොය සොයා පවුඩර් කර වසා දැමුවා

මට කොතරම් විශාල වූවත්

කොතරම් සෘජු වුවත්

ආඩම්බරයක් දැනුණත්

මොන තරම් ලොකු වුණත්

ඇට හැමදාමත් පුංචිම පුංචිම පුංචි

ජුණ්ඩා  දැක සිනහවක් නැගුවා ....

යන්තම් එය අගින් අල්ලා

දෙතුන් වරක් සොලවා

පුංචි තට්ටුවක් දමා

රන් සළුවකින් ඔතා සැරසුවා...

ඉතිං..



ඇගේම ආශිර්වාදයෙන්

ඇගේම මහන්සියෙන් කළ

සොහොන් කොතක මා සතපවා

ඊ අහස වෙත දෑස් යොමා

දෑත් දිගු කොට මෙසේ ගැයුවා...

''සඳ එළිය වැටී ,තරු එළිය වැටී

අදවත් මගේ පුතා බබළවන්න...

මතක ඇතුව,

අද මගේ පුතා මිය ගිය බවත්,

මා මෙහි තනි වූ බවත්

ඔහුගේ පෙම්වතියන්ටත් පණිවුඩයක් යවන්න...''

ඉතින් අර මහා වෙඩි නැඹීමෙන් පස්සෙ වමනේ දාගෙන ඇදන් වැටිල හිටපු මම, හෙමීට ආයෙ සිහි කැදවද්දි, පෙනුණා නෙළුම් විලේ නෙළුම් ඒ මහ රෑ පිපෙනවා. ඒවාට යටින් ජල තලයත් එහාට මෙහාට පැද්දෙනව. මොකක් හෝ නමුත් උඩට මතු වෙන්න හදනවා. ටික වෙලාවකින් මට පෙනුණා, අකුණු පහර අස්සෙ, මාර දූවරුන් තුන් දෙනා මං දිහාවට ඇවිදගෙන එනවා, ඒ පිපුණු නෙළුම් මල් උඩින්, පය තබමින්. මම හිත දැඩි කරගත්තා. අර මිනිහා නම් පේන්න හිටියේ නැහැ. මට මහා සීතලක් දැනෙන්න ගත්තා. සීතල කියන්නේ මරණීය දේවල්වලට සැහෙන්න ළඟ දැනීමක්.



ස්වභාවධර්මය කවදාවත් සීතල වෙන්නෙ නෑ. සීතල වෙනව නම් කොහොමද හිම වලස්සු අර කිරි ගැහෙන හිම තට්ටු යටින් පීනන්නේ. මහා ගැඹුරු මුහුදු ආගාධවල මාළුන් පීනන්නෙ. ඒත් මේ ඒ හීතල නෙවෙයි. මේ අර මහා හිම පතනයන් වල ගැඹුරු ආගාධ වල තියෙන සීතල මගෙන් ඇරඹෙන්න ගත්ත වෙලාවක්. සීතලක් කවුරුන් හෝ කෙනෙක්ට උණුසුමක් වෙන්නෙ එහෙමයි. සීතල දරාගන්න බැරි වෙන්නෙ එහෙමයි. ඉතින් අර නෙළුම් මලකට අඩියක් තියෙන හැම වෙලාවෙම හීතල වැඩිවෙන්න ගත්තා.

ඒ පිපෙන හැම නෙළුම් මලක්ම, බොහෝම වේලාසනින් පිපෙන්න තේරුම් අරගෙන තිබුණා. ඉර

එළියට පිඹපන්න ඕනෙ යථාර්ථයන් වුණ නෙළුමක බර මහ රැකට බැර වෙන මොහොතක් ඒක. ඒවයෙ සුවඳට බඹර ජනපද අකාලයේ ඇහැරෙන වෙලාවක් ඒක. එවුන්ගෙ ගුම් නාදය මහ රෑ අකුණු අස්සෙන් ගලාගෙන ආපු වෙලාවක් ඒක. නෙළුම් කොළ උඩට මාළුන් තම හොඬු තියන් බලන් ඉන්න වෙලාවක් ඒක. අකුණු සැරට එවුන් මැණික් වගෙ දිලිසෙනවා. ඒ දිස්නෙන් මාර දූවරු දිලිසෙනවා. හනේ ස්වභාවධර්මය මේ තරම් උනන්දුද ඔවුන් ගැන. එතකොට මට?

මට ඇඟිල්ලක්වත් හොලවන්න බැරි උනා. මුලින්ම නෙළුම් විලෙන් මං දිහාවට ආවේ තණ්හා. ඒ බැල්ම, හරියටම කිව්වොත් ආශාවක් මගෙ දිහා බලන්නෙ කොහොමද? මෙච්චර කාලෙකට මං හිතුවෙ මමයි ආශාවන් දිහා බලන්නෙ කියලා. ඒත් මේ වෙනම දෙයක්. ආශාවක් මගෙ දිහා බලනවා. ආශාවක් හැම වෙලේම අවසාන වශයෙන් මරණය සතුයි. අපි කවුරුත් මැරෙන්නෙ නැත්තන්, අපි අමරණීය නම්, මොකටද ආශාවන්. අපි මැරෙන නිසයි ආශාවන් ඇති වෙන්නෙ. ඉතින් අර බලන්නෙ ආශාවක්. ආයෙත් එහෙම පිටින්ම මරණයක්. ඉතින් මට ඒ වෙනුවෙන් කරන්න පුළුවන් පපුව අල්ලග න්න එක විතරයි. පපුව ආයෙත් රිදෙන්න ගත්ත. තණ්හා මගෙ සිරුර වටේ කැරකෙන්න ගන්නා. පොළවේ ගෑවි නොගෑවි ඉන්න එයාගෙ කකුලෙ ඇඟිලි නිරුත්සාහකවම පරෙස්සම්...

ඉතින් ඊළඟ කෙනා රතී, ඊළඟට රඟා... මට ඉවසන්න බැහැ, ඒත් ළං වෙන්න බැහැ, මට අල්ලන්න බැහැ, ඇඟිල්ලක්වත් සෙලවෙන්නෙ නැහැ. මගෙ ඇස් පියන් අඩකුඹු වෙනවා, කඩා හැලෙනවා, කප් ඉංගිරියා දෙක, වපර වෙනවා, හිරිගඬු පිපෙනවා... පිපී පිපී තවත් නැද්ද පිපෙන්න හිරිගඬු අහනවා. ඉතින් මේ තුන් දෙනා, මං ළඟටම ඇවිත්,





එවුන් ඒ තරම්ටම ලස්සනයි. ඒත් ඒ ලස්සන කොයි මොහොතක හරි මහා භයානක ඒවා වෙවි. ඒ තරම්ම ඇදැහිය නොහැකි නන්නාදුනන ලස්සනක් මට දැනුණා. ඒ අතරේ තවත් මහ පුදුම දේවල්. මේ ලෝකේ තියෙන හැම මලකම සුවඳ මගෙ නහයට දැනෙන්න ගත්තා. එකක තිබුණා සමන් පිච්ච, අනිකක තිබුණා අරලිය, තව එකක රෝස. තත්පරයෙන් තත්පරය ඒ මල්වල සුවඳ වෙනස් වෙනවා. මොන තරම් වේගෙන ඒවා වෙනස් වුණාද කිව්වොත් ගොඩක් මල්වල නම් පවා මම දන්නෙ නෑ. මගෙ ඇස් ආයෙ ආයෙ පියවෙන්න ගත්ත.

මල්වල සුවඳින් මත් වුණ මට එක එක දේවල් පේන්න ගත්තා. ඒවා ඇත්තද බොරුද කියන එකට වඩා එතන තිබුණෙ මං කවදාවත් හිතපු නැති දේවල්. මවපු

නැති දේවල්. ඉතිං යථාර්ථය මේ වගෙ දේවල් තුළ වුණත් තිබී හමුවිය හැකියි.

මම දැක්කා මගෙ අම්මගෙයි තාත්තගෙයි මංගල රැය. එයාලගෙ සුවඳ දැනෙන්න ගත්තා. මුලදී හිතුවෙ ඒවාත් අර මල්වල සුවඳ වෙන්න ඇති කියලා. ඊත් පස්සෙ හිතුණා මේ ඒ දෙන්නගෙ සුවඳ නේද කියලා. ඔව් ඒ දෙන්නගෙ සුවඳින් මේ ලෝකේ කොහේ හරි මල් පිපිල ඇති. නමක් ගමක් දන්නෙ නැති උනත් මල් නම් පිපිල ඇති. මට ජීවත් වෙන්න ආස හිතුණා. මරණය මගෙ පැවැත්මේ කොටසක් බවට පත්වුණා. ජීවිතය කියන්නෙ මරණයෙන් ලද දෙයක්. ඒ වගෙමයි මරණයෙන් පසුව සිදුවෙන හැම දෙයක්ම ඉපදෙන්න කලිනුත් සිදුවෙනවා.

මගෙ කලිසම යට මාර දුවරුන්ගේ දැන් එකම යුද්ධයක්. එවුන්ගෙ පියයුරු මගෙ මූණට ළං වෙලා තියෙනව දැක්කෙ පස්සෙයි. ඒවා මගෙ ඇඟි පිහේ ගෑවී නොගෑවී ඉගිල්ලෙනවා. කොච්චර ළං වෙන්න හැදුවත් එවුන්ගෙ ඒවා මගෙ මුවගේ එබුවේ නැහැ. මට නැගිට ගන්න බැහැ. ඊත් ළං වෙන්න ඕනෙ ඒ දිනාවට. මම ලොකු බරකින් පොළොවටම ඇලිලා. බැරිම තැන අධිෂ්ඨාන කරා මේ පොලොවෙන් මිදෙන්න. ගුරුත්වාකර්ෂණයට එරෙහි වෙන්න. මාව ටික ටික පොලොවෙන් ඉස්සෙන්න ගත්තා. පොළො මට්ටමින් උඩට එද්දි, අම්මගෙයි තාත්තගෙයි සිරුරුත් පොළව උඩට එන්න ගත්තා. අම්මගෙ ඇස්

පියවුණා. තාත්තගෙ ඇස් පියවුණා. ඉතින් පාවෙන්නෙ නැද්ද? කාටද මතක එයාලගෙ පළවෙනි රමණය. ඒකත් සුවඳ මල් එක්ක.

මාර දූවරුන් එක්ක මිනිස්සු කතා කරන්නෙ නැහැ. එයාලට දැනෙනව අපේ සිතුවිලි. මට දැනෙන්න ගත්තා එයාලගෙ හැඟීම්. ඉතින් මොකටද කතා කරන්නේ. නිශ්ශබ්දව හිත් වලින් හිත් විනිවිද යද්දි.. මාර දූවරු ගොළු ඒ නිසයි. කතා කරන එක එවුන්ට කරන අපහාසයක්. දැනෙන දේ වචනවලින් කියන්න යන ඒකේ අනතුර එවුන් දන්නවා. ඒ නිසා මිනිස්සු හැම වෙලේම ඉන්නෙ එක වෙලාවෙම දෙකට පැලිලා. ඉතින් මට දැනෙන්න ගත්තා. ජීවිතය කියන්නෙ මොකද්ද කියලා. මරණය නැත්නම් මිනිස් බවෙන් පලක් නැහැ. මිනිස්සු වෙන්න ඕනෙ නම් මැරෙන්නත් ඕනෙ. මරණය පරාජය කරාට, කාටවත් ඒක නැති කරන්න බැහැ. ඒ ඔක්කොම අස්සෙ ව්‍යාකරණානුකූලව අදහස් ප්‍රකාශ කරන්නත් ඕනෙ.



"බුදුන් පරාජය කළේ මාරයාව නෙවෙයි. මමත්වය. මමත්වය මරල දැම්මම මෙන්න මෙහෙම දෙයක් වෙනවා. මාරයාට මිනිස්සුන් එක්ක තිබුණේ මමත්වය එක්ක සම්බන්ධයක් විතරයි. මමත්වය දුර්වල මිනිහෙක්, හරියට සතෙක් වගෙයි. සත්තු දන්න එකම දෙය මරණය විතරයි. ඒත් මමත්වය නිතරම මරණය අමතක කරවනවා. මරණයෙන් පලා ගිය දෙය බවට ජීවිතය පත් කරනවා.

ජීවත් වෙන්න ආශාව නැතුව නිවන් දකින්න බැහැ. ඒත් මේකෙ කොහෙද ජීවත් වෙන්න ආස කරපු මිනිහෙක්. එමා නොවී පින් දහම් කරගන්න කිව්වට හරියට නාම පව්කමක්වත් කරගන්න බැහැ. පව්කම් පින්කම්වලට වඩා මෙහෙ තියෙන්නෙ නොදන්නාකම්, උමතුකම්"

ඒ විදියට මට එවුන්ගේ හැඟීම් දිගින් දිගටම දැනුණා. ඒ හැම එකක්ම හැඟීමක් ගැන දැනීමක් මිසක්, තව කෙනෙක්ට කියාගන්න පුළුවන් දෙයක් නෙමෙයි. හැඟීම් වචනවලට පෙරළෙද්දී, එයින් භාගයක් විතර හැලෙනවා...ඒ නිසා මට මාර දුවරුන් දැනෙනවා විතරයි .

"හැම දෙයක්ම අත හැරලා ආයේ නොඑන්න ගෙදරින් පිට වෙලා යන පිරිමියා, හැම කෙනාටම වඩා උසින් ඉන්න හිතන කෙනා. ඒ වගේම හැම කෙනාවම දවසක මෝක්ෂ හෝ විමුක්තියක් කරා ගෙනියන්න හිතන කෙනා. තමන්ට මෙන්ම තමන්ට අනිත් අය ගැනත් තිබුණ සියල්ල බරක් බැවින්, ඌ වඩාත් පියාසර ඉරියව්වක සිටින බැවින්, එහෙනම් කරන්නේ ඒවා අත හැර දැමීමයි. හරියට අර රොකට් එකක් හදට යනවා වගෙ. උඩට යන්න යන්න බර අත හැර දමනව. ඉතින් බුදුවරයෙක්ගෙ ඉරියව්ව හැම විටම අහසයි. පොළව නෙමෙයි. එහෙම නොවන්න කවුද අකමැති. ඒ අකැමැති අයත් දවසක කැමති කරවා ගනිවී. ඒ මිනිහා ඉන්නෙ ඒ තරම් අභියෝගයක් තමන් වෙත පවරා ගනිමින්මයි. එබැවින් ඌ අපට වඩා දාර්ශනිකයි.

නුවණක්කාරයි. ඉතින් නුවණැත්තෙකු මරණය පරාජය කිරීමෙන් වැඩක් වේද.''

''ජයයි පරාජයයි දෙකෙහිම ඇත්තේ නොසන්සුන්කමින් නව තවත් තෘෂ්ණාවක් නොවේද? මරණය පරාජය කරාම එය අතිපුද්ගලිකයි. තමන්ගේම වූ දෙයකට ඇත්තේ මරණය පමණයි. පෞද්ගලිකත්වයේ ඇරඹුම අන් කිසිවක් නොව මරණයයි. ඒ නිසා මිනිසුන් අතින් හැදෙන්නෙ නව තවත් ආගම්ම පමණයි. ආගමක් පටන් ගන්නේ ඒ තරම් නොවැදගත් ජයකින්මයි. මරණය නියතයක්, මිස එය අනිවාර්යයක් නොවෙයි. ඉතිං නිකරුණේ බිය වී මිනිසුන් එය ජය ගන්නේ ඇයි?''



"බුදුන් අපේ පියාව අසතුටෙන් අසතුටට පත් කරා. එයින් වසර දෙදහස් පන්සියයක් ගිය තැනත් වසවර්තියට බොහෝ මිනිසුන් ආවා ගියා. බුදුන්ගෙ මව් මහමායා මිය ගියා. නමුත් නුඹේ මව නම් ජීවත් වුණා. බුදුවරයෙක් වෙන්න නම් මව මිය යා යුතුමයි. මරණය ජය ගන්නට සිතන පුතෙකුගෙ මුල් හැඟුම් පුබුදින්නෙ එතැනින්. නුඹ නම් බුදු නොවිය යුතුයි. නමුදු එය පසු කළ යුතුයි. නැතිද අවුරුදු දෙදහස් පන්සියයට පසුත් මිනිහෙක්, පසුකර යන්නට පණක් ඇති නව පවතින්නෙක්.''

දැන් තේරෙනවා අම්මා එදා ඇඩුවේ ඇයි කියලා. මගේ ලෝකයේ නම් කඳුළු වැටුණේ ඈහැකින් තවත් ඈසකට. ඒත් බොහෝ දෙනාට එහෙම නම් නෙවෙයි.

ඒවා වැටෙනව ඇත්තෙ මහ පොළොවට. ශූන්‍යත්වයට. මේ නිසයි ඒ අවුරුදු දෙදෙහස් පන්සිය, කිසිම තේරුමක් නැතුව ගෙවිලා ගියේ. බුදුවරයෙක් කියන්නෙ පළවෙනියෙක්ට මිසක්, අන්තිමයෙක්ට නෙවෙයි. ඒ ගැන නොදන්න නිසයි මෙච්චර පරක්කු වුණේ.

ඉතින් මල් සුවඳ තව තවත් වැඩි වෙන්න ගත්තා. මාර දූවරුන්ගෙ කලිසම යට යුද්ධය වැඩි වෙන්න ගත්තා. ටිකෙන් ටික ඇඟ හිරිවැටෙන්න පටන් ගත්තා. හිරිවැටෙන්න ගන්න ඕනෙම වෙලාවක ඕනෙම කෙනෙක්ට මේ ලෝකෙ විනාස වුණත් මොකද? මට කෑ ගැහුණා. ගැනු ඉපදුණු පිරිමින්ගෙ හෘද සාක්ෂියෙන්. මේ තුන් දෙනාත් ඒවගෙ හෘද සාක්ෂියකින්. ඒ වසවර්ති මාරයාගෙ හෘද සාක්ෂියෙන්. එකපාරටම අම්මටයි තාත්තටයි දෙන්නටත් කෑගැහුණා. අපි ඔක්කොම පොළොවට කඩාගෙන වැටුණා. ඉතිං මාර දූවරුන් මුහුණ දුන් ඒ කම්මැලිකාර 2500 අතර තුරේදි මරණය අවසන් වූවා. ඒ නිසා එකම දේ සිද්ධ වෙන්න ගත්තා.

"කුස ගින්න අවසන් වූයේය
ආශාව ද අවසන් වූයේය
රමණය අවසන් වූයේය
දරුවන් බිහි නොවුණේය
පරම්පරා බිහි නොවුණේය
මුහුදු මත ඔහේ ඇවිද්දේය
ඒ පතුලෙත් ඇවිද්දේය
අහසේද සැරි සැරුවේය
පිපුණු මල් පරනොවුණේය .
ඈත විශ්වය වෙත ගමන් ඇරඹුවේය

දුරත් ළඟත් එකම දුර වූවේය
අමරණීයත්වය හට ගත්තේය ..
සදාකාලිකත්වය කම්මැලිකාර වූවේය..
කාලයද අවසන් වූයේය ..
මුළු ලොවම අවසාන වූවේය .

දැන් මට අවුරුදු තිහක්. පාරේ මහ රෑ මහ වේගෙකින් ඇවිදිනවා. මට මෙහෙම වුණේ දැන් ටිකක කලින්. හදිස්සියේම මහ පපුවේ වේදනාවක් ආව නිසා... ඇතුළෙන් මොකක් හෝ දේකින් පපුව හාරනවා වගේ දැනුණා. මට කෑ ගහගන්නවත් බැරි උනා. කඳුළු පැන්නා. හැමදේම අඳුරු වේගෙන ආවා. වේදනාව ඉවසගන්න බැරි උනා. හුස්ම හිර වෙන්න ආවා. ඒක පපුවෙ ඇත්තක්. ඒත් ඒකට මිනිස්සු කියන්නෙ පපුවෙ අමාරුවක්. පැලෙන්න තරම් අමාරුවක්. ලෝකය කළුවර වෙලා ගියා. මම ඒක පපුව අල්ලගෙන නවත්තන්න හැදුවා. ඒත් බැරි උනා. දිගටම පපුව හාරනවා. මේ ලෝකේ කොයි තරම් මිනිස්සු හිටියත් වැඩක් නෑ, මරණය ඒ තරමම පෞද්ගලිකයි. ලොකු කුරුම්ණියෙක් පපුව හාරනව වගේ. මම ඇස් පියා ගන්නට කළුවර ඊට කලින් ආවා.

මං හිතන්නේ මම ආයෙ ඇස් ඇරියා. පපුව අල්ලගෙන බිම වැතිරිල හිටපු මම හෙමිහිට නැගිට්ටා. ලෝකයම නිසංසලයි. මුකුත්ම වුණේ නෑ වගේ අහංකාරයි. ආඩම්බරයි. හැමදේම පැහැදිලියි. ඒත් පිරිත් හඬක් ඇහෙන්න ගත්තා. ටිකක් ඈතින් ඇහෙන්න ගත්තත්, ටික ටික ඒ හඬ මගෙ කන් හොයාගෙන ඇවිත් ළඟින්ම ඇවිත් වාඩි වුණා. මූසලකම්වල හැටි එහෙමයි. අර පපුවේ අමාරුවෙන් මම මැරිල නම් මේවා නොඇහෙන තැනකට මට යන්න පුළුවන්. එච්චරටම මහ මූසල කමක් ඒකෙ තිබුණා. මොකටද මිනිස්සුන්ට මෙච්චර පිරිත්.

හිතෙනන් යක්කු පෙනෙයි කියල බයට. ඒ නමන් යක්කු වෙලා නැගිටියි කියල බයට. බුදුන් නැති නිසා පිරිත්. මිනිස්සු ගැන විශ්වාස කරන්න බැරි නිසා පිරිත්. තමන්ට තමන් ගැන විශ්වාසයක් නැති නිසා පිරිත්. යක්කු කුම්බාණ්ඩයො අත විත කොඩිවින කඩන නිසා පිරිත්. පිරිත් කියන්නෙත් ඒවට. මන්තරවලට. බුදුන්ව මේ රට යල් පන්නවපු එකක් කලේ මේ රටේ මිනිස්සුමයි. මිනිස්සුන්ට ඕනෙ උනේ, යක්කුන්ගෙනුත් වැඩ ගත්තා වගෙ බුදුන්ගෙනුත් වැඩ ගන්න. ඕවට අහුවෙයි ඒ මනුස්සය. එයා නිවන් දැක්කා. මම දොර ඇරියා. ගෙදරින් එළියට ආවා. හැමදේම පැහැදිලියි.



මේ මගෙ අම්මයි තාත්තයි හදපු ගෙදර. මට කඳුළු එන්න පටන් ගන්න. ඒ අර කඳුළු. අම්මගෙ ඇහෙන් වැටුනෙ. ඒ වැටිල එතන ඉඳන් පටන් ගත්ත ඒවා. මට ආවේ මහ පුදුම දහිරියක්. ඒ දහිරිය නැතුව ජීවත් වෙන මිනිස්සු අවුරුදු දෙදහස් පන්සියයි. ඉතින් මම ඇවිදින්න පටන් ගත්තා. ඇවිදිනකොටයි මිනිස්සුන්ට විමුක්තියක් දකින්න පුළුවන්. වාහන පදින කොට නෙවෙයි. ඉතින් මම ඇවිදිනවා. වැරදිලා හරි කවුරු හරි කිව්වොත්, ඔය ඇවිදිනවා නෙවෙයි සක්මන් කරනවා කියල, ඒකගෙ මළව කුඩු පට්ටම් වෙන්න තියනවා. පව් තෑ...

"එළදෙන, තමුසෙ නවම් නැද්ද අත ඇරියෙ මගෙ දෝණිව, අපිට පාඩුවෙ ඉන්ඩ දීපල්ලා, එළබටු දෙන,

හම්බන්තොටටම වෙලා හිටු වහුතු වැස්සී. මගෙ අම්ම කිව්ව හරි, ඒකි නම් මහ එළදෙනක්. මම මරාගන්න ඒකි හින්ද මගෙ අහිංසක අම්මචන්, අනේ ඒ දෙවනාවි."

මිනිහෙක් තනියෙන් කියව කියව මාව පහු කරගෙන යනව. මම ආපස්සට හැරිල ළං කරල බැලුවා, මිනිහා පිස්සෙක් නම් නෙවෙයි. කිව්ව දෙය සම්පූර්ණයෙන්ම ඇත්ත වෙන්නත් පුළුවන්. මම ළං වෙලා ඇහුවා.

තමුසෙ කොහෙද යන්නෙ?

මිනිහ නතර වුණේ වැදගත් දේශපාලන සාකච්ඡාවකට මුල පුරන මගෙ අභිජාත මිත්‍රයෙක් වගේ... ඒක ඉතාම බරපතල ගැඹුරු හැරීමක් විදියට පේන්න තිබුණා. ඒත් මට කවදාවත් ඒවගෙ බැලුම්වල මහා වැදගත් මුකුත් හම්බුන් නෑ. අපරාදේ මම මිනිහව නවත්තගත්තෙ.

"කුලවත් එළදෙනක් හා විවාහ විමයි සම්මතය. ඒ නිසා මට බැහැ නවත් හරකෙක් වෙන්න. ඒ නිසා මට සිදු වුණා අඩියක් පසු පස්සට තියන්න. මේ මං හිතපු ජීවිතය නෙවෙයි. මට ඕනෙ පරිපූර්ණ ජීවිතයක්. ඒක මගෙ පළවෙනි මංගල රාත්‍රිය. එළදෙන වැතිරිලා හිටියා ඇඳ උඩ. එයා හිටියේ මංගල ඇඳුමෙන් සැරසිලා. උඳේ ඉඳන් නොගලවපු හතර වටේට ණයවෙලා මහගත්තු ඇඳුම් ඒක. නැගී ගොඩක් ඇඳ වටකරගෙන. ඉතින් මට ඕනෙ නෑ එළදෙනක් එක්ක ජීවත් වෙන්න."

"එයා කොච්චර මහන්සියෙන් හිටියත් යුතුකමක් තිබුණා මං ගැන රාගික වෙන්න. මං ගැන කාමුක වෙන්න. දැක්කද නවමත් මෙහෙ ඉන්නෙ ආශා කරන්න බැරි එවුන් නේද? ඉතින් පරම්පරා කුලමානය කියන්නේ අන්න ඒ දේට. ඒ මානයට යුතුකමක් කියන්නෙ වගකීමකට වඩා යන්තං චූට්ටක් වැඩියෙන් කියන එක. කිසිම ආසාවක් නැතුව කොහොමද පටවන්නෙ මිනිහෙක්ගෙ අතේ වගකීමක්. එහෙම බර පටවන්නේ බූරුවන්ගෙ හරකුන්ගෙ පිට උඩ නෙවෙයිද?''

මට පුංචි සතුටක් දැනුණා. මේ මිනිහා කතා කරන්නේ ජනප්‍රිය දේශපාලනයේ එන මහා දේශපලනික වියවුලක් ගැන නෙවෙයි. මිනිස්සු අතරේ වියැවුණු සැඟවුණු රහසක් ගැන. ඉතින් මමත් කතා කරන්න පටන් ගත්ත.

ඉතින් එළදෙනකට බතින්නෙ, ලැජ්ජ නැද්ද? මම ඇහුවා. ඒත් මිනිහ උත්තර දෙන්නෙ වෙන දේකට.

"එළදෙනගෙ ළඟටම වෙලා ඇහුව මම, පුපුරන අනුකම්පාව හිතේ තද කරගෙන, මංගල රාත්‍රියක් කියන්නෙ මොකද්ද? ඒකි උත්තර දුන්නා මෙහෙම, කුරුලු පැටවු කුඩුවල කොහොමද ඉන්නෙ අම්මා තාත්තා නැතුව, අන්න ඒ විදියයි මේ විදිය, මගෙ චූටි වස්සෝ..``

"මඟුල් දිනෙ පුරාවට හෙළපු මහන්සිය යටපත් කරගෙන කකුල් දෙක පළල් කරාම මට, එයා කුලවත්

එළදෙනක් නේද. නිකමට හරි ඒ වෙලාවෙ මං අහක බැලුවොත්, මං ළඟ ඒකි වෙනුවෙන් නලියන අනුකම්පාවක් හෙම දැනුනොත්, මුළු මංගල චාරිත්‍රයෙම උලුක්කුව ජීවිත කාලෙ පුරාවටම නේද? ඉතින් පළවෙනි මංගල රාත්‍රියෙම රතු අත්සන තියන්න වැතිරුණා සුදු ඇඳ ඇතිරිලි උඩ. ඒ ගැනි යුතුකම් ඉෂ්ට කරා, මම ඒකිගෙන් රාගය කාමය ටිකක් හරි ඉල්ලා හිටියා. ඉතින් කොහෙද ඒකටවත් හිතක්. මට ඕනෑ නෑ. මම හිටියේ තනියෙන්, ඇස් පියන්, මහ කලුවරෙන්, දැක්කා සිහිනයක්, ඒකෙ හිටිය දෙවඟනක්. ඒ දෙවඟනගෙ තොල්වලට උඩින් තිබුණා පුංචි ලපයක්."

"මොකක්, එතකොට ඔය දෙන්න අතර සිද්ධ වුණේ සිහිනයක් විතර ද?" මම ඇහුවා.

"ඔව් සිහිනයක් විතරයි. මංගල රැයකට පසු සිදුවෙන දෙය හරිම ඇසැබියි. එයාගෙ නිය පහර වේදනාකාරියි. තමුසෙ දැකල තියෙනවද නියපොතු උල් කරගත් එළදෙනක්. ඒත් ඒ මුකුත් නොදැනුණෙ හීනයෙ හිටපු අර දෙවඟනගෙ උම්තු ලස්සන නිසා."

"ඒකි හරකියෙක් නිසා ඒකිට ඕනෙ උනා මාවත් හරකෙක් කරන්න. එයාගෙ වංශය මහ හරක් රැළක්. ඒත් උංගේ අං පිහි තුඩු වගෙයි. ඒ තියුණු අං පහරකට පුළුවන් තවත් හරකෙක් මරන්න. ඉතිං ඒකිට පුළුවන්, ඕනෙම වෙලාවක මාව මරලා දාන්න.''



එළදෙන විසින් මරා දැමෙන මා
ඇගේ ලේ නෑයෙකු නොවේ

"ඉතින් මම ඒකට බය වුණා. ඒ බය කොච්චර ද කිව්වොත් එතනින් ඇරඹුනෙ මනුෂ්‍යත්වයෙ බිළිඳුම අවධිය. උන් සැහෙන්න පරෙස්සම් වුණා මිනිස්සුන්ගෙන් බේරෙන්න. උන්ට වෙන මිනිස්සුන්ව දැනුනෙ මෘගයන් වගෙ. උන් ඒවයෙන් බේරෙන්න කරපු හදියට මටත් එකතු වෙන්න සිද්ධ උනා. ඉතිං මේ එපා වෙලා ඉන්න මට, උන්ගෙ වංශය රැකගන්න ඕනෙකමත් එක්ක එකතු උනාම. ඉතිං ඒ ගැන මට ලියැවුනෙ කවිම විතරයි... රෙද්දෙ පරම්පරාව, මහ ලොකු නම්බුකාර හැත්ත"

"මම කවි ලිව්ව නිසා, කැවේ තණ කොළ නෙවෙයි. දන්නවද අර හරකුන් එක්ක පොරයට එන මෘගයින් මට පෙන්නුවා නව ලෝකයක්. හරකුන් දැක්කම ඒ මෘගයන් හලන කෙළ සාරු මාව අලුත් ආශාවකින් පුරවල

දැම්මා, මෘගයෙකුට පුළුවන් මනුෂ්‍යත්වයෙ පළවෙනි ඉම පෙන්නන්න. ඒ තමයි ලේ රසැති හරක් මස්.''

"හරකුන්ගෙ වංශයට, හොරෙන්, මා ගිය ගමන මනුෂ්‍යත්වයෙ මධ්‍යම අවධිය. උන්ගේ හොර ඇහැට හසු නොවී මං කළ සියලු දේ අතරින් මට පුළුවන් උනා ගින්දර හොයා ගන්න. ඒ ගින්දර ගැන රහස මට දුන්නෙ අර හීනවල හිටපු දෙව්ඟන. ඇය අත දැල්වෙවී තිබුණා පහනක්. සුරංගනා ලොවේ ඉගිල්ලී ගිය පරෙවියෙකුගෙන් ගිලිහුණු පෙඳයක් වැටී පහන් තිරයට එය පිච්චී ගිය හැටි."

ඒ කියන්නෙ ගින්දර ආවේ මිනිසාගේ සිහිනවලින්? මම එක් වරම මැදට පැනල ඇහුවා .

"ඔව්. මිනිසුන් ගින්දර සොයා ගත්තේ ස්වභාවධර්මයෙන්වත් අහඹුවකින්වත් නෙවෙයි. ඒක ආවේ සිහිනවලින්. බුදුන් ඉපැදුනෙ ශුක්‍රාණුවලින් නෙවෙයි. ඔවුනුත් හරියට ගින්දරෙන් ආව වගෙයි. ඉපදුනෙ සිහිනවලින්. ඒ නිසයි හීන දකින ඕනෙම මිනිහෙකුට බුදුවෙන්නත් පුළුවන්. ඇස් පියාගත්තම පෙනෙන සිහින අතරින් මිනිසත් බව හටගන්නව.''

''එක දවසක් එළදෙන, මට කීවා ඇය බඩින් බව. ඈට ඒ වෙනුවෙන් කරන්න පුළුවන් උපරිම දෙය තණ කෑමයි වැඩිපුර. කිරි වැරීමෙදි ඇය බොහෝ කෘෂිකාර්මික වුණා. පාරේ යන කොට ඇය යන්නෙ බොහෝ ගෞරවයෙන්. අං දෙක විලිස්සගෙන පැද්දෙන කොට මට දැනෙන හැඟීමෙ නම මානව ආඩම්බරය. කෙළ බේරෙන"

"ටිකෙන් ටික ඇගෙ බඩ වැඩුන. ඒ බඩ උඩ මගෙ අත තියල කියනව මේ නම් පිරිමි සනෙක්. ඉතින් එයා මොන තරම් එළදෙනක් ද?"



"එක දවසක් හැන්දෑවක, එයා කෑගනව ඇහුණා. එයාගෙ වංශයෙ අය විමසිලිමත් වුණා. එයාව වට කරගෙන වට කීපයක් බැගින් එක එකා කැරකුණා. මම හිටියා ඈතකට වෙලා ඒ දිහා බලාගෙන. එදා එයා පැටියෙක් බිහිකලා. අනේ ඒ නිකම්ම නිකම් එකෙක් නෙවෙයි. දූ කුමරියක්. පුදුමේ කියන්නෙ එයාට තිබුණා අර වැයින් ලපයක්. ඒකත් අර වගෙම තොලට උඩින්. හරියටම එතන."

"ඉතින් එළදෙනගෙන් ඕනෙ උනේ එච්චරයි. දැන් මට ඕනෙ එතනින් පැනල යන්න. පරිපූර්ණ දෙවඟනක් හදන්න මේ හරක් එක්ක බැහැ. ඒ නිසා මම සැලසුම්කරා දූ කුමරියත් අරන් පැනල යන්න. හරියටම දවස් හතක් ගිය තැන මම පරෙස්සම් උනා පැනල යන්න. සියලු සැලසුම්

පණ ගන්වමින් මම ආව ඒකි ළඟට, මගේ දෙවඟනව අතට ගන්න."

"එළදෙන නිදි, මහ එළදෙන, ඒ කියන්නෙ ඇගේ ආච්චි අම්මා. දූ කුමරියගෙ ඇඟ උඩින් නැට්ට දාගෙන නිදි. දන්නවද ඒ මැහැල්ල හරිම කට සැර එකී. තරුණ වියේදිත් ඉන්න ඇති මහා විසේකාරි වී. වයස යනවත් එක්කම ඒ විසේ කට ඇතුළෙ බින්න බැහැගන්න ඇති."

"දවසක්, මගේ එළදෙන එක්ක කඳු මුදුනක අගිස්සට ගිහින් ළා තණ උලාකමින් ඈත ක්ෂිතිජය බලපු හැටි. මැහැල්ලි කෑ ගැහුවා මහ හඬින්, ඔන්න ඔතනින් වරෙන් මෙතන්ට. කඳු මුදුන් අපලයි මගෙ එකීට. වැටුණොත් ඔක්කොම සුන්. මගෙ එකීව මං ළඟ තියලා තෝ ඕනෙ එකක් නටාපිය ඔතන."



ඔන්න ඔහොමයි මහලු එකී කෑගන්නෙ හැම එකටම. මම හැරුණත් වැරදී, හැරුණේ නැතත් වැරදී, සනුහුරේම ඒකිගෙ කට ගැන දනියි. ඒ නිසාම ඈ ළඟින් පරෙස්සමෙන් අඩි තබති.

"ඉතින් මම ඇගෙ ඒ අතිසංවේදි ධ්‍යානලාභී කටට හොරා ළං වුණා මගෙ දෙවඟන ළඟට. අරගත්තා ඇයව තුරුලට, ඉගිලුනා හැකි තාක් උපරිම වේගෙන් උපරිම දුරකට. එතැන් පටන් දූ කුමරිය මගෙයි. ඇයට පියා මෙන් මවත් අදින් පසු මමයි. ඒත් වැඩි දවසක් ගියේ නෑ, ඒකි, ගවුම යට රතු සායම් වක්කරගත්තා, මට කර

තියා ගන්න දෙයක් නැතුව, ඒකිව අරගෙන ගියා වෙදෙක් ළඟට. වෙදා කිව්වා, ඕක සාමාන්‍යය දෙයක්, පොඩි චාරිත්‍ර ටිකක් තියෙන්නෙ කරන්න. දැන් උඹේ දෝණි ලැස්තියි මනාලියක් වෙන්න."

"ඉතින් දෝණි ඉගෙන ගත්තා, භාෂා හතක්. කාව්‍යයක්කාරයන් බොහෝ දෙනෙක්. දර්ශනවාදීන් කිහිප දෙනෙක්. නර්තන විධි සෑහෙන ප්‍රමාණයක්. වස් දඬු පිඹින්නියක ඉඳල සෑහෙන බර ගානක්...බන්දල දෙන්න ලෑස්ති උනාම, ඒකි හොයාගෙන හිටියා පිරිමි සතෙක්... මහ උසස් වංසයකින් පැවතගෙන එකෙක්. ඊයේයි උන්ගෙ පළවෙනි මංගල රාත්‍රිය. උදේ වෙද්දි ආවා මට පණිවුඩයක්, ඔයාගෙ දුව, රෑ හීනෙන් උම් බෑ කියනවා, ඒ මොකද?''

ඉතින් මිනිහෝ, තමුසෙ මහ මෝඩයෙක් නෙහ්? මට දැනුනෙ මහා අනුකම්පාවක් මිනිහ ගැන. ඒත් ඒක යටපත් කරගෙනමයි මට කියවුනෙ ඒකත් කේන්තියක් එක්කම .

"නැහැ මං කවියෙක් ?" මිනිහා ආඩම්බරෙන් දුන්න උත්තරය මගෙ මූණටම.

ඉතින් ඒ කෙල්ලට හීනෙන් පේනව ඇති ඒකිගෙ අම්මව. අර තමුසෙට පේනව වගේ ගින්දර ගේන දේවතාවිව.

"ඔව්, එතනයි මං වරද්ද ගත්ත තැන. ඒ මංගල රාත්‍රියෙන් පස්සෙ, දැනට පැය විසි හතරක් ගෙවිල ගිය තැන, දුව මගෙන් අහනව තාත්තෙ මොකද මේ මගෙ

ඔලුවෙන් එන්න වගෙ හදනව වගේ  අං දෙකක්. ඇදේදි මම කෑ ගහනවලු හරකෙක් වගෙ. මට හිතා ගන්ඩ බෑ මේ කිසිම දෙයක්.''

ඔහෝ, මට දැනුයි තේරෙන්නෙ සිද්ද වුණ දෙය, මට ටිකක් පෙන්නන්ඩ දුව ඉන්ඩ තැන. අඟක් එන්න හදන දුවෙක් කියන්නෙ වෛද්‍ය විද්‍යාවටත් තර්ජනයක්. මට කියැවුණා.

මිනිහ ටිකක් විමසිලිමත් උනා, උඩ තිබුණු ඇස් දෙක ආයෙ පොළෝ මට්ටමට ආවා. මං හිතන්නෙ මිනිහා කවියෙක් නිසා තමන්ගෙ සුදුපුරුදු ආත්මය භක්ෂණය කරන්ඩ පටන් අරගෙන කොහෙද ඊළඟ කවි පොතට. වේදනාව කන හරක් ජාතියක් නෙවෙයි කවියන් කියන්නේ. වේදනාවට ඔබ්බෙන් හිතන අයටයි කවියන් කියන්නේ.



"ඔව්, ගඟ පැත්තෙ තියෙන්නෙ එයා ඉන්න වලව්ව. මිනිහ මගෙ අතින් ඇදන් පාර පැන්නේ, ඇති වෙච්ච අලුත් බලාපොරොත්තුවත් එක්ක."

ඒ කාලෙ, හිටපු මුදලි කෙනෙක් කැලණි ගඟේ කොටන් ප්‍රවාහනය කරපු කාලෙ සුද්දොන්ගෙ සැලකුම්වලින් හදපු වලව්වක් ඒක. දැනට ජීවත් වෙලා ඉන්න මුණුබුරු පරම්පරාවේ එකෙක් තමයි බැඳල තියෙන්නෙ කෙල්ලව මේ ඊයේ පෙරේදා. මම පොඩි කාලේ යුද්ධ කලෙත් එතන.

බුදුන්ගේ රස්තියාදුව

වලව්ව දෙපැත්තෙ තිබුණා ඇත් ගාල දෙකක්. මහ දර කොටන් ඇත්තු ලව්ව අදින කාලෙ මේකෙ ඉඳල තියෙනව මහ ඇත්තු ගොඩක්. ඒත් දැන් ඉන්නෙ එක ඇතෙක් විතරයි, වලව්වෙ තේජස තියාගන්ඩ හදපු කම්මැලි වයසක මැටි ගොඩක්. ඉන්න හැටි පැද්දි පැද්දි මහ වලව් කළුවරේ තනියෙන්. ඒකා හරිම ප්‍රසිද්ධයි, නම කුංජන.

කවියන්ට වැරදුණු තැන් අනන්තයි. ඒත් මෙහෙම වැරැද්දක් සිද්ධවෙන්න පුළුවන් නම් ඒක නම් විස්මිතයි. වලව්ව නම් විශාලයි. ඒක කොච්චර විශාලද කිව්වොත්, කිසිම තේරුමක් නැතුවම විශාලයි. ඒ නිසයි ඒවා ගැන මහ ගුප්ත බයක් ඉතුරු වෙලා තියෙන්නෙ. ඒත් ඒව පරණ වෙන්න වෙන්න ලස්සනයි. පොඩි කාලෙදි මට නිතරම ඕනෙ උනා ඇතුළ බලන්න. ඒත් මම දන්නවා, මේ මාමණ්ඩිව නම් දැන් පිළිගන්නෙ නෑ හොඳ හිතකින්, ඒකෙ ජීවත් වෙන එක මිනිහෙක්වත්...

කිව්ව විදියටම ආවා මිනිහෙක්, ඒ වලව්වෙ හාමු. සරමක් ඇඳන් උඩු කය නිරුවත්, ඒ අපිව පිළිගන්ඩ නෙමෙයි, අපිට හොඳ කුණුහරුපෙන් දෙසා බාන්ඩ. ඊට කලින් මම පැන්නා ඉස්සරහට.

වලව්වෙ මහත්තයො, මට තේරෙනව මෙතන සිද්ධ වෙලා තියෙන දෙය. මට පුළුවන්ද දුවව බලන්ඩ මෙතුමගෙ, ටිකක් වෙලාව දෙනව නම් මට පුළුවන් මේ

ප්‍රශ්නය විසඳන්න. දෙගොල්ලොම අමාරුවෙ වැටිල ඉන්න වෙලාවක් මේක. මම දන්නව පර ඇනා පිටේ තියන් රජ මගුල් කාලා ගෙනාපු මේ මනාලිගෙ උම්බෑ කියුමට හේතුව...

"අන්න ගිහින් බලාගන්නවා.. කාමරේ ඉන්නව, හත්මුතු පරම්පරාවෙම මූණෙ දැලි ගාපු දෝණියන්දව...'' වලව්වෙ හාමු වැටිල ඉන්න අමාරුවට, වාඩි වුණා නොවෙයි ඇදන් වැටුණා හාන්සි පුටුවක, මේ සිද්ද වෙලා තියෙන දේට. වලව්වල දොරවල් ඇරෙන්න නම්, එවුන්ගෙ ළමාතැනීලගෙ ඔළුවෙන් අංම එන්න ඕනෙ.

ඉතින් ගොඩ වුණා මම මාළිගෙ ඇතුළට. හැම තැනම පින්තූර එල්ලල වලව්වෙ මහ නෑ පරපුර. එකෙක් දෙන්නෙක් නාම වැඩ, අස්කරනව මංගල පෝරුව. තරප්පු පෙළ තියෙනව කොළඹ කෞතුකාගාරෙ වගෙ... මේවයෙ දැන් පුරාජේරුවයි චාරිත්‍රයි විතරයි, එංගලන්ත මාළිගාවෙ වගෙ. රැජිණත් හිටියා එල්ලීගෙන මං දිහාවට ඔරොව ඔරොව දත් විලිස්ස විලිස්ස.

කාමරෙ තිබුණෙ දෙවෙනි තට්ටුවෙ, තරප්පු පෙළ නැගල කෙළින්ම දකුණට. දකුණට ගිහින් තියෙන තුන් වෙනි කාමරේට, එක්කගෙන ගියා මැහැල්ලක් අපිව, හති දාගෙන විඩාබර. ඒ තමයි ආයම්මා, පොඩි කාලේ අපි සෙල්ලම් කරද්දි ජනේල්වලින් රෑ දවල් අපි දිහා බලන් ඉන්න වයසක ගෑනු කෙනා. අපි ගෙවල් අත ඇරල ගියාසින් පස්සෙ ආවේ සෑහෙන කාලෙකට පස්සෙයි මෙ වලව්වත්තට.

වලව්වෙ මැද සාලය, ඉස්සර මෙහෙ ආව ගිය ලොකු ලොකු ලොක්කන් ගැන සලකුණු, අවතාර වගේ ගැමි නැනම. ඒක මහ විශාලෙට පෙනුණා. ඒ ඔක්කොම බුදුන්ගෙ කෙරුවාව.

කාමරේට ගොඩ වෙද්දි, හිටියේ නෑ කවුරුත් පේන්ඩ... දෝණී මතු වෙනකං කොයි වෙලේ හරි. බලන් හිටිය ටික වෙලාවක්, ආයම්ම ගියා අපි දෙන්නව තනි කරල පද්ද පද්ද එළියට.

වයසට කොන්ද දෙකට නැමුණත් තිබුනා ඒ ගමනේ පොකද්දෙර් තරුණකමක්.

ඒකට හේතුව දැන ගන්න නම් මේ ලෝකය බිලිඳු වැඩියි තාම.

සිහින් ආඩම්බරයක් දැනුණා අලුත බැන්ද දෙන්නගෙ මංගල රාත්‍රියට සරසපු ඇඳට. ඒත් දැන් ඒක මල සොහොනක් මේ මිනිස්සුන්ට, ඔක්කොටම කලියෙන් කෝ මේ දෝණී සියදිවිවක් නසාගත්තද? ටික වෙලාවකින් එළියෙ ජනෙල් තිර ඇත් කරමින් ආවා යුවතියක් මැද අඳුරේ ඉස්සරහට. අපිව දැක්ක සැණින් දුවගෙන ඇවිත් වැද වැටුණා, මහ හයියෙන් කෑගහගෙන.



නැගුටුවා යළි ඔසවා බැලූවම එයාගෙ මූණ, පිරිලා සඳුලින් "මේ මොන හෙණයක් ද? කොහොමද මේවා වුණේ මට කියන්න නාත්තේ'' කියා, කියාගන්න බැරි කමක් තිබුණෙ ඇගෙ මුහුණෙ සැකයකින් තොරවම. පියාටත් උත්තර නැති බව දැක්කා ඇය. ඒක තේරුණේ මගෙ දිහා මිනිහා බැලුවම. ඇයත් පියාගෙ බැල්ම දිගේ යමින් මං දිහා බැලුවමයි සිහි එලවගත්තේ, මගෙ හරක් අං ගැන තව තව අය දන්නවද?

ඇය දුවගෙන ගියා මංගල යහනට. ඇයට ඕනෙ වුණා වකුටු වෙන්න. හරියට දුටු ගැමුණු වකුටු උනා වගේ. ගර්භාෂයක් ඇතුළෙ නිදනව වගේ පොඩි එකෙක්. ඇය ඉකිගහමින් අඬන්න වුණා, අනේ මගේ ජීවිතය. ඉතින් මම ඉක්මනින් හෙව්ව කෝ ඇයගෙ මනමාලය. ඇඳ ළඟට ඇවිත් හිට ගත්තා, අහන්න ඒ ගැන.

''කෝ ඔයාගෙ හස්බන්ඩ්?'' ආයෙත් වට පිට බලාගෙ නම් අත තිබ්බා ඔළුවට, ඒ අර අං එන තැනටම. කොච්චර අසාමාන්‍යයද කියනව නම් ගැනියකගෙ ඇඟට පුළුවන්, සියලුම ආශ්චර්යන් වෙන්න, අං එනව නම් මෙහෙම. ඒකයි නිමිත්ත. සියලුම ආශ්චර්යන් ඇයගෙ ඇඟ තුළ හටගන්න තරමට, උත්සවකාරී වෙන්ඩ. ආශ්චර්යන්වලට එහෙම ඉඩක් ඇත්තනම්, ඇයි අපායට බැරි ඒ ගැන ටිකකට හිතන්න.

කිසිම උත්තරයක් නැතුව නිහඬව වැලපෙන්නී ඈ, මට හොයාගන්ඩ ඕනෙ කෝ මේ වීරයා, ඇය ගැන නොසිතන. එනකොටම දොරෙන් ඇතුළට ආවා ඔහු, හරිම නිශ්ශබ්දව, කරකියා ගන්න කිසිම දෙයක් ඉතිරි නොවුණ, මහා මනස්ගාත වලට පමණක් සවල වෙන්න ඉඩ ඇති ඇගේ ජීවිතය ගැන කිසිම උත්තරයක් නැතුව. නමුත් සෑහෙන කඩවසම්, අහිංසක මූණක්, නමුත් විකලය දරාගන්න බැරිව ඉන්න එකක්.

මනමාලයගෙ උරහිසට අත තියලා, අරන් ගියා කාමරයේ සඳළු තලයට. මට අහන්න තිබුණෙ ඒ තරම් වැදගත් ප්‍රශ්නයක් නෙවෙයි මිනිහගෙන්. හේත්තුවෙලා යකඩ වැඩට, ඉතිං ඇහුවා මෙහෙම.

මට තේරෙනවා ඔයා ඉන්න ප්‍රශ්නය. මට පුළුවන් ඒක විසඳල දෙන්න .

ඒ තරම් වෙලා ඔළුව පහත් කරගෙන හිටිය මිනිහා, ඔළුව උස්සල මගෙ මූණ දිහා බැලුවා.

"මං මොකද්ද දැන් කරන්න ඕනෙ?" ඒ ඇස්වල තිබුණා සෑහෙන තරම් අවංකකමක්. මං දැක්කෙ එච්චරයි. ඒ අසරණයගෙ මූණෙ වලව්කාරයෙක්ගෙ තේජස තිබුන් නෑ. මිනිහෙක්ට වෙන්න පුළුවන් අසරණම විදිය...ඒක.

බයවෙන්න එපා, අනතුරක් වෙන්නෙ නෑ කාටවත්ම. එම මේ අහන්න යන දෙයින්, බොරුවට යකාව තවත් කලු කරගන්ඩ එපා. මේ යකා මම දන්න යකෙක්. ඒකව එලවල දාන්න, මට ඕනෙ පොඩි දෙයක්. ඒ තමයි කසයක්.

"කසයක් ඒ මොකටද?'' මිනිහා මගෙ දිහා බැලුවෙ තමුසෙට පිස්සුද කියල හිතින් අහන ගමන් වෙන්ඩ ඕනෙ.

ඔව් කසයක්, වලව්වක නැති නම් කසයක්, ඒක කසයක්වත් වලව්වක්වත් නෙමෙයි. ඒ නිසා හොයන්න වෙනවා මේ වලව්වෙන් කසයක්.

"මොකටද කසයක්, කාට තලන්නද ඒකෙන් ඔච්චර. එම ඒක වැලලුවා මේ වත්තෙ කොනක. මම පොඩි කාලෙ දවසක. මම දන්නෙ නෑ ඒක , ආයෙ හොයාගන්න පුළුවන් වේවිද, හාරන්න වෙනව එතන."

හරි දැන් අපි යමු එතනට. අපි හාරල ගමු ඒක උඩට. කෙල්ලව ගොඩ යන්න තියෙන එකම මග ඒක.

ඉතින් තරප්පු පෙල බැහැගෙන ආයෙ ගියා පල්ලෙහට, හොයන්න වළලපු කසය. උදැල්ලක් අරගෙන සේවකයෙක් ආවා හනිකට. වලව්වෙ හාමුත් ආවා පස්සෙන්ම "මොනවද කරන්න යන්නෙ මේ" කිය කිය ආයම්ම ඒක්ක.

අපි හොයන්නෙ මේ වලව්වෙ තිබුණා කඩයක්. ඒක වලලපු තැනින් ආයෙ ගන්නයි හදන්නේ. මම කිව්ව.

"අනේ අපේ පරම්පරාවෙන් උරුම උන කඩය, ඒක නැති වෙලා දැන් අවුරුදු බර ගාණක් එක්ක. කොහොමද ඒක නැතිවුණේ කියල හිතන්න බැරි බැරි ගානේ පොලීසිත් ගියා දහස් වර... මං හිතුවෙ ගමේ එකෙක් ඇවිත් අපි කවුරුත් නැති අතර අරං යන්න ඇති කියල කඩය. ඒ කඩයෙන් වැඩ ගත්ත උදවිය දැන් අතැරල ගිහින් වෙන ලෝකවල. ඒ මගෙ තාත්තල සීයල කාලේ ඉඳන් උරුම වුණ කඩය. වැරදි කරන එවුන්ට තලන්නයි ගත්තේ එළියට.'' වලව්වෙ හාමු දොඩවනවා.



එනකොටම මැහැල්ලිය අපි ඉදිරියට ආවා ගමන හරස් කොට, කෑගහගෙන.

"මොකටද උඹලට මේ වෙලාවේ කඩයක්" හතර අත බුලත් කෙල විසි කර කර පිස්සුවෙන්. ඒක දැකපු වලව්වෙ හාමු ඇවිත් ඉස්සරහට, "ආයම්මේ මොකද්ද කරන්නෙ ඔතනින් අයින් වෙන්න. අපේ නැති උන කඩය හොයන්න යන එකට බාධා කරන්නෙ ඇයි ආයෙ උඹ?''

පැත්තකට විසිකර යන්නට හැදුවත් ඇය එල්ලෙයි අපිව වැළැක්වමින්. එක ප්‍රශ්නයක් විසඳන්න යන කොට නව ප්‍රශ්නයක් බුබුළු දාන හඬ එන එක මේ වගෙ තැන්වල හරිම සාමාන්‍යයයි. වලව් විතරක් නෙවෙයි හැම තැනම එහෙමයි. මේ ලොව සත්‍යය කියා දෙයක් ඇත්නම් ඒ

මේ වගෙ වෙලාවට විතරයි. එකක එළදෙනක් රෑට උම්බෑ කියන, අනිකෙ කසයක් මහ රෑ මතු වී මතු නොවෙන. දැන් මොනව කරන්නද වෙන කරන්න දෙයක් නැහැ, හොයනව මිස ඒ කසයේ කතාවේත් සුල මූල ගැන.

"එයාට කතා කරන්ඩ ඉඩ දෙන්ඩ" මම කිව්ව විට නැගෙම්ටම, කාලගෝට්ටිය නතර වුණා මදකට. එයා අද පළවෙනි පාරට කතා කරනවා.

"ඒ කසය පොඩි බේබි වැලලුව ඉස්සර කාලෙක" එහෙම කියද්දි වලව්වෙ හාමුට නිකම්ම බැලුණා තමන්ගෙ පුතා දිහාවට. "මොකද්ද බුරුවො මේ කතෙල් අපට..." වලව්වෙ හාමු මොරදෙන්න ගත්ත.



"ඉතින් දැන් කෝ ඒක, කියපන්" මනමාලය හැදුණෙ වැඩුණෙ නාන්නගෙ අඩවියෙ. ඒ නිසා ඉන්නෙ බිම බලාගෙනම ඒතකොටම් ආයම්මා මැදට පැනල කිව්ව කතාවෙන්, තමන්ගේ පුතා ගැන වලව්වෙ හාමුගෙ කේන්තියට නැති වුණා ආතක් පාතක්.

"පොඩි බේබි වලලපු තැනින් මම ඒක ආයෙ ගොඩ ගත්තා, එදාම."

"මොනවා... එදාම ගොඩ ගත්ත නම් ඒක තිබ්බ තැනින් තිව්වෙ නැත්තෙ ඇයි මෝඩ ගෑනියෙ... මගෙ නාන්න නැති උනෙත් එදාමයි, තොට තේරෙනෙත් නැද්ද?" වලව්වෙ හාමුගෙ ඇස් කඳුළින් පිරිගෙන එනවා මෙන්න.

හන්හ්හා. ඒ කියන්නෙ මිනීමරුවො දෙන්නෙක් ඉන්නව අපි ගාව. මට බේබි කියන්න ඇයි හංගන්න හිතුවෙ ඒ කසය. බේබි අල්ලගන්න මගෙ අතින් හයියෙන්, ඒ සැඟෙන කාලයක් තිස්සෙ හංගගෙන හිටපු රහසක් කියන්ඩ. එයාට බලන්න පුළුවන් උනේ මගෙ මූණ විතරයි. මොකද්ද ඒකට හේතුව?

"මං දැක්කා දවසක් අපෙ සීයා, ආයම්මට තලනව ඒ කසයෙන්, සීයගෙ කාමරේ තියන" ලොකු හයියක් අරන් බේබි ඒක කියාගත්ත.

ආයම්මාත් ලොකු හුස්මක් අරගෙන හැදුවෙ කෑගහගන්ඩ. ඒත් ඉරියව්ව එකපාරටම වෙනස් වුණා, ආයම්මට ඇඬෙන්න ගන්නා ඊට පස්සෙ එකදිගට... මේ ඇඬිල්ලත් එක්ක ආයම්මා ආයෙත් තිරිහන් වෙන්න හදනවා. ඒක සිද්දවෙන්න ගන්නෙ ලොකු හුළඟක් එක්ක. ඇඟත් ටිකක් හරි බරි ගැහෙනව වගෙ ඇහුණා. උගෙ බෙල්ලෙ ගැට ගහපු ගෙජ්ජිය සද්ද කරා දිගටම. අයම්මගෙ මූණට ලැජ්ජාවෙන් රතු වෙන්න පුළුවන් වුණාම, අවුරුදු අසූවකට ළංවෙන්න එයා ගත කරපු මුළු ලෝක කාලයම බොරුවක් වෙන්න ගන්නා. ඒ අතින් හරිම සංකීර්ණයි වගෙම, අනිත් පැත්තෙන් පමාවී ආ වසන්තයක් ඒක. වයසට ගිහිල්ල මැරෙනව කියන්නෙ බොරුවක්... ඒත් ඇය විදි අයුක්තිය විසඳන්න තරම් දර්ශනවාදයක් මේ ලෝකෙ හොයාගෙන නෑ තාම.

ලුළඟ නැවතුනේ නෑ, මං හිතන්නේ ඒක ආයම්මට සනීපයක් ගෙනාවා. අපි ඉන්න කලබලය පහුකරගෙන එයාගෙ කතාව පටන් ගත්තා. මේ එයාගෙ කතාව.

"මම මේ වලව්වට ආවේ පොඩි කාලෙම. එදා ඉඳන් මාව හදාගත්තේ මේ ගෙදර කලින් හිටපු ආයම්ම. ආයම්ම මැරුණම ගලවපු ඇඳුම ඉන් පස්සෙ ඇඳගත්තෙ මම. ඒ වෙනකන් එයා මට ගොඩක් දේවල් කියල දුන්න.ඒවා මේ වලව්වටම ආවේණික වුණ දේවල්. කොහොම හාමු මහත්තයෙක්ට සලකන්නෙ. ළමාතැනියි හාමු මහත්තයයි ඉස්සරහ කොහොමද හැසිරෙන්නෙ... හාමු මහත්තයා කියන්නෙ මගෙ කවුද? හාමු මහත්තයට මම කවුද වගෙ හැම දෙයක්ම. එකක තිබුණා හාමු මහත්තය නැගිටින්න කලින් ළමාතැනිව නැගිට්ටවන රහස් ක්‍රමයක්. ඒත් ළමාතැනි දැනගෙන හිටියෙ එයයි මේ වලව්වෙ උදෙන්ම නැගිටින්නෙ කියලා. ඒ රහස අදත් වලව්වෙ රහසක් මිසක් ඒක කිසිම මිනිහෙකුට දැනගන්ඩ හම්බෙන්නෙ නෑ. ඒ රහස යන්ඩ ඕනෙ ඊළඟ ආයම්මට. ඒත් මගෙන් පස්සෙ නව ආයම්මෙක් ඕනෙ වුණේ නෑ. මේ වලව්ව විනාස වෙන්න පටන් ගත්ත. විනාස වෙන්න පටන් ගත්ත වලව්වකට මොකටද ආයම්මෙක්. මමයි ඒ නිසා මේ ලෝකේ අවසාන ආයම්මා."

ඒ දැනෙනන වේදනාවට ඉකිගහනව වෙනුවට ආයම්මට මිදුලෙ පඩියක ඉන්දුණා. එයා ඇඳත් හිටියෙ

බොස්තරැක්ක ගවුමට සමාන ගවුමක්. ඒත් අර තරම් ඒක පිම්බිල නැහැ. කඩා හැලෙනවා. හැබැයි දිගයි. ඒ ඇඳුමට පුළුවන් තවමත් පොළොවේ ගැවී නොගැවී යන පිහාටුවක් වගෙ සැරිසරන්ඩ. ආයම්මා කුදු ගැහුණ නොන්ඩි ගගහ ඇවිද්දත් ගවුම එහෙම ගියෙ නෑ... මම හිතන්නෙ ඒක අයිති වෙලා තියුණා වෙනත් කාලයකට. රහස් කාලයකට. ගවුමෙ හැම දාරෙකම තිබුණා රේන්ද ගෙත්තම් කිහිපයක්ම.

"මමයි පොඩි හාමුගෙ තාත්තයි හැදුණෙ වැඩුණෙ එකට. ඉස්සර ලොකු හාමු දඬු කඳේ ගහල තියෙනව ගමේ වැරදි කරපු එක එකාට. එයාලට කසයෙන් තලනව කරපු වැරදි පිළිගන්නකන්. මගෙයි පොඩි හාමු මහත්තයගෙ ඇස් ඉස්සරහ විටම ඒවා සිද්ධ වුණා. ඒත් දවසක් මගෙ අතිනුත් මහ වැරද්දක් සිද්ද වුණා. එතකොට අපි දෙන්නට වයස දහයක් දොළහක් විතර. මගෙ අතින් ඒ සිද්ධ වුණ වැරැද්දෙන් පස්සෙයි පොඩි මහත්තය හාමුගෙ තාත්ත එක්ක මම ආදරෙන් බැඳුණේ."

"මොනව ආයම්මෙ මොනවද මේ කියන්නෙ... අපෙ තාත්තයි ආයම්මයි..." පොඩි හාමුගෙ උගුර හිරවුණා.

"මොකද්ද ඉතින් සිද්ද වුණ වැරැද්ද?" ආයම්මගෙන් මම ඇහුවා.

"මමයි එයයි දවසක්..." ආයම්ම කියවන්න ගත්තා. එතකොටම හාමු මහත්තයා කඩාගෙන පැන්නා.

"මොනවද මේ කියන්නේ? එයා, මෙයා, වුණේ කොහො..." හාමු මහත්තය කට අරින්න යද්දිම එතකොටම මගෙ අතින් හාමුගෙ කට වැහුවා. මං වගෙ මිනිහෙක්ට හාමු මහත්තයෙක්ගෙ කට වහන්න පුළුවන් තරමට මේ සමාජය ජයග්‍රාහී වුණේ මොන තරම් දේවල් වුණයින් පස්සෙද? දැන් මට පුළුවන් ඒකගෙ කනේ උනත් ඇඟිල්ල ගහන්න. ඕනෙ නම් නහයෙ, ඕනෙම නම් නොගැසිය යුතුම තැන. ඉස්සර මේ රටේ දේසපාලනය මෙන්න මේ වලව්කාර පවුල් කිහිපය අතරේ. ඒව ඇත්තටම ආර්ථික පවුල්. ඒ සල්ලිවලට මතවාදයක් තිබුණෙ නැහැ. තිබුනේ කුල ගැටුමක්. කුලවාදයට එරෙහි සටන පටන් ගත්තෙ පහත් කුලේ අය සල්ලිකාරයන් වුනයින් පස්සෙ. කුලවිරෝධය කියන්නෙ ඒ අඩුකුලේ මිනිස්සුන්ගෙ සල්ලි සුජාත කරවන සටනක්. ඒ නිසා එවුන් දේශපාලනය තෝරගත්ත. පස්සෙ ඒක මුළු රටේම දේශපාලනය වුණා. පස්සෙ කුල විරෝධය නූතන ලක්සනයක් උනා. මානවවාදී උනා. රටේ හැම මිනිහෙක්ම ඔය පවුල්වල මතවාදය කරේ තියන් වගේ දුවනවා. නිවන් දකින්න පිං දම් පුරන්ඩ හදනවා.

හාමු මහත්තයො, දැන් ඔයාට තියෙන්නෙ ආයම්ම කියන දේ අහන්ඩ... එයාගෙන් ඉගෙන ගන්ඩ, බැරි නම් වැනසිලා යන්ඩ... ඒ නිසා හොදට අහගන්ඩ, එයා කියන්නෙ ඔය වලව්කාර හැමෝගෙම බේදවාචකවල දහම. මගෙ අතට දැනුණා මිනිහා හයියෙන් හුස්ම ගන්නවා. සමහර කට වැහීම්වලින් අර වගෙ ප්‍රඥාවන් බිහිවෙනවා.

කේකේ ශ්‍රීනාත්

"හාමු මහත්තයා පිටිපස්සෙ තිවුන ගං තොටුපළේ සෙල්ලම් කර කර හිටියා, ඒක හැංගිමුත්තමක්. මාව හොයන්න වාරේ ආපුවහම මම හැංගුනෙ ගඟේ බැඳල තිබුණ කොටයක් අස්සෙ. ඉතින් මාව කොයිතරම් හෙව්වත් හාමුමහත්තයට මාව හොයාගන්ඩ බැරි උනා. ඒත් එක වෙලාවක හාමු මහත්තය මගෙ ළඟටම ආවා. මම හිටියෙ කොට දෙකක් අතර වතුරෙ හැංගිලා. හාමු ළඟට ආව ගමන්ම මට හිතුණා බය කරන්ඩ."

"ඒ කාලෙ කැලණි ගඟේ හරිම කිඹුල් කරදර. කොටත් අස්සට කිඹුල ඇවිත් අව් තපිනවා. ඒත් කිඹුලා නම් මිනිහෙක්ව අරගෙන ගියේ නැහැ. මොකද ඒ කාලෙ කිඹුල්ලු දෙන්නෙක්ට කෑම දෙන්න 'හිටත්' පුරුදු වෙලා හිටියා. සමහර දවසට කෑම ඉල්ලගෙන ඒ කිඹුල්ලු දෙන්න එනවා ගේ පිලිකන්නට. ඒ තරමට හීලෑයි මිනිස්සුන්ට. වලව්වෙ හාමුගෙ මේජසට ලැබුණ හැම්දාම නොහෙත් හරි කොටා ගත්ත මස් ගානයක් දෙකක්. ඉතින් උන් හිටියෙ හෙන විසාලෙට. දවසක් මං දැක්කා ඒ කිඹුල්ලු දෙන්න වලව්වෙ මිදුලටම ඇවිත් හාමුමහත්තයව හොයනව. උන්ට පුළුවන් උනා නැට්ටවලින් හිටගන්නත්. කිඹුල්ලු දෙන්නෙක්ට පුළුවන් දූරතල් බලූ පැටව් වෙන්නත්. මේ වලව්වල පුදුම හිතෙන දේවල් වෙන එක නවත්තන්න ඒ කාලෙ කාටවත් බැහැ."

"ඉතින් මං ළඟට ආපු හාමුමහත්තයව බය කරන්න මට බැරි නම් මං හාමුමහත්තයගෙ කවුද? මම එක

පාරට වතුරෙන් මතු උනා කෑ ගහගෙන ගොරවගෙන... බය වෙච්ච පාර හාමු මහත්තයා වැටුණා වතුරට... හාමු මහත්තය කෑ ගැහුවෙ අර කිඹුල්ලු දෙන්න ගැන මතක් වෙලා එක දිගට... ඒත් ඒක කෑ ගැහිල්ලක් නෙවෙයි. බය වැඩි කමට ඒක කාටවත් ඇහෙන එකක් නෙවෙයි. හීනයකදි බය වුණා වගෙ ඇහුණෙ මට විතරයි. මට තරම් ඒකට හිනා ගිය කෙනෙක් නව හොයාගනිඩ නැහැ... වතුරෙ පීනගන්න අමතකවෙලා දඟලන හාමුමහත්තයට මගෙ හිනාව දැක්කමයි සිහි ආවෙ.''

''ඉතින් එදා ගොඩට ආව හාමු මහත්තයා, ආව ආවමයි, මාත් එක්ක පටන් ගත්තා ඒ අමුතු සෙල්ලම. වරදක් කරපු කෙනෙක්ට මෙහෙ අය දෙන දඬුවම. ඒ තමයි කසයෙන් පහර දෙන එක. ඔක්කොම ඇඳුම් ගලවලා කසයෙන් පහර දෙන එක. එදාම හවස පොල් වත්තෙ ඈත කොනක, තිබුණා මහ පොල් වළක්. මේ පොල් වළ තමයි වදකාගාරය. ඒ සෙල්ලම පටන් ගත්තා. සෑහෙන කාලයක් පුරාවට පොල් වළෙන් පස්සෙ පස්සෙ මේ වලව්වෙ කාමරවලත් සිද්ධ වෙන්න පටන් ගත්තා. ළමාතැනිලා කොච්චර ආව ගියත් ඒව සිද්ධ උනා. ලොකු ආයම්මා ඒව දැනගත්තෙ මරණෙන් පස්සෙ වෙන්ටෑ...''

''අනිත් වලව් වගෙ නෙවෙයි මේ වලව්ව, අනිත් ඒවායෙ පරම්පරා පිටින්ම හැඳි ගෑවිලා ගියාට මේ වලව්ව ඒ හැම එකක්ම පැරදෙව්වා. වලව්වෙ හාමු අවුරුදු 90 ක් එක දිගට ජීවත් වුණා. මම ඒ අවුරුදු කාලෙ පුරාවට අර

කසෙන් ගුටි කෑවා. හාමු මහත්තය නැති සමහර දාට මට නින්ද යන්නෙත් නැහැ."

"ඒත් දවසක.." ආයම්මගෙ උගුර හිර වුණා. හිර වුණ ගතිය කැස්සකට පෙරළුණා. ඒක මහා කැස්සක් වුණා. ඉතින් කවුරුත් එයාගෙ පිටට තට්ටු කරන්ඩ දන්නෙ නැද්ද? දන්න කෙනෙක් ඉන්නව නම් ඉදිරිපත් වෙන්න්ඩ. ඒත් කවුරු ඉදිරිපත් වෙන්නද? මේ වගෙ වයස්ගත මිනිස්සු ඒ පිටට තට්ටුව නැතුව කොයිතරම් කල් ජීවත් වෙනවද?

ආයම්මෙ ඒ දවසෙත් තමයි සියලු මිත්‍යාවන් ආරම්භ වුණේ. සියලු මනස්ගාත ආරම්භ උනෙ. එතකං තිබුණෙ සුන්දර ලෝකයක්. සුන්දර ලෝකයක් කියන්නෙ සියලු මිත්‍යාවන් බිඳ දැම්ම තැනකට. ආයම්මේ මේ වෙනකන් ඔය ඇද වෙලා තිබුණ කොන්ද, කෙළින් උනේ කොහොමද? අන්න ඒ තරම් සුන්දරයි ඒක.

පුදුමයකට වගෙ එච්චර වෙලා ඇද වුණ කොන්ද කෙළින් වෙලා තිබුණා. හැමෝටම පුදුම හිතුණා. මගෙ සූස් එක මම ගන්නෙ කාටත් හොරා.

"අපේ බේබි දවසක් ලොකු හාමුගෙ කසයත් අරගෙන වලක් හාරනවා දැක්ක. මම දැක්කා එදා බේබි ළඟ තිබුණ වියරුව. ඒ වියරුව ළඟට මම ළං වුණේ නෑ... මං දැනගත්තා මොකක් හරි විදියකින් එයා මේ දේ දැනගත්ත බව. අපිට අපේ සෙල්ලම් කරන්ඩ මරණයවත් බාධා වුණේ නෑ. ඒත් එදා මුළු වලව්වම හෙල්ලිලා ගියා.

මම ඒ බව ගිහින් කිව්ව ලොකු හාමුට. එදා තමයි වලව්වෙ හාමු අපිව දාල ගියේ."

"හත් දවසකට පස්සෙ මම කසේ ගොඩ ගත්තා. මෙන්න." කියලා ආයම්ම තමන්ගෙ ඇඳුම් ඔක්කොම උනන්න උනා. අනේ ඒ වයස්ගත මැහැල්ලගෙ ශරීරය අපි දැකගත්තා. ඒක කස පහරවලින් රටා මැවිලා තිබුණා. ඒක කසයකින් ඇන්ද චිත්‍රයක්. එයා ඒක ආදරයෙන් හංගගෙන හිටියා. එයා තාමත් නොමැරුනෙ ඒ කස පහර නිසා වෙන්ඩ පුළුවන්... මම හිතන්නෙ මේ වලව්වට තවමත් පුළුවන් අර ඉස්සර බැබැළුනා වගෙම බැබළෙන්න. මේවා ගරා වැටුණෙ රටේ අලුත් ආර්ථික පරපුරක් හැදුන නිසා නෙවෙයි. ඒවායේ සම්පූර්ණයෙන්ම තිබුණෙ මේ වගෙ ප්‍රශ්න. මම ඒක දැනන් හිටියා. ඒත් දැන් ඒවා ගරා වැටෙන එකට තියෙනව සෑහෙන තරම් විප්ලවවාදී කෝන්තර...

කසේ තිබ්බෙ ඉනේ බැඳගෙන. ඇත්තටම ගැහැනියකගෙ ආභරණයක් වෙලා ඒක. ගැහැනියකට පිරිමියා කියන්නෙ තමන්ගෙ ඇඟේ පැලඳගෙන ඉන්න ආභරණයක්. ගැඹුරෙන්ම සැණකෙළියක්. මේ සැණකෙළිය ඉනේ බැඳගත්තම, ඒකත් මොන යකෙකුටවත් නොපෙනෙන්න, මොන තරම් දේවල් විනාස වෙලා යනව ඇතිද. මේ වලව්වට වෙමින් යන්නෙත් අන්න ඒ ටික... සමහර සඟවාගෙන ඉන්න දේවල් නිසා ලෝකය සුරැකෙනවා, සමහර දේවල් නිසා ලෝකය ජරපත් වෙලා

යනවා. ජරපත් ලෝකයයි සුරුකුණු ලෝකයයි සඟවා ගැනීම තුළ ක්‍රියාත්මක වෙනවා. සැඟවීමක පරිපූර්ණ අර්ථය ඒක. නැතුව මේ හොරුයි ලෝබයොයි ලිංගික විපරීතයොන්ගෙයි හැංගිලි නෙවෙයි.

ඉතින් මහා කාලයක් සඟවාගෙන හිටපු රහසක් එළියට දැම්මම අකුණු ගහන්නෙ නැද්ද? වැහි වහින්න ඕනෙ නැද්ද? අලිං කුංචනාද කරන්න ඕනෙ නැද්ද? ඉතින් මේ හැම දෙයක්ම එදා සිද්ධ උනා. ඒ සුන්දර දෙය විතරක් නම් කමක් නෑ කියමුකො, අදින් පස්සෙ මේ මැහැල්ල ජීවත් වෙන්නෙ කොහොමද?





දැන් කවුද මේ කසය අතට ගන්නේ?

දහිරියක් තියෙනව නම්

ඉස්සරහට එන්ඩ

ඉතින් කසය ඉනෙන් ගලවගෙන ආයෙ මම ගියා කාමරේට. කසය දැක්ක ගමන් කවි කාරයගෙ ඇස් ආයෙත් උඩ ගියා, මොන විකාරයක් ද මේ, ආ මහත්තයො, මිනිහ අහන්න පටන් ගත්ත. මට කියන්න තිබුණෙ මෙච්චරයි. "දුවව බේරගන්නඩ ඕනෙ නම් ටිකක් හිතල වැඩ කරන්න."

ඒත් මිනිහට හිතල කරන්න විශේෂ දෙයක් තිබුණෙ නෑ. තිබුණෙ වැඩේට සහභාගි වෙන්න විතරයි. කසය දැකපු ගමන් මිනිහා තමන්ගෙ අයිතිවාසිකම් ගැන කතා කරන්න පටන් ගත්තා. කට ඇද වෙලා ගිහින් මැයි කම්කරුවෙක් වගෙ කන් දෙක මෑත් වෙන්න පටන් ගත්ත. ඒ නිසා ඊ ළඟ මොහොතේ සිද්ධ වුණා කවියව බලෙන්ම අරගෙන ගිහින් ගැට ගහන්න. මේ හැම දෙයක්ම සිද්ධවෙන හේතුවක් තියෙනවා. ඒවට අපෙ වේදනාවන්

සම්බන්ධයි. සමහර වේදනාවන් තියෙනව සම්පූර්ණ නොවුණ. සම්පූර්ණ නොවුණ වේදනාවන් වලට පුළුවන් තරම් ඉඩ දෙන්න ඕනෙ ඒව සම්පූර්ණ කරන්ඩ.

අනිත් එක මානව අයිතිවාසිකම් කියන බොරුව, මේ දශකයේ හැම කවියෙක්ම පැටලිල ඉන්න සහශ්‍රයෙ දහම, ඒව එක්ක රස්තියාදු වෙවී ඉන්න කොට බිහිවෙන මහා කාව්‍යය, තමන්ගෙ මෝඩකම් මලමොට්ටලකම්, ඥානවන්තයෙක්ට බාර දුන්නම නොවෙයිද, ඒවාට උන් මානව අයිතිවාසිකම් කියල නම් තබන්නෙ? හරියට, පොඩි එවුන්ට නම් තියෙනව වගේ. ඔබට සැහෙන බඩගිනි බවත්, කුසගින්නේ සිටීම අසාධාරණයක් බවත් ඔබ කියාවි. ඒත් ධෛර්ය සම්පන්න ස්වාධීන මිනිහෙක්ට නම් ඒක ඇහෙන්නෙ "මට නම් ඔබව උයාගෙන කෑ හැකිබවත්, මගෙ බඩගින්න මම ඉවසන්නේ, නොපි බඩගින්නෙ සිටින නිසත්ය" කියලයි. මානාවවාදය දුර්වල දෙයට නොවී මනුෂ්‍යත්වයෙන් තොරවූ දේට ආරාධනා කළ යුතුයි... ඉතින් මේ මානව අයිතිවාසිකම් කියන්නෙත් මහා අමනුස්ස දෙයක් නෙවේද? ගැනියෙක්ට මිනිහෙක්ව අල්ලන්න බෑ, මිනිහෙක්ට ගෑනියෙක්ව ඉඹින්න බැහැ.

ඉතිං, කවියව රෙදි පටිවලින් බැඳල දාල ගත්ත අර දෙන්නගෙ මංගල රෑ කාමේරට අල්ලපු කාමරේට. වලව්වක කාමර දෙකක් අතර දුර, හරිම දුරයි උනාට, ඒවයෙ තියෙනවා අල්ලපු කාමරේට මේ කාමරේ බලන්ඩ

පුළුවන් ඕනෙ තරම් හිල්. ඒ හිල්වලින් පේනවා විතරක් නෙවෙයි ඇහෙනවා. විවිධ සත්‍යයන් කම්පනය විදියට ගලාගෙන යනවා. සත්‍යය පෙනී සිටින්නෙ කම්පනය විදියට. සත්‍යය කෝමත් එහෙමයි...

ඒ කාමරේ අයිතිවෙලා තිබුණෙ ලොකු හාමුට. ලොකු හාමු තමන්ගෙ කාමරේම තියාගෙන හිටියා පොඩි කාර්යාල කාමරයක්. ඉතින් කවියව කාර්යාලයෙ තියල ගැට ගහපු මම දොර වහ ගත්ත. අර බලවත් කසය දිග ඇරල කම්මැලි ඇරල කිහිපවතාවක් ගස්සලා හිරි ඇරලා ගත්ත. ආයෙත් අහසේ අකුණු සැර වදින්න ගත්තා. ඔවු මේ කසය තිබුණෙ සෑහෙන කාලයක් අඩපණ වෙලා. තමන්ට තමන්ගෙ මුල් මහිමය අහිමි වෙලා. අද මගෙ අතින් ඒක දිග ඇරෙනවා. මකුළු දැල්වලින් පිරිල ගිය දුර්වර්ණ වුණ කසය, ඉරි තැලිල මලකඩ කාල වලව් බෙට්වලින් ගඳ ගහන වලව්ව, හුස්ම ගන්නව වගෙ දැනුණා. මගෙ ඇඟින් දොර වැහුණා. කවියයි මමයි මේ කාමරේ, බේබියි දෝණියි ඒකට අල්ලපු කාමරේ තනිවෙලා.

කවියා සුසුම් හෙළනවා. එහෙනම් ඕනෙ දෙයක් වෙච්චාවෙ කියලා. මම පටන් ගත්තා... කසය හොඳට කරකවල අරගෙන ගැහුව කවියගෙ පස්සට, අහන ගමන් පළවෙනි ප්‍රශ්නය...

එළදෙනගෙ නම කියන්ඩ? මම ඇහුවා .

"බෑ.." කවියගෙ උත්තරේ උනේ ඒක.

"කියපිය එළදෙනගෙ නම?" මම ඇහුවා .

''බෑ.'' කවියා ආයෙත් බෑ කිව්වා.

ගැහුව තව එකක්. "කියපිය"

"මේක මානව අයිතිවාසිකම් කඩ කිරීමක්. තමුසෙත් අර එළදෙන වගෙමයි. කිසිම විචාර බුද්ධියක් නෑ, මානුෂීය නෑ... තමුසෙ ඇයි මට තලන්නේ" කවියා කෑ ගහනව.

"කියපන් යකෝව්... මොකද්ද එළදෙනගෙ නම.'' මම සැර උනා. ඊළඟ එක ගහන්න ගිහින් වළක්වා ගත්ත. මොකද කසය හරියට අහුවුණේ නෑනෙ... ආයෙ ගත්ත පටලල කස පහරක් පුරවල රවුමට. මිනිහට තවමත් හිතාගන්න බැරුව ඇති, පාරෙදි හම්බුන මං වගෙ මිනිහෙක්ගෙන්, ඊළඟ මොහොතේ කසයකින් පහර කන්න තරම් ඉරණමකට කොටු වුණේ කොහොමද කියලා.

"සමන්ති සමන්ති සමන්ති" කවියා කිව්වා.

මිනිහා කෑ ගහන්ඩ පටන් ගත්තා. ලෝකයෙ පළවෙනි වතාවට මහා මානවවාදී අධි සංවේදි කවියෙක් තමන්ගෙ එළදෙනගෙ නම කිව්වෙ අන්න එහෙම.

හරි දැන් කියපන් ඇයි? දුන්නා කසපහරක් එක්කම "ඒකිට එළදෙන කිව්වෙ ඇයි" අහලා.

"මට මතක නෑ. මම දන්නෙ නෑ. ඒකිට ඕනෙ උනෙ මගෙන් පළිගන්ඩ. මට ඕනෙ උනේ නෑ හරකෙක් වෙන්ඩ. මට ඕනෙ උනේ නෑ තණ කොළ බුදින්න.''

"ඇයි උඹ ඒකිට එළදෙන කියන්නෙ කියාපිය." මම අහන්න ගත්තා ආයෙත්.

"ඒකි එළදෙනක් වගෙයි." කවියා කියවනවා.

ඒකි එළදෙනක් නම් කියාපිය ඒකිගෙ හැඩ රුව, මම ඇහුවා.

කවියා කෑ ගහනව මහ හයියෙන්. මූට අර ලස්සන ගෑනියෙක් එළදෙනක් වුණේ කොහොමද? අර තරම් ලස්සන දුවෙක් ලබන්න මොන තරම් ලස්සන ගෑනියෙක් එක්ක මූ බුදියගෙන තියෙනවද? අවසානෙදි මේකා පිස්සෙක් නෙවෙයි කවියෙක්. ඉතින් මම දිගටම තලනව මේකාට කසයෙන්..



''ඒකි මාවයි මගෙ අම්මිවයි වෙන් කරා. මගෙ අම්මව මරාගත්තා'' කවියා කෑ ගහල උත්තර දුන්නා.

කවියා දෙන හැම උත්තරයක්ම ඇහෙනව කාමරෙන් එහා පැත්තෙ ඉන්න දෝණිට. "අප්පච්චිට ගහන්ඩ එපා." හැම කසපහරකට පස්සෙ ඇහුණත් එහෙම, පස්සෙ ටික ටික ඇහෙන් නැතුව ගියා ඒක. "කෙනෙක්ට පැහැදිලි චිත්‍රයක් එන්න කලින් හැම වෙලාවෙම ඒකට සූදනම් වෙන හිතක හැටි ඒකයි. සද්දෙ අඩුවෙලා ශාන්ත වෙලා විදුලියක් වගෙ ඇදිල යනව තමන්ගෙම අතීතෙ තිබුණ සියුම් සියුම් දේවල්වලට. ආයෙ ආයෙත් තලන ගමන් කසයෙන් නවත් චිත්‍රය පැහැදිලි වෙනවා. චටාස් පටාස්...

ඉතින් කියපන් උඹේ කැත අම්මව මරන්න අර ලස්සන ගෑනිට නිමිත්තක් ?

"ඒකිට තිබුණෙ හරක් ගති.'' කවියා කිව්වා.

"මං යෝජනා කරනවා උඹේ අම්මි තමයි මහ හරකී කියලා...'' මම කිව්වා.

"නෑ නෑ මගෙ අම්මී හරකී නෙවෙයි. අම්මි මැරෙද්දි මට කිව්වෙ, මේ ගෑනි එළදෙනක්. ඔය එළදෙනගෙන් පරෙස්සම් වියන් කියල.'' කවිය උත්තර දුන්නා.

සෙල්ලම් කරන්ඩ එන්න එපා. උඹට මොනවද ඔතෙ උඹේ අම්මියි මහ හරකී කියල පිළිගන්ඩ... මම ඇහුවා.



"මේ වද දෙන එක නවත්තපිය. මම පිළිගන්නම් මගෙ අම්මී හරකී කියලා." කවියා උත්තර දුන්නා

"ඉතින් කියපන් උඹේ අම්මි කවුද?" මම ඇහුවා.



"හරි, එහෙනම් කියපන් ලෝකෙට ඇහෙන්නත් එක්ක උඹේ සමන්තිගෙ රූව ගුණ වරුණාව?" මම කිව්වා.

ඒකට කවියට කඳුළු එන්ඩ ආවා. ඒත් ඒ කඳුළු වැටුණෙ ඒකගෙ අම්මගෙ නාමයෙන් මිසක් සමන්තිගෙ නාමෙන් නෙවෙයි. කියපන් සමන්තිගෙ ගුණ වරුණාව...

"ඒකිගෙ ඇස් පුංචියි. ඒ ඇස්වල තිබුණා ලස්සන හඬක්. ඒ වගෙමයි කට හඬ, ඒ වගෙමයි ඇඟෙ රූව. මට දැනුණෙම වෙන ලෝකෙකින් ආපු එකියක් වග. ඉතින් මට නින්ද ගියේ නෑ. ඒකී හැම රෑකම ඇවිත් මගෙ නින්ද හොරා ගන්නවා. මම ලෙඩ වෙන්න ගත්තා. අම්මිට ඒක දැනෙන්න ගත්ත. දැනෙන්න ගත්ත විතරක් නෙවෙයි මං ළඟ තිබ්බ අම්මිට ඒකිගෙ රූපයක් පවා අහුවුණා. අම්මිත් ලෙඩ වෙන්ඩ ගත්ත . ඒකී ඒ තරම්ම ලස්සනයි."

ඉතින් ඊට පස්සෙ

"ඊට පස්සෙ මම තීරණය කරා මේ ගැනිවම බඳිනව කියලා. මගෙ පපුව පැලෙන්න තරම් වේදනාවක් ගෙන දෙන මාව මග පරින ගෑනිව මම කොහොම ද අයිති කරගන්නෙ. මම කරන්න පුළුවන් හැම සැලසුමක්ම යෙදුවා. මම පටන් ගත්ත කවි පවා ලියන්ඩ. බිරියක් හොයාගන්ඩ කවියෙක් වෙන එක ඇර අවසානෙට තිබුණෙ නෑ වෙන විසඳුමක්... අවසානෙට ඒකිට බැරි උනා මගෙ කරදරෙන් බේරෙන්න. ඒකි අන්තිමට මට කැමති උනා.''

"ඉතින් උඹගෙ අම්මි මැරුණෙද එදා?" මම කිව්වා.

"ඔයා කොහොමද ඒක දන්නෙ? ඔයා කොහොමද ඒක හරියටම දන්නෙ?'' කවියා මගෙන් අහනවා.

දුන්න තව කස පාරක් පස්ස පැත්තටම.

ඉතින් කියපන් ඒකිගෙ රුව ගුණ? හයියෙන් මම තව තවත් ඇහුවා. දෙවඟනට මේ හැම එකක්ම ඇහෙන්න ඕනෙ.

"ඒකිගෙ තොල්. මම ඒවා ඉරුවෙ මගෙ බඩගින්නට. මගෙ අම්ම මට නැති වුණ දුකට දවසක් මම ඒව හැපුවා. ඒකි හිතුවෙ ඒක වුණෙ මගෙ ආදරේ වැඩිකමට කියලා. මම ඒකිගෙ තන පුඩුවලට අතක් තිබ්බෙ නෑ... ඒවා ලස්සනයි. ලස්සනම ලස්සනයි. ඒත් ඒවා හරිම බයංකරයි. අම්මි හරකී කිව්වෙ ඒවයෙ තියෙන මායාකාරී බව නිසයි. අම්මි දන්නව අනිත් ගෑනු ගැන. දවසක් තාත්ත ගෙදර

ආවම තමයි දැනගත්තෙ මගෙ අම්මගෙ බලවත්තකම. තාත්ත එදා දණ ගැහුව. එදා තාත්තා කියන්න ගත්තා ඒනාක් කරපු වැරදි ඔක්කොම. මගෙ තාත්තත් කවියෙක්. ඒවනකොට ඒ තරම් කවිකාරකමක් කාගෙවත් හිතක තිබුණෙ නෑ... ඒ නිසාම එයාට තිබුණා ගොඩක් ගෑනු උදවිය සමග සමීප ඇසුරක්. එදා තාත්තා දාල ගියා අපිව... එදයින් පස්සෙ එයා අතුරුදහන්. මහා කවියෙකුගෙ අතුරුදහන් වීම කියලයි ප්‍රසිද්ධ වුණේ ඒ ගැන. ඉතින් ඒ මගෙ දෝණිගෙ සීයා..."

"හරි ඇති ඇති නවත්තපිය. දැන් කියපන් මංගල රැය ගැන." මම විමසිලිමත් වුණා ඒ දවස ගැන.

ඒක කියන්න හදනකොටම වාදනය වෙන්න ගත්ත හරිම ලස්සන සංගීතයක්. හරිම ශෘංගාරය දනවන එකක්. ඒක ප්‍රශ්නයක් විසදන්න යනකොට නැගෙනව තවත් ප්‍රශ්නයක්... මම බැලුව ටිකකට දොර ඇරල කාර්යාල කාමරේ දොර... මොකද වෙන්නෙ මංගල රෑ කාමරේ සද්දෙට.

එතන තිබුණෙ ටිකක් වගෙ වියරු වුණත්, ලෝකෙ ලස්සනම සිප ගැනීම. ඒ අලුත බැඳපු ජෝඩුව. ඉතින් මං කරදර කරන්නෙ මොකටද, හෙමීට දොර ඇරල තිබ්බා. ඒ තරම් ලස්සනට උන්ගෙ හැඟීම් පිබිදිලා. උන් දෙන්නට දැන් කවුරු බැලුවත් මොකටද. මම දන්නෙ නෑ මේ වගෙ හැඟීමක් පරක්කු බෝතල් කීපයකටවත් දෙන්න බැරි වේවි මට.

මම කසෙන් එක පාරක් කවියට දුන්නා. ඒ හඬට එවුන් දෙන්නා නව තවත් නද වෙනවා. ආයෙත් කස පහරවල් දෙකක් එක පිට. මෙන්න එවුන් දෙන්නා පැන්නා මංගල යහනට. මෙන්න නව කසපහර තුනක් එක පිට. ඒවුන්ට එවුන්වම ගලවගන්නවත් බැරි තරමට ආදර ගැට දාගෙන. දූ කුමරිගෙ කොණ්ඩෙ ඇඟපුරාම මනමාලයව ඔතාගෙන ආයෙ ලිහා ගන්ඩ බැරි වෙන්න. සංසාරෙට වඩා හයියයි ඒ බැඳීම... අඩුම ගානෙ මමවත් ඉඳල නෑ ඒහෙම. ඉතින් ලස්සන දේවල් ආයෙ ආයෙ වතාවත් පතන එක නෙමෙයිද සුන්දරත්වයම පතන මිනිහෙකුගෙ විදිය.

''ගහපිය හයියෙන් මට තව හයියෙන් ගහපිය'' ඒ පාර කවිය එක පාරට කෑ ගහන්ඩ ගත්තා .



ඒ පාර මේකාට මොකද වෙලා තියෙන්නෙ, මම හිතන්නෙ මිනිහාට තේරෙන්න අරගෙන වැඩේ. වේදනාව සම්පූර්ණ කිරීම.

"මට ඕනෙ මගෙ ගැනිව, මට කවදාවත් ඕනෙ නැති විදියට, මේ හැම දේටම මුල මමයි. මමයි කිව්වෙ ඒකිට හැමදාම එළදෙන. දෝණිව අරන් දික්කසාද වුණෙත් ඒ නිසායි. සමන්ති හරිම දුප්පත්... ඒකි දුප්පත් එකී. ඒකිට බැරි උනා කිසිම දෙයක් කරගන්ඩ.''

ඉතින් මම ආයෙත් කසයෙන් තලන්ඩ පටන් ගත්තා.

"ඒ විතරක් නෙමෙයි එයා උඹට කකුල් පලල් කරා. නිර්ලෝබිව. තමුසෙගෙ හිතේ මොනවා තිබුණාත්. හිතෙ

තියෙන දේවල්වලයි ඇත්තට වෙන දේවල්වලයි මහ ලොකු දුරක් නෑ. හිතන්න පුළුවන් හැම දේම සිද්ධවෙන්න ඕනෙ තරම් ඉඩක් මේ විශ්වයේ තියෙනවා." මම කියාගෙන ගියා.

"ඔව් සමන්ති එදා හිටියෙත් මහ පුදුම සතුටකින්. මගෙ ඇස් දිහා ඒකි බැලුවෙ හරිම සානුකම්පාවෙන්. පොඩි දරුවෙක් වගෙ මමයි හැසිරුණෙ ඒකි ඉස්සරහ. මගෙ මෝඩකමට හේතුව මගෙ අම්මගෙ උජාරුව, තාත්තගෙ නපුන්සකකම. එවුන්ගේ මෝඩකම් වෙනුවෙන් සහතික පත්‍ර පිරිනමපු, මහා උපාධි තොගයක් ගෙනැල්ල දුන්න මල උපාය, මං තරම්ම මෝඩකමක් නෙවේද? තමන්ගෙ අම්මටයි තාත්තටයි ඕන මිනිහා වෙන්නෙ නැතුව, මීට වඩා හොඳයි පූසෙක් බල්ලෙක් පතන මිනිහෙක් වෙන එක. මට ගහපිය මට ගහපිය... තව හයියෙන් ගහපියා..ව්" ඉතින් කවියාට තලන එක හෙමීට නතර කරා. දැන් මූට තලල වැඩක් තියෙනවද ආයෙත්?

කවියට තලන එක නවත්තල මම ගියා මංගල යහන ළඟට. එවුන් දෙන්නා විඳින සතුට වගේ මම කිහිප විටක්ම කැරකැවුණා බොහොම ශිෂ්ට විදියට. ඒ හැම ඇඩියක්ම තිබ්බෙ උන්ට කරදරයක් නොවෙන විදියට, සංගීතය වැඩි කරා ටිකක් විතර තව. එවුන්ට දැන් ඇහෙන්නෙ එවුන්ව විතරයි, පේන්නෙ එවුන්ව විතරයි.

ඔය අතරේ අර ඇතාගෙ, හොඬ වැල ආවා සඳළු තලයෙන් කාමරේ ඇතුළට. මට දැන් වෙනස් කරන්ඩ වෙනව ඒක ආයෙත් මෙහෙම. එක ප්‍රශ්නයක් විසදන්න යද්දි නව නවත් ආශ්චර්යයන්ම මතු වෙනවා හැම වෙලාවෙම. ඉතින් ඒ ඇතාගෙ එක පූජනීය ජල පහරක් වැදුණා මේ දෙන්නට. ඒ ජල පහරෙන් තෙමුණු මේ ජෝඩුවගෙ ඇඟෙහත් දුමක් දමන්න ගත්තා ඒවෙලෙම. ඒ තරමට උණුසුමක් තිබුණා එවුන්ගෙ ශරීරවල. ඉතින් ඇතාගෙ ආශීර්වාදයත් එක්කම..

දුමාරයත් එන්න එන්නම වැඩි වුණා. ඒ දුමාරයෙන් මුළු කාමරයම වැහිලා ගියා. ඇත්තට මීදුම පටන් ගන්නෙත් එහෙමද? මම හිතන්නෙ ස්වභාවධර්මය තවමත් දන්නෙ නෑ ඒ ගැන. පෙම්වතුන්ගෙ ශරීරවලින් නැගෙන්නේ ඒ සීතල මීදුම. ඒ සීතලට තව නවත් ගුලි වෙනවා රස්නෙට. තව නවත් තද වෙන්න ගන්නවා එවුන් හැම වෙලෙම. ඉතින් ඇතාටත් ස්තූතියි ඒ පුංචි දේට.

මම තවත් ලං වුණා එවුන් දිහාවට. එක්වරම දෝණිගෙ ඇස් යොමු වුණා මං දිහාවට. ටික වෙලාවක් මං දිහා බලාගෙන හිටපු ඒ ඇස් එහෙමම පියවුණා. මේ පාර නම් ඒ දෙන්න ගියේ දිව්‍ය ලෝකෙට.



එහෙදි දෙවඟනක්
පරෙවි
පිහාටුවක් පිච්චුවා

මම වලව්වෙන් එළියට බැස්සා. හාමු මහත්තයයි ආයම්මයි දෙන්නා බලාගෙන හිටියා, නිස්සද්දවම කිසිම වචනයක් නොකියා මං දිහාවට. ඒවට ආයෙ වචන තිබුණෙ නැද්ද කොහෙද? මීදුමෙන් පිරුණ මුළු වලව්වම.

"මේ වලව්ව නිතරම මීදුමෙන් වැහෙනවා ඉස්සර. දැන් ඒක ආයෙත් සිද්දවෙන්න පටන් අරගෙන." ආයම්මා කියන්ඩ ගත්තා. ඒ විතරක් නෙමෙයි ආයම්මට ඕනෙ උනා මේ වලව්ව අත ඇරල යන්න. ඇය ගියා වලව්වෙ පිටිපස්සෙ තියෙනව කැලණි ගඟට. ගංතොටුපොළෙ නාමන් පාවෙන අර කොටන් අද්දරට. මං හිතන්නෙ ඇය ඇවිද්දා එදා ගං පතුලටම.

වලව්වෙ හාමු ඇවිත් මං ළඟට "මම හෙටම යනව මගෙ ගැනිව එක්ක එන්න. මට දැනුයි තේරෙන්නෙ මේ

හැම දේම. මම මගේ පුතාව හැදුවෙත් අම්ම කෙනෙක් නැතුව. පුළුවන් තරම් අම්මගෙන් ඈත් කරල තියන්න මම උත්සාහ කරා හැම වෙලේම. මම දැන් දන්නව කෑම බීම වලින් ඇර දෙමව්පියන්ගෙ කුණු ප්‍රශ්නවලිනුත් දරුවො ජීවත් වෙන බව''

ඇතා ආවා මං දිහාවට හෙමිහිට. ඇතෙක්ට සුවිශාල මනකයක් නැහැයි කියන්නෙ කොහොමද, ඒ තරමටම ඒකගෙ ඉව ලොකුයි ඕනෑම තැනක ඇතිවෙන මද කිපිලි ගැන. එවුන් කාගෙ කාගෙත් මද කිපෙන කාලෙ ගැන නොදැන ඉන්නව කියන්න බැහැ කාටවත්ම. ඒකා මගෙ ඉස්සරහ දණ නවල ආචාර කරා. මට උගෙ පිටේ නගින ලෙස කුංච නාද කරා, දෙවතාවක්ම. ඉතින් මම නැංගා උගෙ පිට උඩ. වලව්වෙ හාමු ඉගි කරා මේ ඇතා දැන් ඉඳන් මාත් එක්ක බව.

මම ගෙදරින් බැස්සෙ මගෙ තනි කකුල් දෙකෙන්, ඒත් දැන් ඇතෙක් ඉන්නව මං එක්ක. ඉතින් ආයෙත් පටන් ගන්න ඇවිදගෙන යන්ඩ. ඇතෙක් එක්ක යන්න පුළුවන් උපරිම දුර යන්න පුළුවන් දැන් මට. හැම දේම මුළු මුනින්ම සම්පූර්ණයෙන්ම තේරෙන්න ගන්නම තියෙන්නෙ එකම දෙයයි කරන්ඩ. ඒ තමයි ගෙදරින් එළියට බහින එක. නන්නත්තාරේ යන එක. හැම දෙයක්ම තේරෙන්න ගත්තම සිද්ධ වෙන දේ මේක. මේ වෙලාවේ ඇතෙක් එක්ක නන්නත්තාරේ යන එක තරම් විප්ලවීය වැඩක් වෙන කොහෙද? ටිකක් පරණයි තමයි, ඒත් කොහෙද?

කුංජන නම් ඒ ඇතා එක්ක මම වලව්වෙන් පිටවුණා හෙම්හිට. මේ පාරේ මෙච්චර උසකින් නම් ගිහිල්ල නැහැ කවදාවත්. ඇතෙකුගෙ පිටේ ඇතෙකුට ඕනෙ විදියට ඕනෙ දිහාවකට යන්න. ආයෙ නොඑන්නම යන්න. මං මගෙම ගෙදර හදන්නෙ මේ ඇතා නැවතුන තැන.

මට මතකයි මම ඇතෙකුගෙ බඩ යටින් ගියා පොඩි කාලෙ. අපල දුරු වෙන්ඩ. නරක හීන පේන එකට. ඒක සිද්ධ වුණෙ තිස්සමහාරාමෙදි. එදා ඉඳන් නරක හීන පෙනුන් නෑ මට. එදා මාව අරන් ගියෙ පොඩි මාමා. වට තුනක් ඇතාගෙ බඩ යටින් යන එකට ඉදිරිපත් වුණ එකම කෙනා එයා. ඉතින් එදා හිතුවෙ නැහැ දවසක ඇතෙක් මට හිමි වෙයි කියල, නන්නත්තාරේ යන්න.



අම්මට හිටියා මල්ලි කෙනෙක් එක්ක අයියල දෙන්නෙක්. මේ තුන් දෙනා හැදුණෙ ආච්චි එක්ක. සීයා පොඩි කාලෙදිම කඩුරු හරි වස දීලා මරල දාලා. ඉතින් එදා ඉඳන් යකඩ ගැහැනිය උනෙ ආච්චි. ආච්චි කොච්චර යකඩ ද කිව්වොත්, එයා තමයි මේ ලෝකෙ ඉන්න මායාකාරිම යකඩය. යකඩ වල තියෙන මායාකාරිත්වය මට අවබෝධ වුණෙ ආච්චි නිසා.

මිනිස්සු ශිෂ්ටත්වයට පත් වෙන්නෙ තමන්ගේ ලේ නෑයො එක්ක නිදාගන්ඩ එක නතර කලා වගේ, යකඩ කියන්නෙත් අන්න ඒ තරම්ම සොයා ගැනීමක්. ඉස්කෝලෙදි උගන්නන පොළොව යට තියෙන යපස් උණු කර ලෝහ

තනා ගනී" කියන පාඩමට පස්සෙ, යකඩවලට පුළුවන් උනා මානව ආඩම්බරය බවට පත් වෙන්ඩ. ගමේ උය ඒ කාලෙ ආච්චිට කිව්වෙ මහ හිතක් පපුවක් නැති යකඩ ගැනියෙක් කියලා. ඉතින් මේක ඇහුණෙ අපේ අම්මටවත්, අම්මගෙ අයියල දෙන්නටවත් නෙවෙයි, මේක හොඳටම ඇහුණෙ අම්මගෙ මල්ලිට. ඒ කියන්නෙ පොඩි මාමට. ආච්චිගෙ ආඩම්බරයට.

ආච්චිගෙ මේ තද බවට මාමා ප්‍රතිචාර දෙන්න පටන් ගත්තෙ අමුතු විදියකට. ඒ පිට ගැස්මක් එක්ක. හිටපු ගමන් සෙම දාගෙන ඇදන් වැටෙන දරුවෙක් නිසා, එයාව පොඩි කාලෙ ඉඳන්ම සැහෙන විශේෂ කෙනෙක් උනා. කොච්චර විශේෂද කිව්වොත් වැවේ පීනන එක එයාට සැහෙන හොරෙන් කරන්න සිද්ධ වෙන වැඩක් උනා. සමහර දාට එයා හවස් වෙනකන් ඉඳලා, එයාම හදාගත්ත රහස් තොටුපොළකට පැනලා ඇති තරම් පීනලා පීනලා ගෙදර එනවා. වතුරෙදි පිටගැස්ම හැදුණොත් ජීවිතයට අනතුරුදායකයි. ඒත් එයා හිතුවා වතුරෙදි මිය යන මිනිසුන් ලස්සන මාළු වෙලා උපදිනවා කියලා.

පොඩි මාම බඩේ ඉන්දැද්දි සීයා මැරුණ. මාම මේ ගැන දැනගෙන හිටියා. ගොඩක් අය හිතන්න ගත්තා මාමා සීයට අවාසනාව ගෙනවා කියලා. මාමගෙ කන්වලට ඒක ඇහුණෙ නැතත්, මාමාට එයාලගෙ ඇස්වලින් ඒක කියවන්න පුළුවන් උනා. සීය මැරුණ දවසේ ආච්චි

ඇඩුවෙව නැහැ. ඉතිං ආච්චි යකඩයක් වගේ හිතක් උනාම, ඒක පොළොව යට තියෙන මහ කැත කළු යපස් එක්ක සම්බන්ධ නම්, මාම ලොකුවෙලා පටන් ගත්තා ඊට වඩා දිලිසෙන ලස්සන විටින ගල් අහුලන්න. මොකද එයාට හොඳට ඇස්වලින් හිත් කියවන්න පුළුවන්. ඒ කියන හැම දෙයකම, එයා පාවිච්චි කරේ මැණික් බිස්නස්වලට.

ඇන්තිමට එයා විශාල මැණික් ව්‍යාපාරිකයෙක් උනා. ආච්චිගෙ හිතයි ඇසුයි යකඩයක් වගේ ශක්තිමත්ව දිලිසෙන කොට මාමා මැණිකක් වගෙ ලස්සන ගල් හොයන්න පතල් කැපුවා. මාමට ඕනෙ උනා ආච්චිගෙ යකඩ හිත මෙලෙක් කරන්න.

ඔය පොලොව් යට තියෙන දේවල් උඩට ගන්න ආසාව, ඒක මිනිස් ජීවිතයෙ තැන් කිහිපයකට සම්බන්ධයි. එකක් තමයි කක්කා. ළමයෙක්ට හිතෙන්නෙ නැත්තෙ ඇයි මම දාන මේ කක්කා පොලොවේ අතුරුදන් වෙලා යන්නෙ කොහොමද? මෙතනින් වැලලිලා කොහේට යනවා ඇති ද? ඒ යන්නෙ අපායට ද? ඉතින් කොමත් අපාය තියෙන්නෙ පොළව යට නිසා, අපායට යන්න කලින් මැණික් අහුවෙනවා. ඒ අහු වෙන තැන්වලට කියන්නෙ පතල් කියලා. අනිත් එක තමයි මාමගෙ ජීවිතයෙ හම්බුන ලස්සනම ගැහැනිය. තුන් වෙනි එක තමයි, මාමගෙ පිටගැස්මට බෙහෙත.

ඉතින් අනාගතයේ දවසක මැණික් හොයාගෙන යන්න හිත හදාගත්ත තීන්දුව එක්ක මාමගෙ පිටගැස්ම

නතර වුණා. සමහර වෙලාවට මේක පිටිගැස්සමට ලෝකෙ තියෙන එකම ශබ්දෙත වෙන්න පුළුවන්. අනිත් එක තමයි මාමට හම්බුණා ලස්සනම ගැහැනිය. ඒ තමයි මාලනී නැන්දා. හරියට මැණිකක් හොයාගත්ත වගෙ සතුටක් ඒ වෙලාවෙ මාමට දැනෙන්න ඇති. අනිත් එක තමයි කක්කා.

තමන්ගෙ මළ පහවල ඇඟිල්ල ගහල නැති කෙනෙක් ඉන්නව නම් ඒකා මානසික රෝගියෙක්. කක්ක කියන්නෙ ළමයෙක් ශිෂ්ටාචාරයත් එක්ක ගනුදෙනු පටන් ගන්න පළවෙනි නිශ්පාදනය. ශිෂ්ටාචාරයට මිනිහෙක් සම්බන්ධ වෙනව නම් ඒ සම්බන්ධ වෙන්නෙ මුලින්ම කක්කාවලින් මිසක් නෙළුම් මල් හතක් උඩ ඇවිදල නෙවෙයි. ඇත්තටම මගෙ නම් පිපුණෙ නෙළුම් මල් නෙවෙයි වෙන්ඩ ඕනෙ. ඒ කක්කා බෙටි හතක් වෙන්ඩ බැරි නෑ.

ඉතිං ශිෂ්ටාචාර ගත මිනිසා මුලින්ම කලාව පටන් ගන්නෙ කක්කවලිනුයි චූවලිනුයි කිරි නැතුව යටි ගිරියෙන් කෑ ගැහීමෙනුයි. කලාකාරයෙක් කියන්නෙ මේ තුනට. නැතුව මහ දෙයක් නෙවෙයි. ඔය තුනම තහනම් කරොත් කලාකාරයො හැදෙනව බොරු. චූවලින් අඳින රේඛා, කක්කාවලින් අඹන පළවෙනි මූර්ති, කිරි ඉල්ලල යටිගිරියෙන් කෑ ගහද්දි කට දෙපැත්තෙන් බේරෙන සංගීතයයි එක්ක එකතුවෙලයි මුලින්ම කවිය පටන් ගන්නෙ.

ඉතිං මැණික් වෙලඳාමේ දී සැහෙන තරමක දර්ශනවාදයක් මාමා ඒ වෙද්දීත් අත් පත් කරගෙන තිබුණා. තමන්ගේ අවාසනාව අනුන්ගේ ඇස්වලින් කියවන්න ගිහින් අත් පත් කරගත්තු දර්ශනවාදයක්. ඒ වගෙම යකඩවලට වඩා මැණික්වල වටිනාකම වැඩි බව ඒත්තු ගන්වන්න ගිහින් ඇති වුණ විරෝධයක්. මැණිකක වටිනාකම කියන්නෙ මොකද්ද? දවසක් මාමා මට ඒ ගැන වුණ සියලුම රහස් ටික කියල දුන්නා. ඒ වෙද්දි එයායි ලෝකෙ පෝසත්ම මැණික් වෙළෙන්දා.

"පුතේ මැණිකක් කියන්නෙ දුර්ලභ දෙයක්.. ඒත් ඒවා හරිම ලස්සනයි. දිලිසෙනවා. පාටින් පවා වෙනස්.ඒ වගෙම ඒක කිසිම ප්‍රයෝජනයක් නැති දෙයක්. මැණිකක් වෙන්න ඕනෙ සුදුසුකම් ටික ඕක. ඉතින් මගෙ මැණික'' කියල මාමා මාව ළඟට කරගත්තා.

එදා මාම හිටියෙ මැණිකක් ඔප දම දම. මුළු හම්බන්තොටටම තිබ්බ එකම මැණික් කපන මැෂිම ගෙනාවෙ අපෙ මාම. මම ඒ මැෂිම ඉස්සරහ ඉන්න කොට, දැනෙන ආඩම්බරයම තමයි, මම කලාකාරයෙක් ඉස්සරහ ඉන්නකොටත් දැනෙන ආඩම්බරය.

"ඒව ලස්සන නිසත්, දුර්ලභ නිසාත්, කිසිම ප්‍රයෝජණයක් නැති නිසාත්, ඒවාට පුළුවන් අප දිහාවටම ප්‍රදානය වෙන්න විතරයි. මැණිකක් කියන්නෙ නිතරම අන්න ඔය ටික, ඒක ඒ විදියෙන්ම ප්‍රදානය කරන එක. මේක

හරියට පුතේ ඔයා වගෙ. ඔයා දවසක ගොඩක් යහපත් ගුණවන්ත මිනිහෙක් උනොත්, මිනිස්සු ඔයාට කියයි ඔයා මිණි පහනක් කියලා. මිණි පහනක් කියන්නෙ මැණික් එළියට හඳ ආලෝකය අරගෙන හදන ආලෝකයට. මේ මැණික්, ඉරත් සඳත් සමගි කරවන නිසා මැණික් කියන්නෙ උසස් ගණයෙ යහගුණයකට. මිණි ආලෝකය කියන්නෙ අන්න ඒ ග්‍රහ වස්තූන් දෙක සමගි කරපු දෙයට..."

"ඉතින් ඒකයි මැණිකෙ, ඔයා උසස් ගුණ තියෙන මිනිහෙක් උනාට, ඒක දුර්ලභ දෙයක් උනාට, කිසිම ප්‍රයෝජනයකුත් නැති දෙයකුත් වෙන්නෙ. ඉරත් සඳත් එකතු කරන එක සෑහෙන විස්මයජනක දෙයක් උනත්, පුදුම හිතෙන තරම් දෙයක් උනත්, මොකටද ඒකෙන් කාටවත් ප්‍රයෝජනයක්. තමන්ගෙ අනාගතය ගැන මොකක් හරි බියකින් පෙළෙන, ලෙඩක් දුකක් හැදිච්ච, හැම දේම අසාර්ථක වුණ මිනිස්සු තමයි මේ මැණික්වල වටිනාකම් දකින්නෙ. ඒ ඇර ඇත්තටම මැණිකකින් ඇති වැඩේ මොකද්ද? අන්න ඒ වගෙ තමයි උසස් ගුණ තියෙන මිනිහෙක්ගෙන් වැඩක් තියෙනව ද? ඒ නිසා ඔයාට සිද්ද වෙන්නෙ අර මැණිකක් තමන්ගෙ ආලෝකය අප වෙත ප්‍රදානය කරන්නා වගෙ, උසස්තම ගුණයත් අප වෙත ප්‍රදානය කරන්න. ඉතින් ඒ වගෙ දේකට කවුරු හරි සල්ලි දෙන එක මොන තරම් නිගාවක් ද නේද? ඒනයි මම මැණිකක් ගන්න එන මිනිහෙක්ට කලින්ම ගණන් නොකියන්නෙ."

"ඒ මිනිහා, මැණික අල්ලන විදියට, මැණික ඉර එළියට අල්ලල දිස්නය ගන්න හදන උත්සාහයට, හරව හරව බලනකොට ඇස් ලොකු වෙන තරමට මම ගාණ කියන්නෙ. පුතේ මම මේ දැන් කපන මැණික් ගල, ඒ තරම් වටින එකක් නෙමෙයි. ඒත් මට පුළුවන් මේ එක මැණිකක් විකුණල, ඒ මිනිහව බංකොලොත් කරල දාන්න. තේරුණයි මගෙ මැණිකෙ"

ඉතින් මාමා නවමත් මට කියන්නෙ මැණිකෙ කියලා. නැන්දට කියන්නෙ මාලිනී කියලා. මාමා හොයාගත්ත අනිත් මැණික තමයි ඒ. මාලිනී... ඒ තරම් ලස්සන ගෑනියෙක්, මම දැක්කෙ අම්මට පස්සෙයි. ඉතින් මට ඕනෙ උනා, එයාගෙන් පුතා වෙන්න. ආඩම්බරයෙන් ඔඩොක්කුව උඩ වාඩි වෙලා ඉන්න. නැන්දගෙන් බැනුම් අහන්න. මට හැංගිල ඉන්න ඕනෙ නැන්දට මාව මතක් වෙලා හොයාගෙන එනකං. දවසක් මම තිස්ස වැවේ වතුර යට ගිහින් උඩ ආවේ නෑ, නැන්ද මාව හොයනකන්...

නැන්ද මට පුරුදුකරා තිස්ස වැවෙන් මැණික් ගරන්න. ඒ මාමා අර හොයාගත්තු රහස් තොටුපොළ. ඒක දවසක් වැවේ නෑදැයො සනුහුරේම පීන පීන හිටියා. ඒක නම් පාරාදීසියක්. අපි ඇත්තටම පීනනවට වඩා කරේ මැණික් හොයන එක. මම ටිකක් ගැඹුරට ගිහින් අයියලාගෙ ලක්කලගෙ මැද ඉදන් මැණික් ගරනවා. ඒක වැවක් නෙමෙයි මැණික් නිසා බිහි වුණ මැණික් පොකුණක්.

කේකේ ශ්‍රීනාත්

තිස්ස වැවේ තියෙනව, මැද දූපතක්. එකේ ඉන්නව සුදු ගෝනෙක්. ඒ සුදු ගෝනට කලින් ඒකෙ තිබුණෙ විහාරයක්. ඒ විහාරයෙ තිබුණා මැණික් පුරෝපු නිදන් ගර්භයක්. අපේ කට්ටිය හිතුවා, එයින් මැණිකක් හම්බුනොත් පරම්පරාවම එකපාරම ගොඩ කියලා. ඒ නිසා එවුන් එක්ක මාත් තරගෙට මැණික් හෙව්ව. ඉතින් ඔහොම එක පාරක් මම වතුර යටට ගියා. මම දැක්කා ලස්සන මැණිකක්. ඒ මැණික තැඹිලි පාට එකක්. සෑහෙන විශාල එකක්. මම ගත්ත ඒක අතට.

මොන තරම් යහපත් උසස් ගුණයකින් ඒ මැණික මගෙ ඇස් ඉස්සරහ පෙනී හිටියද කිව්වොත් මට හුස්ම ගන්ඩ පවා අමතක වුණා. මම වතුර යට හිටියෙ උමතුවෙන්. මට අමතක වුණා උඩට එන්න. එතකොටම නැන්දා ඇවිත් මගෙ ඔළුවෙන් ඇදල ගත්ත වතුරෙන් එළියට. මගෙ අතින් මැණික අත ඇරුණා ඒ ඇදපු වේගෙට. මම නාම හොයනව තිස්ස වැවේ හරියටම එතන ඒ මැණික. එදයින් පස්සෙ මට හම්බුනෙ නෑ ඒ මැණික. මට නැන්දට කියා ගන්ඩ බැරි වුණා මම හොයාගත්ත බව ඒ වැවෙන් මතු වුණ ලස්සනම වටිනම මැණික. මං හිතන්නෙ මගෙ ශම් ප්‍රංචි ගොනය පටන් ගන්නෙ එතන. මම කොහොමද ඒ තරම් මැණිකක් අත ඇර ගන්නෙ. නැන්දගෙ මළගම දවසෙයි හොඳ වුණෙ ඒ ගොනය.

මේ මැණික් ගල්

සියුමැලි ය

උද්වේගකර ය

මන් මත්කරවන සුළු ය

ගුප්ත ය

මරණයෙන් පසුවද

මුණ ගැසෙන්නෙ ය

කුංජන සැහෙන අයිතිකාරයො ගොඩක් එක්ක ඉඳලා ඇවිත් නතරවෙලා තියෙන්නෙ අන්තිමට වලව්වෙ. ගැහැනු පිරිමි ඉඟිනවට, ඒ නැගෙන හඬට සංවේදී ඇතෙක් කියන්නෙ රටක සම්පතක් නෙවෙයිද? වෙන ඇයො නම් යන්නෙ පෙරහැරවල්වල. ඒ නිසා ඇත් ගොව්විගෙ කරුමය විසඳෙන්නෙ බුදුන්ගෙ නාමයෙන්. ඒ විතරක් නෙමෙයි ඇතෙක්ව පෙරහැරේ පිළිවෙළට සවන්නෙ ආදරයෙන් නෙවෙයි. මෝඩකමෙන්. පෙරහැරේ යන අලියි සර්කස්කාරයොයි අතර තියෙන්නෙ මහ ලොකු වෙනසක් නම් නෙවෙයි.

දැන් අපි දෙන්න ඉන්නෙ අංගොඩ ඉස්පිරිතාලෙ ළඟ. මහ අඳුරෙ වැස්සත් පටන් අරගන්න ඔන්න මෙන්න. ඒත් වැස්සක් වහිනකොට වහලක් යටට යන්න තරම් උවමනාවක් තියෙන මිනිහෙක් වුණේ නෑ මං. මොකද මම ඉන්නෙ ඇතෙක්ගෙ පිට උඩ. මට දැනුණා ඒ වහින්න එන වැස්සෙත් මාරාන්තික අනුරාගයක්. හුළං හමන එක ගැන තිබුණේ මාර ආදරයක්. ඒක හරියට ගෙදර වගෙයි හැඟීමක්. ඒ වෙලාවට බය කියන්නෙ ගැහැනුන්ගෙ චාරිත්‍රයක්. කලබලය කියන්නෙ පිරිමින්ගෙ චාරිත්‍රයක්. මේ දෙකම එකට වෙනව නම් කාට හරි ඒකට කියන්නෙ මුහුදු රැල්ලක් උඩ පළවෙනි වතාවට හිට ගත්ත මිනිහෙක්. ඒක හරියට මිනිහෙක්ගෙ පැවැත්ම ගැන ප්‍රත්‍යක්ෂ වෙන පළවෙනි වතාව වගෙ වැඩක්... කිසිම කෙනෙක්ගෙ උදව්වක් නැතුව පළවෙනි පාරට මුහුදු රැල්ලක් උඩ හිට

ගන්න හම්බවෙනව කියන්නෙ, අන්න ඒකට... පියාපතක වන් ජීවිතයක්...

මානසික රෝහලෙ ගේට්ටුව මහ විශාල එකක්. මම ගේට්ටුව ඉස්සරහ හිටගත්තෙ, ඒක ඇතුලෙ මාව තේරෙන, මට තේරෙන සියලුම සංවාදකරුවන් ටික ඉන්න නිසා. ඒත් තවත් සියවසක්වත් යාවි එවුන් එක්ක මිනිස්සුන්ගෙ සංවාදය හරිගස්ස ගන්න. ඒ නිසා දැනට ඒකෙ නම පිස්සන් කොටුව. ඉස්සර චීන පන්සල්වල හාමුදුරුවරු පිස්සෙක්ව නඩත්තු කරාලු. මම හිතන්නෙ ඒ යටගියාව නමයි මාව වෙනස් කරේ පිස්සන් ගැන වෙන විදියකට හිතන්න.



ඒත් එක පාරටම ගේට්ටුවෙ දොර ඇරෙන්න උනා. ඒ සුලඟට නම් නෙවෙයි. හරිම පිළිවෙළකට. හෙමීට. එක පාරටම කවුද කෙනෙක් වට පිට බලලා හොඳට, එළියට පැනගත්ත. මං හිතන්නෙ මිනිහ, මාව දැක්ක. ඒ සැණින් දුවන්න පටන් ගත්තා. ඔව් මට තේරෙනව ඒ දිවිල්ලෙ තේරුම. මං හිතන්නෙ මට විතරයි ඒක තේරෙන්න හොඳටම. එයා ඒ දුවනව නෙවෙයි, පීනනවා. මහා සාගරේකට පැනල. නැවේ නම ශිෂ්ටාචාරය. මහ මුහුද කියන්නෙ එකවර අහසක් ගලන ගංගාවලට කියන තවත් නමක්. නැවේ ඉඩ නැති උනාම ඒකෙ ඉන්න අය මේ මනුස්සයව අල්ලල වීසි කරනව තෙරෙක් නොපෙනෙන අර මහ මුහුදට.

ඉතින් එයා පීනනවා දිගටම. පීනල පීනල ගිහින් පැමිණෙනව දූපතකට. පළවෙනි වතාවට එයා හොයාගන්නවා එයාගෙම තැන. එයා විතරක් දන්න තැන ඒක. ඒත් ඒකට කියන්නෙ පිස්සුව. රටවල් දෙකක් අතර මැද දේශ සීමාවක හිටගෙන ඉන්නව වගෙ එකක් ඒක. එයා හැර මේ ලෝකෙම පිස්සු හොඳම එකත් ඒ සීමා දෙක මැද ඉන්න එක.

පිස්සෙක් කියන්නෙ අපි මේ ඉන්න යථාර්ථය මුළාවක් කරන පළවෙනි දාර්ශනිකයෝ අතරින් කෙනෙක්. පිස්සා කියන්නෙ ඒ යථාර්ථයට ඔබ්බෙන් නව දහමක් තනාගෙන ලෝකයම තමන්ගෙ ඔළුව ඇතුළට අරන් දුක් විඳින කෙනා. මොකද්ද මේ ජීවිතයෙ අර්ථය. ඒකෙ අර්ථය තියෙන්නෙ එයාගෙ ඔළුව ඇතුලෙ...



අඳුර මැද්දෙන් ටික ටික පේන්න ගත්ත අර දුවගෙන යන කෙනාව. ඒ ගෑනු කෙනෙක්... ඇත්තටම මේ වෙලාවේ මේ වගෙ රටක රෑට එළියට බහින්නෙ හිගන්නියො. නැත්තම් ගණිකාවෝ... ඒත් මේ නම් වෙන කෙනෙක්.

පිස්සො කියන්නෙ මහ අලුත් දේවල් නෙවෙයි. අපි ඉස්සර ක්‍රිකට් ගහන්ඩ යනව හොස්පිට්ල් ග්‍රවුන්ඩ් එකට. දැන් වගෙ නෙවෙයි ඉස්සර ග්‍රවුන්ඩ් එකෙ සීමා මායිම් තිබුණෙ නෑ. ඒ නිසා ඒක හරිම නිර්ව්‍යාජ තැනක්. ඒක

කොච්චර නිර්ව්‍යාජද කියනව නම්, පිස්සන්ට ඕනෙ තරම් නිදහස තිබුණා සැරිසරන්ඩ. මගෙත් ප්‍රේමයක් තිබුණා එක පිස්සියක් එක්ක. මම හිතන්නෙ එයා පිස්සන් කොටුවෙ ඉන්න ලස්සනම පිස්සි නිසා වැඩිය එලියට බහින්න ඉඩ ලැබුන් නෑ. දොස්තරලගෙ නියමයෙන් විශේෂයෙන්ම කංකානම්ල පවා ඇහැ ගහගෙන හිටියා ඈ ගැන.

දවසක් අපි ක්‍රිකට් ගහනකොට බෝලෙ ගියා පිස්සන් කොටුවත් පිට්ටනියත් වෙන් වෙන අර මහ දං කැලේට. ඉතිං දං කැලේට වෙලා දං කඩන්න පුරුදු අපිට මේවයෙ බෝල හොයන එක සෑහෙන වෙලා ගන්න වැඩක්.

ටික වෙලාවකින් බෝලෙ හොය හොය දං කැලේ ගිලිල හිටපු මට පොඩි සර සර සද්දයක් ආවා එකපාරට. හැරිල බැලින්නම් ගෑනු කෙනෙක් ඉන්නව දං කොළ මැත් කරන් මං දිහා බලාගෙන. එදා තමයි මම පළවෙනියටම ගැහැනියක් එක්ක එකතු වුණේ. මම මහා වල් මිනිහෙක් නෙවෙයි, ඒත් ඒ සුන්දර ගෑනිට පුළුවන් උනා මට ඒ බව මතක් කරල දෙන්න. එදා උමතු එකියක් අතින් ඉඳුල් වෙන්ඩ තරමට මම වාසනවන්තයෙක් උනා.

බෝලේ බෝලේ...!!

මම මතුරන්න පටන් ගත්ත.

"අනේ මැණිකෙ, ඔයා ක්‍රිකට් ගැහුවට වැඩක් තියෙනවද?" මතක සංසාරයක් මගෙ ඔළුවට කඩාගෙන වැටුණා එයා එහෙම කිව්වම.

මට ඒ කතාවෙන් ඇත්තක් තියෙනව තමයි. අපෙ එවුං මාව දං කැලේ ළඟ තියල තියෙන්නෙ බෝල අහුලන්න... මහ විශාල පාරවල් උන් ගහනව දං කැලේටම වැටෙන්ඩ. අනික මේකෙ ඉන්නව නයි පොළොංගු වගෙ පිටේ එවුන් අල්ලගෙන ගෙනත් දාපු. මට ඒකාලෙ ක්‍රිකට් ගහ ගන්ඩ තියා බෝලයක් තෙළින් වීසි කරගන්නවත් දක්ෂකමක් තිබුණෙ නෑ...

එයා කැලේ පෙරළගෙන ආවා මං දිහාවට. මම බයට දුවන්න ගත්ත දං කැලේ පීරගෙන. එත් එයාට සෑහෙන පුරුදුයි මට වඩා මේ දං කැලය... මගෙ බෙල්ලෙන් අල්ලගෙන, නවත්තගත්තයින් පස්සෙ මට මතක් උනෙ... අර වැවෙ දි මට හම්බුන තැඹිලි පාට මැණික. බිම පෙරලගෙන මාව, හිටගත්තා කලිසම් ගලවල හොයන්ඩ, මං කවුද? එයා දැනගන්න ඇති මට පුංචිම පුංචි එකක් ඇති බව... එයා හයියෙන් හිනා වුණා...

"අපෙ එවුන් ඒවි ..!!" මට එහෙම කියවුණෙ ලැජ්ජාව වැඩි කමට.

ඉතිං එයා මගෙ අත් දෙක පොළවට තියල තද කරගත්තම, දං කැලේට වැටෙන ඉර එළිය වෙනදට වඩා පැහැදිලිව පේන්න ගත්ත. මගෙ ඇස් වල කඳුළු පිරෙන්න ගත්ත. බොඳ ඇස්වලින් හිරු රැස් මිදුමකින් පිරෙව්වා. පැහැදිලිව ඒ හිරු රේඛා පේන්න ගත්තා. සමහර තැන් දේදුනු වර්ණයෙන් පාට වෙන්න ගත්තා. බොඳ කඳුළු අස්සෙන් එයාගෙ ඇස් දෙක මගෙ දිහාවට එබුණා.

මගෙ දැගලිල්ල තිබුණෙ ඒ තොල්වලින් මාව හපල දායිද කියන බය නැති වෙන කම් විතරයි. අනේ අන්තිමට





ඒ පිස්සිගෙ තොල් මාව සිප ගත්තා.

ඒ තමයි මගෙ පළමෙනි තොල් හාදුව. ඒව දං රසින් නැවිල තිබුණා. එතනින් පස්සෙ මගෙ කන්වලට දං කැලේ හුස්ම ගන්නව ඇහුණා. තවමත් එහෙමයි. ඒ විතරක් නෙවෙයි මේ දං කැලේට යටිං පැතිරිච්ච තණ කොළ යාය. ඒවාට පුළුවන් උනා මේ මිහිපිට පාරාදීසියක් කරන්ඩ. තණ කොළ පෙත්තන් උඩ පැන්න. ඒ අපේ හුස්ම තාලෙට. සමහර විට හැම තාලෙකටම උන්ගෙ තාලෙ ඒක නිසා වෙන්ඩ ඇති.

සමන් පිච්ච මල් සුවඳක් එක්ක එකම වියවුලක්. ඇයි මේක ඉවර වෙන්නෙ නැත්තෙ. එදා මං ඇතුළෙන් නැගිට්ටෙ වලත්තයෙක් නෙවෙයි, දෙවියෙක්. ඇය ඇඳන් හිටියෙ ගවුමක්. කොළ පාට ගවුමක්. මගෙ ඇස් පියවී පියවී අඩවන් වෙලයි තිබුණෙ. එයා පිස්සියෙක් උනත්

ශෘංගාරයේදි පන්සලක බෝ මළුවක් වගේ ශාන්තයි. ඒ වගෙම නෙළුමක මැද රේණු පිට්ටනිය වගේ මෘදුයි. එක පාරට එයාගෙ මුළු අධ්‍යාත්මයම මං මතට බර වුණා. දේදුණු පැහැය නව නවත් වර්ණවත් උනා. මං හිතන්නෙ එයාගෙන් රැස් විහිදෙන්න පටන් ගත්තා.

මට මතකයි කාලයක් තිබුණා, බුදු පිළිමවලින් රැස් විහිදෙන. මම දිවුරනවා මම දැක්කා ඒ රැස්. මැටි පිළිමයකට පුළුවන් නම් රැස් විහිදවන්න ඇයි පිස්සියකට බැරි. එයාගෙ තොල් මගෙ කනට ළං කරා. කන දිවෙන් තෙත් කරත්තා. ඒ ගද්දි මගෙ ලෝකයම නිලංකාර වෙන්න යනව දැනුණා. මං හිතන්නේ මට සිහි නැති වෙන්න වගේ ආවා. ඇස් වපර වෙලා ගියා. ඒත් හිටිවනම එයා ඒක නතර කරා. මගෙ කළු ඉංගිරියා දෙක ආයෙත් තිබුණ තැන්වලටම මාරු වුණා. ඒ මාරු වුණා විතරයි මෙන්න ආයෙත්. මට දරන් ඉන්න බැරි තැන කෑගහන්න පටන් ගත්තා.

ඒත් ඒ කෑගැහිල්ල ලෝකෙ ශුද්ධවන්තම කෑ ගැහිල්ල. අර මනුස්සය කිව්ව දේ ඇත්ත. ගින්දර ආවේ සිහින ලෝකෙන්. මගෙ කටින් පිටවුණෙ රත් වුණ වාතය විතරයි. ඒවයෙ සද්දයක් තිබුණෙ නෑ... ඒක ඒතරමට නිශ්ශබ්ද නිසයි ශුද්ධවන්ත. දම් ගස් තිබූ තිබූ තැන්වලින් එහාට මෙහාට වෙලා අහසම වහ ගත්තා.

මතක තියා ගන්ඩ, ඉස්සර මේ පිස්සි වංශවත් පරිසරවේදිනියක්. ඒ වගෙම වංශවත් ස්ත්‍රීවාදිනියක්. ඒ

වගෙම නිළියක්. එයා තාම පිස්සන් කොටුවෙ, මෑනකදි කපල විනාස කරපු දං කැලේ වෙනුවෙන් පිකට් කරනව. අර හැම නයෙකුම, පොළොඟෙකුම එයාගෙ සුරතල්ලු, හැමදාම...ඒ පිස්සි තමයි මිනිස්සුන්ට ඉගැන්නුවෙ ස්වභාවධර්මයයි ගැහැනියයි අතර තියෙන සම්බන්ධය.

"ස්වභාවධර්මය ගැන ඉගෙන ගන්න නම් ගැහැනු ළමයි දිහා බලල වැඩක් නැහැ. එයාල කරන්නේ ස්වභාවධර්මය තමන්ගෙ ඇඳුම් පායිත්තමක් කරගන්න එක. ඒ මල් මල් හැට්ටවලින් සායකින් වෙන්න පුළුවන්. ඔළුවෙ මලක් ගහ ගැනීමෙන් වෙන්න පුළුවන්. ඒ නිසා එයාලා ගැහැනුන්ගෙ වංශයේ පළවෙනි වර්ගය නෙවෙයි දෙවෙනි වර්ගය. කලබල වෙන්න එපා, එයාල ඉක්මනින්ම පළවෙනි වංශයට පැමිණෙනවා. ඒක වෙන්නෙ තුන් වෙනි වර්ගයෙන් ලබන අත් දැකීම් වලින්. තුන් වෙනි වර්ගය කියන්නේ පුංචි කාලෙ සත්තු දිහා බලන කාලය. ගැහැනු ළමයි කියන්නේ පූසන් වර්ගයක්. පිරිමි ඒ කට්ටියට කියන්නේ පූසිලා කියල. පූසන් කියන්නේත් දෙවෙනි වර්ගයක්. එවුන්ව අපියි ශිෂ්ටාචාරයට ගෙනාවේ. ඒකට හේතුව උනේ ආහාර ගබඩා කිරීමේ කර්මාන්තය පටන් ගත්තේ ගැහැනුන්ගෙන් වීම නිසා. මව් වරුන්ගෙන් වීම නිසා. ආහාර විනාශ කරල දාන සත්තුන්ව විනාශ කරල දාන්නයි එවුන්ව මේකට ගෙනාවේ. දැන් උන් නන්නත්තාරේ ඉන්නව නම්, එවුන් පාරවල් පුරා පැටව් දානව නම්, පාරේ යන වාහනයකට පොඩි පට්ටම්

වෙලා මස් කැලි කැලි වෙන්න තැලිලා යනව නම් ඒකට වගකියන්න ඕනෙ ගැනු. බය වෙන්න එපා බල්ලොන්ටත් මේ ගේ වෙනවා. ඒ එවුන් මෝඩ නිසා. ලද සැණෙකින් පුංචි සෙලවීමකටත් බුරන අයට කියන්නෙ ජනමාධ්‍යවේදින් කියලා. රටේ මෝඩම ජාතිය. හැබැයි සිව්වෙනි ආණ්ඩුව. නමුත් මිනිස්සුන්ට එවුන්ගෙ සේවය අවශ්‍යය, හරියටම අර බල්ලා නැමැති මෝඩ සතාගෙ ආනුභාවයෙන්. වරදවා හිතන්න එපා, බල්ලන් මෝඩයි, ඒක එහෙම වුණෙ එවුන්ට ස්වාමියෙක් ඉන්න නිසා. ස්වාමියෙක්ට අනුගත වෙන එක වහලෙකුගෙ ක්ෂණික ප්‍රතිචාරයක් නිසා. බලන්න බල්ලෙකුගෙ නැට්ට දිහා, ඒ කපටිකම නෙවෙයි ගැයෙන්නෙ, මෝඩකම, වහල්කම. ඒත් පූසන් එහෙම නෑ. එවුන් කුමන්ත්‍රණකාරියි. හරියට දේශපාලකයො වගෙ. කම්මැලියි වගෙ හිටියට, පෙනුනට එවුන් අපේ සියලුම ශක්තිය උරාගන්න ජාතිය. උන් දිහා බැලුවත් ඇති උන් අපේ හැම දෙයක්ම උරාගන්නවා. බල්ලො වගෙ නෙවෙයි පූසන් තමයි මිනිස්සුන්ව තෝර ගන්නෙ. අපි පූසන්ව තෝරගන්න එකට වඩා සිද්ද වෙන්නෙ  පූසෝ අපිව තෝරගන්න එක. අපි ළඟ නවතිනවද නැද්ද කියන එක උගෙ තීරණයක් මිසක් අපෙ තීරණයක් නෙවෙයි. ඒත් අපි හිතන්නෙ මේ මගේ පූසා කියලා. නෑ ඒ ඔයාලට වැරදිලා. පූසන් ඔය කාගෙවත් නෙවෙයි.

තුන් වෙනි වර්ගය, ඒකියන්නෙ ගැහැනුන්ගෙ පුංචි කාලය. එයාල ගැහැනිය ගැන ඉගෙන ගන්නෙ පුංචි

පුංචි කෘමි සත්තුන්ගෙන්. එයාලට ගැහැනිය කියන්නෙ අනාගතයේ වෙන්න තියෙන දෙයක්. බලන්න ටික දවසකින් ලස්සන පියාපත් විදහාමින් යන කෘමියෙක් එක පාරටම තමන්ගෙ පිහාටු අත අරිනවා. ඒකට හේතුව එයා පැටව් බිහි කරන නිසා. තමන්ගෙ ඉස්සර තිබ්බ ලස්සන අත හරිනවා. ඉතින් මිනිස් අම්මලත් දරුවො දෙතුන් දෙනෙක් හැදුවම තමන්ගෙ ලස්සන අත අරිනවා. දරුවෙක්ව හදනව කියන්නෙ තමන්ගෙ ශරීරය විනාශ කරගන්න වැඩකට. ඒත් මිනිස්සු කියන්නෙ කෘමීන්ට නෙවෙයි. ගැහැනුන්ට පෙම්වතුන් ඉන්නවා. පෙම්වතෙක් ඉන්න කොට ගැහැනියක් කැත වෙන්නෙ කොහොමද? ගොඩක් තැන්වල දරුවො හැදුවම ගෑනි කැත වෙනව පිරිමිය ලස්සන වෙනවා. මූණ රවුම් වෙනවා. ඒක කොහොමද වෙන්නෙ. ඒ මිනිහා ආයෙත් කිරි උරා බොන්න පටන් අරගෙනද. රවුම් මූණු තියෙන්නෙ පොඩි ළමයින්ට. රවුම් මූණුවල තියෙන්නේ කිරි සුවඳ... ලස්සනට ඉඳල දරුවන් හදනවත් එක්ක කැත වුණ ගැහැනියක් ඉන්නව නම් එයා ඉන්නෙ පවුලක නෙවෙයි. බිං කුණ්ඩෙක් හාරපු වලක. කෘමි ජීවිතයක් ඒක. අඩුම තරමේ අර ගෙදර ඉන්න බල්ලගෙ මෝඩ ස්වාමියා, ඒ කියන්නෙ පෙම්වතා, තමන්ගෙ බැල්ලිව අරගෙන ඇවිත් නෑ මෙන්න මේ දිය ඇල්ල ළඟට. කෘමියෙක් කියන්නෙත් එහෙම එකෙක්. ගොඩක් දුර යන්නෙ නැහැ. ආයෙ කැරකිල එනව ඉන්න තැනටම. ඉතින් අද මේ දිය ඇල්ල ළඟ අපි මේ වැඩේ

පටන් ගන්නේ රජයේ අවසරයක් ඇතුවද නැතුවද කියන එක අදාලම නැහැ. මොකද ඔය දේශපාලකයොන්ගෙ ගෙවල්වලත් තියෙනව මං කිව්ව ප්‍රශ්නය. එවුනුත් මේ තැන්වලට එන්නයි ඕනෙ. මොකද එවුනුත් මිනිස්සු වෙන්න ඉන්න අය. ඒ නිසා හැමෝටමයි මේ උත්සාහය."

ඒ දිය ඇල්ල බලන්න මම ගියේ ඇය එදා ඒ කරපු පළවෙනි දේශනය පළවුණ පත්තරේ බලලා. දියඇල්ලක් නිකරුණේ ගලාගෙන යනවට ඇය කැමැති වුණේ නෑ. ඇයට ඕනෙ උනා ඒක සෞන්දර්ය වස්තුවක් කරන්න. බලාගෙන සිටීමේ සෞන්දර්ය කියන පුහුණුව ඇති කරන්න. ඉතින් ඒ නිසා ඇය ලොකු ශබ්දවාහිනී යන්ත්‍ර කිහිපයක් දිය ඇල්ල නරඹන තැන හයි කරා. ඒකෙන් දවස පුරා ඇද හැලෙන දිය ඇල්ලට උච්ච ස්වරයෙන් ගායනා කරන ගැහැනුන්ගෙ හඬ මුසු වෙන්න දුන්න. ඒක වෛරසයක් වගෙ අපේ රටේ පැතිරගෙන ගියා. ඉතින් ඒ වගෙ ගැහැනියක් මගෙ පළවෙනි ලිංගික අත්දැකීමට කැඳවීම් ලැබුණම මගෙ ඔළුවට මොනව වෙනව ඇතිද? මං හිතන්නෙ නවමත් වෙනව ඇති. මම නවම දන්නෙ නෑ මම වාසනාවන්තයෙක්ද අවාසනාවන්තයෙක් ද කියල. කොහොම නමුත් මම ඉන්නෙ තනියෙන් නෙවෙයි. ඉතිං එහෙම කරපු ඇය කැප කෙරුවෙ මොන වගෙ දෙයක්ද? ඇය පුරෝගාමිනියක් වීම නිසා කොටින්ම කොටට කොටේ පුංචියට හිටියත් මිත්තණියක් වන් පූළුල් සිතීම

නිසා, ඇයට හමුවුණ පෙම්වතා කවුද ? මොකෙක්වත් නෑ. මිත්තණියන් තමයි ඇය අර කිව්ව ගැහැනු වර්ග අතරින් හතර වෙනි වර්ගය. ඇය කඩාගෙන වැටුනෙ අන්න ඒ නිසයි. අනේ ඒ ගැහැනියට පෙම්වතෙක් හිටියනම් අද දරුවොත් වඩාගෙන ඉන්න රැජිණක් මේ මහ පොළවේ අරගල කරන. ඒ කියන්නෙ පළවෙනි වර්ගයේ ගැහැනියක් කියන එක.

දෙයියනේ ඒක ආදරයක්...!

ඒත් ඒක කොනක් නැති ව්‍යාකරණමය අවුලක්..!

විසඳන්න තැනක් නැති ඒක වේදනාවකට ඇති කැමැත්තක්..!



සාගරයක් හොයාගෙන යන ගඟක් වගේ පිස්සුවක්..!

ජීවිතය ගැහැනියක්.

මේ තරම් කාලයක් මිනිස්සු පිහාටු ඇල්ලුවේ

ඒකෙ නැට්ටෙන් බව මතක් වෙන එක වේදනාවක්

මූදක් ඉස්සරහට ගියහම

මිනිස්සු අතරින් සමනල්ලු මතු වෙනවා..

සමනල්ලු වගේ පියාඹලා යන්න අත් ගසන අපේ අතීත

හැම වෙරළ තීරයක්ම දන්නවා...

වෙරළෙ පෙරළී ගත්තහම

ඒ අමතකයන් ටිකෙන් ටික මතක් වෙනවා...

මේ සුළඟ එයාගෙ කිහිලිවිල වගේම

මහා ඇනුලකටත් වැදෙන බව දැනගන්න එක

කොච්චර ලොකු මනුස්සකමක් ද

ඒත් අවාසනාවට මේ කලියුගයේ ඒ ගැන දන්නේ සුළඟ විතරයි..

අපි සුළඟ ගැන නොදන්න නිසා ඒවා අපතේ යයි

ඉතින්

මේ දුප්පත් පිස්සන්ගෙන් පිරි ලෝකයට

එක වරක් දෙවරක් නෙවෙයි තුන්වරක්ම

සුන්දර වූ සෑම දෙයක්ම කඩා වදීවා..!

ඒ මන්ද යත්

සුන්දරවූ බොහෝ දේ මෙහි තිබුණා ද

ඒවා අපට හමුවෙද්දී

අප බොහෝ දුප්පත් වන නිසාවෙනි...

එබැවින් දිවි ඇති තෙක් මා සටන් කරමි, මෙන්න මේවා වෙනුවෙන්

පොරොන්දුව, විරෝධය , කුලැටිකම, පිස්සු විකාරය,

ආදරය සහ ආකර්ෂණය

ශාප වේවා අපට..!!

ඉතින් ඒ පිස්සි නෙවෙයි මේ පිස්සි. දුවනව වේගෙන් මහ පාරේ. කුංජනගෙ පිටෙන් බැහැගත්ත මම ඒ පස්සෙන් වේගෙන් දුවන්න ගත්තා. එච්ගෙ දිවිල්ලක් මම කලේ සැහෙන කාලෙකට පස්සෙ. මගෙ දිවිල්ලට වඩා ශක්තියක් අර දිවිල්ලෙ තිබුණා. ඒත් එක පාරටම එයා කකුල පැටලිලා බිම ඇදගෙන වැටුණා. මම ටිකක් හරි ලංවුණේ එතකොටයි. ඉතිං ආයෙ දුවන්න පටන් ගන්නට වැඩක් වුණේ නැහැ. එයා ආයෙ දුවන්න ගත්තෙ කකුලක් කොර ගහමින්. ඉතින් ගිහින් අල්ලගත්තා. නතර කරගත්තා, ඒත් ආයෙත් දුවන්න හදන දැඟලිල්ල නිසා බිම වැටිගෙන පොර කන්න පටන් ගත්තා.

"කොහෙද දුවන්නෙ මේ හතිදාගෙන. මං කරදරයක් කරන්න ආවේ නෑ. ඕක නතර කරගන්න" මම කිව්ව.

පිස්සන් කියන්නෙ මට මහ අලුත් දෙයක් නෙවෙයි. එවුන් එක්ක සන්නිවේදනය කරන්න පුළුවන් හැකියාව මට ලැබුණෙ අර දං කැලේදි. පිස්සන්ට වඩා පිස්සො ඉන්න මේ ශිෂ්ටාචාරේ මැද්දෙ එහෙමත් දං කැලයක්.

පැනල දුවනව නේද? මම ආයෙත් ඇහුවා. ඒත් නාම් අපි අතරේ තිබුණා තියුණු පොරයක්.

මේ මලවිකාරේ ලෙඩේ අයින් කරගන්නකං වේටලෙන් තලන, මල පිස්සන් කොටුවෙන්, පැනල දුවන්න පිස්සෙක් හිතන් නැත්තං, එවුන්ට කියන්නෙ සන්තු කියලා. දැන් එයා ටිකක් මෙල්ල වෙලා. බිමට

තියල හයියෙන් අල්ලගෙන ගැටයක් දාගත්ත නිසා, ටික වෙලාවක් හිටියා හති ඉවර වෙනකන්...

ඔයාගෙ ගම කොහෙද? මම ටිකක් සැරෙන් ඇහුවා.

ඒයා දුන්න මිට මොලවල මගෙ කම්මුලට. ඒ තමයි උත්තරය. ඇත්තටම මේ මම ගැනියෙක්ගෙන් ගුටි කාපු කීවෙනි වතාවද? මෙයා ආයෙත් දඟලනවා, එක රුමෙට. හරියට පිඹුරෙක් වගේ, මගෙ බෙල්ල බදාගෙන. එයාව මෙල්ල කරගන්න එක ටිකක් අපහසු වැඩක්. ඔය අතරේ කිසිම කලබලයක් නැතුව කුංජන ආවා අපි දෙන්න ඉස්සරහට. ඇවිත් ටිකක් සැරෙන් අඩිය උස්සල දෙපාරක් පොළව ඇවිස්සුවා. හොඬය එයාගෙ මූණ ලඟට කරලා කරුණාබර තර්ජනයක් නිකුත් කරා.

කෙනෙකුට හොඳටම පිස්සු තද වෙලා නම් දෙන්න එකක් කම්මුලට, කරකැවිල වටෙන්ඩ. ඊට පස්සෙ එයා සිහිල් වෙයි. එතන ඉඳන් වැඩේ පටන් ගන්න. වැඩේ කිව්වෙ, ඒක තමයි ලෝකෙ අමාරුම වැඩේ. කෙනෙක්ගෙ ජීවිත කතාව අහන් ඉන්න එක. හැම මිනිහෙක්ම ඉන්නෙ තමන්ගෙම වුණ තිරපිටපතක. ඒ තිරපිටපත් අල්ලගන්නොත් හරියකට, ඕනෙම කෙනෙක්ව ගෙනියන්න පුළුවන්, ඕනෙ නම් ජනාධිපතිකමට. මහ ලොකු දැනුමක් ඕනෙ නෑ ඒකට, අවශ්‍යය අනින් එකාගෙ පැවැත්ම, ඒකගෙ උරුමයක් බව දැනගැනීම විතරයි.

ඉතින් මට පුළුවන් උපරිම වීරිය අරගෙන, කුංජනගේත් අවසරයෙන් ගැහුවා එයාගෙ කනට, එයා නිශ්ශබ්ද වුණා. සිහිල් වුණා. හෙමිහිට මගෙ බෙල්ලෙන් අත ගත්තා. ආයෙත් පිස්සියක් එක්ක මහ පොළොවේ. සර්පයින් වගේ. සර්පයින්ගෙ ඇස් පුංචියි. ඒවගෙම උන් සහවාසයෙදි හරිම ලස්සනයි. කෙළින් හිටගෙන වෙළිලා ආදරය කරන්න දන්න එකම වර්ගය, සර්පයින්.

කියන්ඩ මොකද්ද ඔයාගෙ නම? මම කෙළින්ම ඇහුවා.

"මම නවීෂා..!!" ඇය උත්තර දුන්නා.

පිස්සියකට තමන්ගෙ නම කියන්ඩ පුළුවන්ද? නම කිව්ව සැණින් මට ආපු ප්‍රශ්නය ඒක.

"මං ඉන්නෙ ලොකු අඩුලක" ඇය කිව්ව.

මම එතනම එයාට එහායින් බිම වැතිරුණා. එයා තාමත් බිම වැතිරිගෙන, ඒක අංගොඩ බස් ස්ටෑන්ඩ් එක. මහා අනාගත දේශපාලන නායකයෙකුගෙ පුවරුවක් අසළ. ඒ මහා තරුණ නායකයා හිනාවෙවී බලාගෙන හිටියා අපි දෙන්න දිහා.

"අරය මගෙ දිහා බලන් හිනා වෙනවා" ඇය අර දේශපාලකයගෙ මූණ දිහාවට ඇඟිල්ල දික් කළා.

"අහ් කමක් නෑ, ගණන් ගන්ඩ එපා. එයාගෙන් සත පහක වැඩක් නෑ මේ ලෝකෙට, ඒකයි එයා හිනාවෙන්නෙ ඔතන ඉඳන් හැමදාම. පිස්සන් කොටුව තියෙන්නෙ අතන

නෙවෙයි, හරියටම මෙතන, ඒකෙ නම එයාගෙ ඔළුව,'' මම කිව්වා.

ඒ තරුණ දේශපාලකයා තාමත් හිනාවෙනවා. ඇත්තටම තාප්පයක පින්තූරයකට පෙනී ඉන්න මිනිහෙක් සෑහෙන අපහාසයන්ට මුහුණ දෙන්න වෙනවා. විශේෂයෙන්ම දේශපාලකයන්ට. පිස්සියන්ට විතරයි ඒවයෙ ඇත්ත ප්‍රතිචාර මුණ ගැහෙන්නෙ.

"මම ඉන්නෙ ලොකු අවුලක. ඒ මට නොතේරෙන දේකින් මාව නිතරම මෙහෙය වෙන නිසා." ඇය කිව්වා.

"නොතේරෙන දේවල් නිසා තමයි අපි පවතින්නෙ. මට සිද්ධවෙලා තියෙන්නෙ ඒකෙ අනිත් පැත්ත. හැම දෙයක්ම තේරෙන්න පටන් අරන්. ඒ අතින් අපි දෙන්න එක සමානයි. ඉතින් ඔයාගෙ අම්මයි තාත්තයි මොකද කියන්නෙ මේ ගැන?" මම අහන්න ගත්ත.

"අම්මයි තාත්තයි මාව අරන් ගියා භූතාත්මවලින් වැඩ ගන්න මිනිස්සු ළඟට. එයාල කිව්වෙ මගෙ ඇඟේ භූතයෙක් ඉන්නව කියලා''. නටීෂා කිව්ව.

ඒ මනුස්සය දන්න සත්‍යයට මේ ලොකේ කොහෙ හරි ඉඩක් හදන්න ඕනෙ, වැඩේ තියෙන්නෙ පිස්සෙක්ට පිස්ස කියල ඒකට කොටු කරන එක හැර, ඒ සත්‍යයට අපි ඉඩක් දෙන්නෙ නැති එක.

"ඉතිං ඒකෙන් ඒ දෙන්නට වැඩක් උනාද?" මම ඇහුවා.

"වැඩක් නොවුණ නිසානෙ මට අරෙහෙ ලගින්න සිද්ද වුණේ. පස්සෙදි එයාලට මගේ ඇගේ ඉන්න භූතයව එලවගන්න බැරි බව එයාලම තීරණය කරා. සෑහෙන කාලෙක් එහෙම ගිහින් පස්සෙ  මාව අරන් ගියා මනෝ වෛද්‍යවරු ගාවට. එයාල කිව්වෙ මම සෑහෙන ඩැමේජ්ස් තියෙන ළමයෙක් කියලා. මට සෑහෙන කාලයක් ට්‍රීට්මන්ට් කරන්න වෙනවා කියලා."

"ඉතින් ඒ කිව්ව දේවල් ඇත්තද?" මට එහෙම අහන්න ඕනෙ උනෙ, එයා මොකක් විශ්වාස කරනවද කියල හරියටම දැනගන්න. පිස්සන් අපි නොහිතන තරමටම විචාරශීලියි. මට ඕනෙ උනා එවුන් ගැන එයාට තියෙන විවේචනයට මේ ලෝකේ කොහේ හරි තැනකින් වැදගත් පදිංචියක් අරන් දෙන්න.



"මම කවදාවත් මට මේ නොතේරෙන මාව මෙහෙය වන දේ ගැන හරි විස්තරයක් කාටවත් කියල නැහැ. මෝඩ කපුවොයි, උගත් වෛද්‍යවරුයි මාව විශේෂ දරුවෙක් විදියට බලා ගන්න ඕනෙ කියල තීරණය කරා. ඒ නිසා පොඩි කාලෙ ඉඳන්ම ඉස්කෝලෙ ගියේ මන්ද බුද්ධික ළමයි එක්ක... ඇත්තටම එයාල එක්ක ඉන්නකොට තමයි මම තනියම ලියන්න පුරුදු උනේ... අම්මයි තාත්තයි මට හැමදාම කියනව වේලාසනින් නිදා ගන්න කියලා. ඒ හෙට ඉස්කෝලෙ යන්න උදේම වෑන් එක ගෙදර ළඟට එන නිසා. ඒත් මට එහෙම නින්ද යන්නෙ නෑ. මාව නිදාගන්න

දාල අර දෙන්න කොහෙද යන්නෙ... මගෙ ඇස් පිය වෙන කොටම ඇයි එයාලගෙ ඇස් පිය වෙන්නෙ නැත්තෙ. මෙතන තියෙනව මම නොදන්න මොකද්ද දෙයක්."

"ඔව්. ඒක ගොඩක් අය තාම හරියටම දන්නෙ නෑ. ඉතින් ඔයාවත් හොයාගත්තද?'' මම ඇහුවා. ඇත්තටම මේ නම් පිස්සියක් නෙවෙයි. දරුවන් අහන ප්‍රශ්නවලට හරියට උත්තර දීගන්න බැරුව ගිය අම්මල තාත්තලගෙ කතාව.

"මම හිතන්නෙ එතන ගොඩක් දේවල් වෙන්න ඇති. ගොඩක් දේවල්. ඔව් ගොඩක් දේවල්. ගොඩක් වෙලාවට අම්ම තමයි මාව ඇඳ ළඟට මේස් කුට්ටමත් දාලා ඇඳ උඩට නග්ගවන්නෙ. ඔය අතරේ තාත්ත එනව. තාත්ත ඇවිත් අම්මට කිස් එකක් දෙනවා. ඊට පස්සෙ දෙන්නම මගෙ දෙපැත්තෙන් හාන්සි වෙනවා. එයාල අතරේ තිබුණා තරයක්. කාටද වැඩියෙන්ම ආදරේ... ඒක මහම මහ මෝඩ ප්‍රශ්නයක්.."

"මෝඩ ප්‍රශ්නයකට වඩා ඒක ඉතාම සාහසික ප්‍රශ්නයක්." මම කිව්වා. "ඉතිං" කියලා මම තවත් බර වුණා එයා දිහාවට. අපි හිටියෙ මහ මාර ගහක් යට, අංගොඩ බස් ස්ටෑන්ඩ් එක පුරාවට වැටිල තියෙන සිසිල මහ රෑට තවත් වැඩිවෙන්නෙ මේ මාර ගස් නිසා. මහ සුළඟත් වැඩි නිසා ඇනුණා කතාවක් අහන්ඩ නියම වෙලාවක්. කුංජනා..!! ඒ මගෙ ඇනා, මගෙ හිනාව ආඩම්බරෙන් වැඩිලා.

"මට බැහැ එයාලගෙ හිත් රිද්දවන්න. ඉතින් මම කරන්නෙ දෙන්න මැද්දට වෙලා හුස්ම ගන්න එක නතර කරන එක. මම හුස්ම ගන්න එක මුලින්ම දැනෙන්නෙ අම්මට... ඒකට වැඩියෙන්ම බය වෙන්නෙ තාත්ත. එයාල දිහා බැලුවම මට හිනා යන එක නවත්තගෙන ඉන්නෙ බොහොම අමාරුවෙන්... එක දවසක් මට හිනා පැන්නා. ඒත් එයාලට ඒක දැනුණේ යක්ෂණියකගේ හිනාවක් විදියට."

මොකද්ද ඒ හිනාව. කෝ කරන්ඩ බලන්න... ආයෙත්?

"බැහැ, මේ වෙලාවෙ බැහැ...'' ඈය එහෙම කියද්දි, කුංජනත් ඇවිත් ආයෙත් ඇගේ ඔළුව තර්ජනාත්මක හඬක් නිකුත් කරමින් හොඬෙන් අත ගාන්න ගත්ත. මට හිනා යන්න ආවත් නතර කරගත්තෙ බොහොම අමාරුවෙන්. මේකා නම්...!!!

ඉතින් එයා හිනා වුණා. ඒක මහ විකෘති හිනාවක්. මම නවීෂාගෙ කටට අත තියල නැවැත්තුවෙ, මිනිස්සුන්ට ඇහෙයි කියල හිතිල. ලෝකෙ කැතම හිනාව ඒක. ඉතිං එයා ආයෙ කතාව පටන් ගත්ත.

"අල්ලපු ගෙදර මල්ලි ක්‍රිකට් සෙල්ලම් කරද්දී, අපේ ගෙදරට වැටෙන බෝල දෙන්නෙ නැතුව මම ඒවා හංග ගන්නවා. මොකද එතකොට එයාල කාටත් හොරා තාප්පෙන් පැනල බෝලෙ හොයන්න එන නිසා.

එයාල මට කිව්වෙ හොල්මන් ළමය කියලා. තණකොළ පෑගෙන ඒකෙන් පවා මාව ලෙඩ වෙන්න බලන නිසා එයාල සෙල්ලම් කරන දිහා මම බලන් හිටිය උඩට වෙලා. අම්මගෙ කාමරේ ජනේලෙන්. එතනට පේනවා එහා ගෙදර මල්ලිලගෙ කාමරයක්. තාත්ත නැති වෙලාවට අම්මා මේ ජනේලේ ළඟට ඇවිත් බලන් ඉන්නවා. මම දවසක් දැක්ක, අම්ම ඒ පැත්ත දිහා බලන් අඬනවා.''

"ඔයා හිතන්නෙ ඇයි එයා අඬන්නෙ?" කියමින් මම විමසිලිමත් උනා. දැන් ඔක්කොම ශාන්තයි. කුංජනත් පැත්තකට වෙලා හිටගෙන. අර ඉන්නෙ ආරක්ෂකයො එලොවටත් මෙලොවටත් නැ. හැබැයි ඉන්නෙ ආරක්ෂයෙක් කවදාවත් ඉන්න නොහිතන විදියට. ඔළුව පද්ද පද්ද, වැනි වැනී අපේ කතා අස්සෙ තියෙන හැම සද්දයක් ගැනම විපරම් කර කර.

"බෝලේ හොයන්න දවසක් ගේ ඇතුළටම ආපු අල්ලපු ගෙදර මල්ලිගෙ ඉස්සරහට මම ගියේ මෙහෙට ආපු ඔක්කොම බෝල ටික දෙනව කියල හිතාගෙන. ඉතින් මම හැංගිලා ඉඳගෙන එක එක බෝලේ එයා එන පාරට විසි කරා. මිනිහාට සතුට දරා ගන්න බැරුව එවෙලෙම පැනල දිව්ව දිවිල්ල මතක් වෙද්දි මට තාමත් හිනා අනේ.''

එතකොටම නවීෂා හිනා වෙන්න ගත්ත. හැබැයි මේ පාර එයාගෙ කට වැහුවෙ කුංජන. ඒ හොඬවැල මූණ වටේ යවල කට වහල. කුංජන..!! මගෙ ඇතා, ඒ අස්සෙ

මගෙ හිනාව ආඩම්බරෙන් වැඩිගෙන එනවා. නවීෂා හිතන දේවල් හරිම මැවුම්වාදියි. මැවුම්වාදියි නම් කමක් නෑ. ඒවා එයාට ගල් පැලෙන ඇත්ත.

"අපෙ අම්මත් දවසක් මාළු වගයක් හදලා යැව්ව මල්ලිලගෙ ගෙදරට. එදා තමයි මම දැනගත්තෙ අපෙ අම්මට අර මල්ලි එක්ක මොකක් හරි සම්බන්ධයක් තියෙන බව. ඒත් එයා පොඩි ළමයෙක් තාම. අවුරුදු දහයක් විතර ඇති. කෝම හරි මිනිහාට එදා හම්බුවුණ බෝල ටිකෙන් නම් එකක්වත් අරගෙන යන්න නම් බැරි උනා. මිනිහා ඇතුළට පැන්නේ තාප්පෙන් ඒත් එළියට ගියේ ගේට්ටුවෙන්. ටික වෙලාවකින් මන් දැක්ක මිනිහා එක පාරටම අපේ උස ගේට්ටුවටත් වඩා උඩින් පියාඹගෙන ආයෙත් බිමට වැටෙනව. ඇයි මිනිහට තටු ආවේ නැත්තෙ. මට මේවට උත්තර නැහැ."

"එයාට තටු ආවෙ නැත්තෙ, එයාගෙ තටු කවුරු හරි කපපු නිසා. සමහර විට එයාගෙත් අම්මල තාත්තල. පොඩි එවුන්ගෙ තටු පොඩි කාලෙම කපන දාමරිකයන් තමයි ඒ." මම කිව්වා.

එහෙම කිව්වමයි නවීෂාගෙ මූණට ටිකක් හරි එළියක් වැටුණෙ. එයා මේ පාර නම් සද්දෙ නැතුව දත් පෙන්නල හිනා වුණා. ඇත්තටම සද්දෙ නැතුව හිනා වුණා. ඒ හිනාව විකාරයි තමයි. ඒත් නවීෂා හිනාවෙද්දි ලස්සනයි.

"මිනිහා එදා ඒ ගේට්ටුවෙන් එළියට පනිනකොටම කාර් එකක් ඇවිත් මිනිහගෙ පුංචි පස්ස පැත්ත හප්පගෙන ගිහින්. එදායින් පස්සෙ මාළු උයල නම් එහා ගෙදරට ගියේ නැහැ... මම හිතන්නෙ ඒ මල්ලි තමයි අපෙ අම්මගෙ අනියම් පෙම්වතා. ඒකයි මට එහෙට යන්න දෙන්නෙ නැත්තෙ. මොකද මම දැක්ක මිනිහගෙ අරෙක. එයාලගෙ තාප්පෙ අයිනට ඇවිත් හැම්දාම කොහොඹ ගහ අයිනෙ චූ කරනව. මට පේනව ඒකේ දිග. ඇත්තටම මිනිහා අල්ලපු ගෙදරට ඕනෙ මිනිහෙක් නෙවෙයි... අම්ම ඇඬුවෙ ඒ නිසාද, මල්ලි මැරුණෙ බෝල ගන්නම ආපු නිසාද කියලා තවම තාත්තට කියා ගන්න බැහැ. මම කොහොමද ඒක කියන්නෙ? අනිත් එක ඇයි මම ඒක තාත්තට කියන්නෙ?"

"ඒක කොච්චර දිගද?" මම එහෙම අහපු ගමන් නවීෂාට තරු විසි උනා.

"ඔයා අහන්නෙ මොකක් ගැනද?" එයා විමසිලිමත් උනා.

"මම අහන්නෙ මල්ලිගෙ එක කොච්චර දිගද? ඒක ගොඩක් ලොකු එකක්ද ?" මම ආයෙත් ඇහුවා.

"ඔව් ඒක ගොඩක් ලොකුයි."නවීෂා බලන් හිටියෙ අහස දිහා.

"ඒක තාත්තගෙ එක වගෙ ලොකුයිද?" මම ඇහුවා.

මිතුරිය, නුඹ ගිල්වා මරා දැමිය යුත්තේය...!!

ඒ තවමත් පිලිතුරු නොමැති

කාලකණ්ණි යුගයක් පුනරුත්ථානය කරන්නටය

ඒ යුගය ඔබට වඩා ආචාරශීලිවන්නට බල කර සිටියි.

ඒ යුගයේ හැටි එලෙසය...

මට හයියෙන් හිනා වෙන්න ඕනෙ

විටෙක ඔබ පවසයි.

ගෑනු ළමයි එහෙම හිනාවෙන්නෙ නැහැ.

ඔයාට පිස්සු. හොඳටම පිස්සු. පිස්සු තද වෙලා



ඉතින් නුඹව ඉක්මනින්ම ගිල්වා මරා දැමිය යුත්තේය.

මන්ද ගත වන හැම මොහොතක්ම බලකරන්නේ

සදාචාරවත් ආචාරවන්තබවය

ඉන් මහා ආශ්චර්යයන් ගැන තිබූ

බලාපොරොත්තුවද මියැදී යන්නට අරඹා ඇත.

හුස්ම ගත නොහැකි ලෙස මරණය නෙක් දිශයෙහි ඔබෙ

හිස ඔබාගෙන සිටින විට

හදිස්සියේම නුඹේ බෙල්ලෙන් කරමල් මතු වී අත පය

වරල් බවට හැරී,

අලංකාර මත්සයෙකු බවට පත් වී දිය ගැඹුරටම ගොස්

පිහිනා,

ඊ ළඟ ගමොහොතේ මට නුදුරින් ඉහළට මතුවී

දිය කරණමක් ගසා ගුවන් ගත වී

ඉවුර දෙස බලා මා දෙසට හැරී

ඇසක් ගසා යළි කිමිදී නොපෙනී යාවී...

එහි ඔබ නිදහස්ය සොඳුර...

එනිසයි නුඹ ගිල්වා මරා දැමිය යුත්තේ..!! මිතුරිය

නවීෂා දැන් උත්තර දෙන්නෙ ගිලෙන හඬකින්. මං හිතන්නෙ එයා නෙවෙයි උත්තර දෙන්නෙ. වෙන කෙනෙක්.

"මම දැක්කා ඒක එදා රෑ... මම හොයාගත්තා ඒ දෙන්න අතර වෙන දේ. තාත්තායි අම්මයි මහ නරක විදියට ඇඳ උඩ ඉඳන්. මම දැක්කා ඒක. මට මතකයි..."

"ඉතින් ඔයා ඒක තව හොඳට මතක් කරන්න. අමතක නම් මවා ගන්න. හොඳට මවා ගන්න. මොකද මමත් කරේ එහෙම. මම නම් ඔච්චරවත් දැක්කෙ නෑ. මම කරේ ඒක මවා ගන්න එකමයි. ඒත් පස්සෙදි මම ඒ මවා ගත්තු දේ ඇත්තක් බව දැනගත්තා. ඔයා විතරක් නෙවෙයි මෙහේ ඉන්න මමයි ඔයයි හැර ඒ දෙන්නා එදා කරපු දෙය ගැන දන්නෙ නැහැ. ඒත් දැන් අපි දෙන්න දන්නවා." මම කියාගෙන කියාගෙන ගියා.

නවීෂාගෙ හුස්ම කඩාගෙන වැටුණා. හුන් තැනම ඔළුව බිමට බර උනා. එතකොටම කුංජනගෙ හොඬ වැල ඇවිත් නවීෂාගෙ ඉන වටේ යවලා වඩා ගත්තා. ඒ හොඬවැල නාමත් හයියයි. යුද සෙබළුන් එකවර සීයක් උනත් බිම දැමිය හැකියි. නවීෂා කුංජනගේ හිස උඩට පය ගැහුවා. දැන් එයා ඉන්නෙ සතුටින්. කෙලින්ම ඇතෙක්ගෙ පිට උඩ.

"දැන් මොකද කියන්නේ?" මම එහෙම ඇහුවෙ නවීෂාගෙ මූණ ආඩම්බරයෙන් පිරිල යනවා දැක්ක නිසා.

මට ඕනෙ අර පිස්සන් කොටුව බිඳල දාන්න.

"හ්හ්හහා. ඔයාට විතරක් නෙවෙයි මටත් ඕනෙ ඕව බිම වට්ටල දාන්න. ඕව විතරක් නෙවෙයි ඇයි හිර ගෙවල්. ඉස්කෝල, පන්සල්, පල්ලි, මේ හැම එකකම තාප්ප බිඳල දාන්න ඕනෙ. හරි අපි ඒක බිඳල දැම්ම කියමුකෝ. ඒත් කොහෙන්ද තාම ඒ ඉන්න මිනිස්සු එක්ක ඉන්න පුළුවන් හදවත් තියෙන එවුන්. මේ මිනිස්සු අන්තිමට කොහෙද නතර වෙන්නෙ. මේ රට වටේටම තියෙන්නෙ මුහුද. මුහුද ගැඹුරුයි. තාප්ප කියන්නේ මහා උස දේවල්වලට නෙවෙයි. අපිව වටකරගෙන ඉන්න මහා ආගාධවලට. මේ රටේ ඉන්න බැරි නම් අපි වෙන රටකට යයි. ඒත් කොහෙද ඒකට ඉඩක්. තාම මේ මිනිස්සු ළඟ රටකින් රටකට නිදහසේ ඇවිදින විදියක් නැහැ. ඒකට ඕනෙ හැදියාව මෙ ලෝකෙට නැහැ. තවම හිර ගෙවල්වල ගැහැනුයි පිරිමියි එකට තියන්නෙ නැහැ. පිරිමි වෙනම ගැහැනු වෙනම. ඒ තරමටම බයක් අපි ඇතුළෙ තාම තිදනවා. ඒ නිසා අපි ආයෙ දවසක එමු. මේ තාප්ප බිඳල දාන්න. දැන් කරන්න තියෙන්නෙ ඒකට ලෑස්ති වෙන එක. මමත් කැමැතියි මේ තාප්ප හැම එකක්ම බිඳිල වැටෙනවට. ඒත් එහෙම කරන්න තරම් කොන්දක් අපිට තාම නැහැ. අපි තාම උරගයින් වගෙ... මේක තවමත් හීන වලදී සර්පයින් පේන යුගයක්." මම කිව්වා.

දැන් හුළඟත් අඩුවෙලා. ඒක දුවන වැස්සක්. මමත් කුංජනගෙ පිටේ නැගගත්තා. ආයෙත් කරන්න තියෙන්නෙ

සුපුරුදු නන්නත්තාරය. මේ ලෝකේ කොහෙවත් අගක් මුලක් නෑ. එහෙම දෙයක් තවමත් තියෙනව නම් ඒක පොඩි අයට උගන්නවන්න කියපු බොරුවක්. පන්තියෙ අන්තිමයයි පළවෙනියයි අතරේ තියෙන්නෙ මහ දුරක් නෙවෙයි. කරට අත දාගන්න පුළුවන් තරම් දුරක්. ඒත් ඒක මේ යථාර්ථයෙදි නම් සැහෙන්න දුරක්. විරසකයක්. දෙන්නෙක් අතර විරසයකයක් තියෙනව නම් ඒකට හේතුව අසමානකම දරාගෙන ඉන්න බැරිවීම. ඔව් මේ ලෝකෙ තමන් අකමැතිම දේ තමයි අනිත් කෙනා. ඒකට හේතුව ඔහුට අනිත් කෙනා සමාන නොවීම. දෙන්නෙක් අතර තියෙන පළවෙනි නියතතාවය ඒක. ප්‍රජාතන්ත්‍රවාදය කියන්නේ ඒකට.

ඒත් මෙහෙ නම් හැමෝම සමානයි. ඒ නිසා පාලනය කරන්න ලේසියි. නන්නත්තාරයට ඉඩක් නැහැ. නන්නත්තාරයා පාලනය කරන්න අපහසුයි. තනි මිනිහෙක් කියන්නෙ ඉලක්ක කරන්න අපහසු කෙනෙක්ව. රස්තියාදුකාරයා කියන්නේ එයාට. බුදුන් තරම් රස්තියාදු ගහපු මනුස්සයෙක් මීට කලින් ඉදල තියෙනවද. ඉන්නව නම් එයාල ගැන පොත් ලියවෙන්නෙ නැතුව ඇති. වන්දනා මාන කරන්න තරම් උවමනාවක් නැති වෙන්න ඇති. ලෝකෙට ඒ තරම් උවමනාවක් තිබුණෙ නැතුව ඇති.

ඉතින් පිරිමියෙක්ව මාළිගා තුනක හිර කරාම ඒවයෙ ඉදන් ලබන හැම සැප සම්පතකම රටාවේ ඒකාකාරීත්වය

අනු වුණාම, එතනින් එහාට තවත් රටාවන් නැද්ද කියන ප්‍රශ්නය, මහා අවබෝධයක් නෙවෙයි. ඒක අවුරුදු දෙදහස් පන්සියයක් පරණ අවබෝධයක්. රටාවන් ගැන හිතන නිසා සෞන්දර්යාත්මක අවබෝධයක්. මාළිගාවේ හිටපු හැම ගැහැනියකට නියම වෙලා තිබුණ සිදුහත් වෙනුවෙන් පුළුවන් තරම් කාමභෝගී විදියට ඉදිරිපත් වෙන්න. ඒත් ඒ ගැහැනුන්ට බැරි උනා ඒක හුදු ඉදිරිපත් කිරීමක් බව සිදුහත්ගෙන් සදාතනිකව සඟවගන්න. මාළිගාවේ හිටපු ගැහැනු රාජ අණ ඉක්මවලා දන්නෙම නැතුව. ගැහැනු කොහොමත් එහෙමයි. එයාලට මොකටද රජවරු.

තමන් දිහා මෙච්චර වෙලා කාමභෝගීව බලපු අය, කොහොමද මෙහෙම විකාර රූපීව තැන තැන වැතිරිලා නිදන්නෙ. තවරගත්තු වත්සුණු, සුවඳ විලවුන් සියල්ලම දාඩියට තෙත් වෙලා ගියහම ඒකට කියන්නේ පිරිමියෙක් දිහා ගැහැනියක් නොබලන්න හිතන වෙලාව කියල. එතකොට ඇය මොන තරම් කෙනෙක් ද? ඒ නොපෙනෙන, ගැහැනියගේ පැවැත්ම මොකද්ද? ඉතින් ඒක දන්නේ ගැහැනු විතරයි. ඒ නිසා ඒක සදාතනිකව නිශ්ශබ්දයි. මොකද ගැහැනු දැනන් හිටියා, පිරිමි හිතන් ඉන්නේ එවුන්ව මැව්වෙ බ්‍රහ්මන් කියලා. ඒ දර්ශනවාදයෙන් හැර පිරිමියෙක්ට ගැහැනියක් දිහා බලන්න දන්නෙ නැති ලෝකයක් ඒක. මාළිගාවයි, බ්‍රහ්මවාදය තමයි මේ අපහැදිලිකම වැඩි කරන එකම තැන. මේ අපහැදිලි දැක්ම නිසයි රජෙකුට අන්තඃපුරයක් ඉන්න පුළුවන් උනෙ.

ඉතින් පිරිමියෙක් ඒ දැක්මෙන් ගැලවෙන්න පුළුවන් නම් මොකද්ද කළ යුත්තේ. ඒ නිසා අත හැර යන්න ඕනෙ මේ තැන. ඒ නිසයි විරාත් කාලයක් තිස්සෙ මිනිස්සු අභිනිශ්ක්‍රමනය කරන්නේ. අභිනිශ්ක්‍රමණය, කිව්වම ටිකක් වැදගත් ගැඹුරු ප්‍රභූ වැඩක් වගේ හැඟීමක් එනව තමයි. ඒත් ඒකට ගැළපෙන හොඳම නම රස්තියාදුව. එහෙම කිව්වම ඕනෙම වර්ගයක වංශවතෙක්ට වගෙම දුප්පතෙක්ට විවෘතයි ඒක. ඉතින් මේ යන්නෙ ගැහැනියක් එක්ක ඉන්න පුළුවන් හොඳම විදිය හොයාගෙන.

හැම රස්තියාදුකාරයාම එහෙමයි. රස්තියාදු නොගහන හැම කෙනාටම හම්බවෙනව 'මෙන්න කියල යශෝධරා කෙනෙක්.' ඒත් සිදුහත්ට ඇයත් අර කාමභෝගී රූමතියනුත් අතර වෙනසක් නොමැති තරම්. ඉතින් ගැහැනියක් එක්ක ඉන්න පුළුවන් හොඳම විදිය හොයන් යනවා කියන එකේ තේරුම පරිපූර්ණ ගැහැනියක්, පරම සුඛයක් හොයන් යනව කියන එකයි. හොයාගෙන හොයාගෙන ගිහින් කිසිවක්ම හමු නොවුණ තැන, එයාට අවබෝධ වෙනවා එවන් ගැහැනියක් පවතින්නෙ නොමැත යන්නයි ආරම්භය කියලා. ඉතින් පිරිමියා ගැන කවර කතාද? ඒක බුදුන් අපිට කියද්දි කිව්වෙ "කිසිම දෙයක් පවතින්නෙ නැත'' කියලා. ඉතින් එන්න තිබුණානෙ ආයෙ ගෙදර. එන්නෙ නැතුව මොකද්ද කරේ, අලුත් පැවැත්මක් හැදුවා. ඒකට කියන්නෙ බුද්ධත්වය කියල. පෙර නොවූ විරූ පැවැත්මක්. හරියටම කිව්වොත් ගිහිපු රස්තියාදුවේ

අවසන් ප්‍රතිඵලය. ඉතින් බුදුන් එහෙමවත් රස්තියාදුවේ ගියා නම් අපි මේ ගෙවල්වලට වෙලා මොකද්ද තව කරන්නේ? අපිට වෙන වැඩ තියෙනව කියයි. ඉතින් එච්ච හැමදාමත් වෙන වෙන වැඩ තමයි.

මේ ලෝකය වෙනස් කරන්නෙක් වෙන්න නම් ඒකට රස්තියාදුකාරයෙක් වෙන්න ඕනෙ. රස්තියාදුව තමයි තමන්ගෙම වූ ශෛලියක් තනන මිනිස්සු සතු එකම විදිය. කලාව. ඒත් මේ මිනිසා කියන ක්ෂීරපායි සත්ත්වයා අතරේ ඒ තරම් විශිෂ්ටත්වයකට පත් වෙන්න බැරුව, ඔළුව විකල් වෙලා මරණය වැළඳ ගන්න, තවමත් කටේ කිරි සුවඳ නොගිහිපු වැඩිහිටියන් අනන්තයි. පෙකෙණිවැල නොකපපු මිනිසුන් අනන්තයි. සමහර එවුන් තවමත් අර පෙකෙණිවැල කරේ තියන් ඇවිදින හැටි. පෙකෙණිවැල් ගොඩක් එක්ක සම්බන්ධ වෙලා ඉන්න පරම්පරාවක්. ඒවට කියන්නෙ පරම්පරාවේ ආඩම්බරය කියලා. ඒකෙ කැත විතරක්. පෙකෙණිවැල්වලින් බෙලි තද වෙලා ඇඹරිලා ගිහිල්ලා. එක මිනිහෙක් තනියම ඇවිදිනවා මහා පෙකෙණිවැල් රාශියක් කරේ තියන්. මේ බොරුල්ල හංදියෙ. විද්වතුන් ඒකට කිව්වෙ කලා කෘතියක් ඉදිරිපත් කිරීමක් කියල. ඉතින් කොහොමද නිදහසේ ගැහැනියක් පිරිමියෙක්ව ඉඹින්නේ. පෙකෙණිවැල් නෙ.

රස්තියාදුවෙ නොගිහිපු ගැහැනුන් පිරිමින් මුණ ගැහුනම වෙන්නෙ මොකද්ද? වෙන්න පුළුවන් තරකම

දෙය තමයි මේ සිද්ධ වෙමින් යන්නේ. එක තැනක නතර වුණොත් මොකද වෙන්නෙ එතන හැදෙන්න ගන්නවා ධනය. ඊට සමානවම අනිත් පැත්තෙන් අපි ඒ රැස් කරගන්නෙ බිය. ඉතින් මේ බිය නැති කරගන්න පුළුවන් ධනය රැස් නොකරගෙන සිටීමෙන් විතරයි. ඒත් ධනය රැස් කරන්නෙ නැතුව මිනිස්සු පවතින්නෙ කොහොමද? එහෙනං අපි ධනය එක් රැස් කරන්න ඕනෙ මට මෙන්ම අනිත් කෙනාගෙ පැවැත්මට. සල්ලි තියෙන්නෙ හැම මිනිහටම ජීවත් වෙන්න පහසුව ඇති කරගන්න. ඒ මිසක් එක මිනිහෙක්ට ඔක්කොම ටික ගොඩ ගහගන්න නෙවෙයි. ගොඩ ගහගන්න එක මෝඩකමක්. ඒ වගෙ මෝඩයෙක් හදන්න අපෙ පරම්පරාවල එවුන් අපිට මැරි මැරී ඉගැන්නුවා. ඒ මිනිහට 'දක්ෂයා' කියල කිව්වා. ඒත් අර මැරුණ එවුන් ස්වර්ගස්ථ උනාද නිවන් දැක්කද කියල ඉතිහාසයවත් සාක්ෂි දරන්නෙ නෑ. ඉතිහාසයට එවුන් වැඩක් නැහැ. ඇත්තටම දක්ෂයෙක්ට ඒ තරම් ගොඩක් මල්ලක ගැට ගහල දෙන එක අපි ඒ මිනිහගෙ ජීවිතයට කරන මහා පාපකර්මයක් නේද?

ඔය ගොඩ ගහගන්න සල්ලි කියන්නෙ හැමෝටම අයිති දෙයක්. ඒත් මේ වෙලාවේ අපි ළමයි හදන්නෙ, අපෙ හීනමානයන්, අධිමානයන්වල අහේතුවට මිසක්, වෙන දේකට නෙවෙයි. ඒ හදන්නෙ ළමයින් නෙවෙයි, තව තවත් කුණු කැදලි. එවුන්ගේ ජීවිතවලට කියන්න තියෙන්නෙ,

ඔන්න ඔහේ පාඩුවේ ඉඳලා මැරිලා පලයන් කියලයි. ඒත් එහෙම හිතන එකේ මහා භයානක චින්තනයක් තියෙනවා. නිකන් ඉන්න එකෙක් මැරෙද්දි, මේ නපුංසක පෘථිවිය, උට තමන්ගෙන් බාගයක් විතර කන්න ඉඩ දීලත් ඉවරයි.

ඒ නිසා චලනයමයි වැදගත්. අර මහ ගස්වලට උනා වගේ නෙවෙයි වෙන්න ඕනෙ. මිනිස්සුත් එක තැන හිටියම මුල් බහිනවා. එවුන් රට රාජ්‍යවල් හදනවා. කොටින්ම බැරි බැරි ගානේ පරම්පරා හදනවා. හනේ මිනිස්සු කියන්නෙත් ශාක විශේෂයක්. බලන්න හවසට උඩකට පියාඹලා ගිහින් නගරයකට උඩින්, උන් හරියට ඇවිදින හතු වගේ. ඉතින් කොහෙන්ද මේකෙ මුල පටන් ගන්නෙ. නූල් බෝලයක් වගෙ පැටලිලා. ලෝකෙ ආරම්භය කොතැනද, කාටවත් උත්තරයක් නැත්තං, එහෙනං අවසානය කොතැනද? ඒකත් උත්තරයක් නෑ නේද? උත්තරය තමයි හරි මැද. අර ඈතට ඈතට විහිදෙන මුලයි අගයි කොන් දෙක යන්නෙ අනන්තයට කියල හිතනව නම් ඒක මායාවක්. මොකද ඔය අනන්තයට යනව කියන හැම එකක්ම අවසානයෙදි ඩිංග ඩිංග නැවෙන්න පටන් ගන්නවා. රවුම් වෙන්න ගන්නවා. ආයෙත් පටන් ගත්ත තැනට එනවා. ඒ තමයි හරි මැද. එතකොට හරි මැද හොයා ගන්නෙ කොහොමද? ඒක හොයා ගන්න මහ දුකක් විඳින්න ඕනෙ නැහැ. හැම වෙලේම හරි මැද තමයි තමන් මෙහෙට වැටුන තැන. අපි හිතනවා බුදුන් පටන්ගත්ත තැන බුද්ධත්වය කියලා.

ඒත් අවුරුදු දෙදහස් පන්සියකට පස්සෙ හමුවෙනවා ඒ පෙම්වතාගෙයි පෙම්වතියගෙයි ප්‍රේමය බව.

ඉතිං මේ අධිසංවේදි මිනිස් සත්තාවක් දරාගෙන අපි තුන් දෙනා ඉදිරියට ඇදෙන්න උනා. මමයි නවීෂායි හිටියෙ කුංජනගෙ පිට උඩ. කුංජන තමයි හරි මැද... හහ්හ්හා.. මේ ඔක්කොටම ගැලපෙන උසක් මේකා මට අරන් දුන්නා. මෙච්චර කාලෙකට කුංජනලාගෙ පිට උඩ හිත හිත ගමන් කරේ රජවරු, මහ ඇමතිවරු නිලමේවරු. එකාට එකා මරාගත්තු, ලේ හලාගත්තු දත් කැබැලි. ඒත් අද යන්නෙ...





එක පාරටම කුංජනගෙන් අමුතු හැසිරීමක්. කුංජන නතර වුණා. මොනව හෝ දෙයක් ගැන විමසිලිමත් වෙන්න පටන් අරන්. රස්තියාදුවක දි මෙහෙම වෙනවා. අපි මේ ඉන්නෙ මහා ලෝකයට විවෘත වෙලා. ඉතින් ඒ ලෝකයේ දී සිදුවීම් බොහෝමයි. ගෙයක් ඇතුළෙ ඉන්නව කියන්නෙ ඒ මහා සිදුවීම් ජාලයෙන් වෙන් වෙන එක. ඒත් කුංජන කියන්නෙ ඇතෙක් නිසා හැම තිස්සෙ අර මහා පැවැත්ම නිරාවරණය වීම වළක්වා ගන්න බැරි කෙනෙක්. ඕනෑම දෙයක් වෙන්න ඉඩ තියෙන විවරයක් අග මෙහෙම හැසිරීමක්, ඒ කියන්නෙ විමසිලිවන්ත හැසිරීමක්. ඒ වගෙම අපි හිටපු තැන හරිම ගඳයි.

අපි හිටියෙ ලොකු මාර ගහක් යට. ඒ මාර ගහෙන් පටන් ගන්නෙ මහ විශාල කුණු කන්දක්. මේ කුණු කන්දට

තමයි මේ හැම නගරෙකම කුණු ගෙනත් දාන්නෙ. කුණු කන්දෙ සමහර තැන් දිහා බලන්න වෙන්නෙ හඳත් එක්ක. මේ ගඳ එක්ක හඳෙත් ලස්සනක් නොතිබුණාම නෙවෙයි. ඒත් කුංජනගෙ මේ අමුතු හැසිරීම ඒ ගඳ නිසා නම් නෙවෙයි. ටික වෙලාවක් නැවතිලා හිටපු කුංජන පස්සා ගාත්වලින් ඔළුව උස්සලා හොඬය දිග් කරලා ඒ ගමෙහෙන් පහතට නැවුන අත්තක් අල්ලගෙන හොලවන්න උනා. අපි දෙන්නම බැලුවා ගහ උඩ. එතකොටයි අඳුරේම දැක්කෙ ඒ ගහෙ මිනිහෙක් ඉන්න බව. ඒ මිනිහා කුංජනගෙ මේ වැඩෙන් හොඳටම කලබල වෙලා. අත්ත උඩ එහාට මෙහාට ඇවිදිනවා. ඒකත් හතර ගාතෙන්. මේ බීපු මිනිහෙක් වෙන්න බෑ. ඒකත් අත්තක් උඩ මෙච්චර සමබරතාවයක් තියාගෙන ඉන්නෙ කොහොමද? අත්ත හොලවනව වැඩි වෙනවත් එක්කම ඒ මිනිහා ගොරවන්න පටන් ගත්තා. මිනිහෙක් නම් කෑගහන විදිය ශිෂ්ටාචාරය කාලයක් පුරාවට පුහුණු වෙලා තියෙනවා. ඒත් මිනිහෙක් සිංහයෙක් වගේ කෑ ගහන්නෙ මොකටද? සිංහයෙක් වගෙ සද්ද කරල අලි එලවනව නම් බොරු.

එක පාරටම ඒ මිනිහා අර සෑහෙන උසක්, ඒ කියන්නෙ සාමාන්‍යයෙන් මිනිහෙක්ට එහෙම පනින්න බැහැ, ඒත් ඒ මිනිහා ඒ ගැන නොතකා පැන්න බිමට. පැනල දුවන්න ගන්නකොටම කුංජන තමන්ගෙ සුපුරුදු හොඬය දිග් ඇරල මිනිහව වෙලාගත්තෙ හිතාගන්නවත්

බැරි වේගෙකින්. දැන් දිගින් දිගටම දාගෙන හිටපු සිංහ ගර්ජනාව මිනිස් කෑ ගැහිල්ලක් එක්ක මුසු වෙලා ඇහෙන්න ගත්තා. කුංජන ඒ මිනිහව අපි දිහාවට ඔසවාගෙනම ළං කරා. එතකොටයි දැක්කෙ ඒ මිනිහ....





'සියලු දේ වෙනස් වෙනවා', ඒක අනිවාර්යයක්. සෑහෙන කාලයක් තිස්සෙ ඒක පළවෙනි දහම විදියට අපි අතර තිබුණා. ඒවයෙන් හොඳටම වැඩගත්ත අයට අන්තිමට සිද්ධ වුණේ නිවන් දකින්න. ඒත් ඊට පස්සෙ වෙනත් දහමක් හමුවුණා. ඒකෙන් කිව්වෙ 'සියලු දේ වෙනස්කම විසින් නිමවයි' කියලා. ඒ නිසා හැම දෙයක්ම ආයෙ අලුතින් නිර්වචනය කරන්න පුළුවන් අයිතිය හැම කෙනෙකුටම ලැබුණා. ඒත් මේ සිද්ධ වෙන දේවල් වලට නම් ඊට වඩා දෙයක් ඕනෙ. තිබුණාටත් වඩා බලවත් දහමක් ඕනෙ. අපි මේ හැම දේම තේරුම් ගන්න හදන කොට ඊට වඩා කලින් දෙයක් සිද්ද වෙනවා. ඒ තමයි 'ඕනෑම දෙයක් විය හැකි වීම' කියන එක. පළවෙනි ධර්මයේ තිබුණේ ලෝකයේ සාමාන්‍යය සත්තාවක්. දෙවෙනි එකේ

තිබ්බෙ 'ලෝකය වෙනස් කිරීමක්' ගැන එකක්. තුන් වෙනි එකේ තියෙන්නෙ කෙළින්ම 'අනාගතයයි.'

මේ සිංහ මිනිහා, මගෙ ළඟටම කරලා තියා ගත්තු කුංජන, හරිම බුද්ධිමත් විදියට ඒකව මට බලාගන්න සැලැස්සුවා. ඒ සිංහ මිනිහා හිටියෙ දත් විලිස්සගෙන, වේදනාවයි, කෝපයයි එක්ක. ඉස්සරහට පැනපු රදනක දත් දෙක සුදු පාටින් දිලිසුණා. ඇස් හරියටම පූසෙක්ගෙ වගෙ. කන් දෙක සිංහයෙකුගෙ. අතරින් පතර මූණෙ තිබුණා ශේෂ වී යන ලොම්. හොඬයට අත් දෙක තද වෙලා නිසා පෙනුණා නලියන ඇඟිලි. ඒවයෙන් උල් නියපොත් පැනලා එළියට. දැන් මට පුදුම වෙන්න දෙයක් නැහැ. මෙතනින් එහාට මොනවා සිද්ධවෙයිද කියන්නත් බැහැ.

එතැනින් පස්සෙ අපි විවෘත වුණේ සියලු දෙය ඉක්මවල ගිහිපු පරාසයකට. ඕනෙ නම් ඕනෙම ආගමකට වුණත් මෙතන ඉඳන් පටන් ගන්න පුළුවන්. ඒක සුපිරි වියවුලකට මුල පිරීමක්. මේ අතරේ සිංහ මිනිසා කෑ ගහන්න පටන් ගත්තා.

"මාව බිමින් තියපන්, මම යන්නන්... මහත්තයෝ... හොඳ හිතින් මට යන්න දීපන්..."

මෙන්න මේ මිනිහා කතා කරනවා. ඇවිටිල්ල දිගින් දිගටම වැඩි වෙනවා. කුංජනත් තමන්ගෙ ග්‍රහණය ටිකෙන් ටික වැඩි කරනවා. තව වැඩි කරොත් මෙකා මැරෙන්න ඉඩ තියෙනව, ඒකා දැන් ඉන්නෙ අමාරුවෙන්.

මම හෙමිහිට කුංජනගෙ පිට පිරිමැද්දා. නවීෂා සිංහයට උකුළු මුකුළු කරන්න පටන් අරගෙන. සිංහයෙක් කුඩුවෙ ඉන්නකං ඒකා ඔය ඔක්කොම ඉවසාවි, ඒත් කූඩුව ඇතුළට අපි ගිහිපු දවසට, එයා අපිට උකුළු මුකුළු කරන්න ගනීවි. ඔන්න ඕකයි තත්තවය. ඉතින් කුංජන මගෙ පණිවුඩය හරියටම තේරුම් ගත්තා. හෙමිහිට හොඬය පහත් කරද්දි මම කුංජනගෙ පිටෙන් බැස්සෙ, ඕනෙම දෙයක් සිදුවීම නියතයක් බව වැටහුණ නිසා. කෙනෙක් ඕනෙම දේකට මූණ දෙන්න බලාගෙන බහින්න බැහිල්ලෙයි, ඕනෙම දෙයක් සිදුවීම නියතයක් බව දැනගෙන බහින එකෙයි තියෙන්නෙ ඉරියව් දෙකක්. එකක් එඩිතරයි. අනික ශාන්තයි.



කුංජන සිංහ මිනිහව බිමින් තිබ්බ. හෙමිහිට හොඬේ ග්‍රහණය ලිහිල් කරා. ඒත් මේ පාර නම් සිංහ මිනිහා දුවන්න හැදුවෙ නැහැ. මිනිහා එතනම බිම ඉඳ ගත්ත. මිනිහට ඤාව් ගෑවිල හිටියෙ, කුංජනගෙ වැඩෙන්. මිනිහ බිම ඉඳගෙන ටික වෙලාවක් හති ලෑවා. සිංහයන්ට වැඩිය මහන්සි වෙන්න බැහැ. ඒ එවුන් ශක්තිය උපරිම කරල තියාගන්න නිසයි. ගොදුරක් දැක්ක ගමන් තමන්ගෙ මුළු ශක්තියම ඒකට වැය කරන්න ඕනෙ නිසයි. සිංහයෙක්ට කවදාවත් කම්මැලි වෙන්න බැහැ. මිනිහෙක්ට පුළුවන්. සිංහයො ඔය ඇනුම් අරින්නෙ කම්මැලිකමට නෙවෙයි. නව නවත් ශක්තිය ගබඩා කරගන්න.

ඉතින් ටික වෙලාවක් එහෙම ඉඳපු සිංහ මිනිහා අඬන්න ගත්තා. බිම පෙරළි පෙරළී ඇඬුම් දිදී කෑගැහුවා. මම මිනිහට ළං වුණා. මිනිහව කතා කරවන්න. අඬන එක සිංහයෙකුගෙ වැඩක් නෙවෙයි. සිංහයෙක් වගෙ හිතනව නම් ඒක ටිකක් ගාම්භීර විදියට තියෙන්න ඕනෙ. පොළොවට සමතලා වෙන්න මාළිගා බිම වැටුණත්, සිංහ ගතිය පූසෙක්ගෙ වගේ වෙන්න බැහැ. ඒත් මේකා...

"තමුන් අඬන්න හේතුව?" මම ඇහුවා.

"මට අඬන්න විතරයි හේතුවක් තියෙන්නෙ. ජීවත් වෙන එකේ කිසිම තේරුමක් නෑ දැන්. මගෙම එවුන් කවදා හරි මට මෙහෙම කරයි කියන එක මම දැනගෙන හිටියා. ඒත් ඒක ලෝක ස්වභාවය නෙවෙයි" මිනිහා කඳුළු පිහිදාන්න පටන් ගත්ත.



"එහෙනං මොකද්ද ?" මම ඇහුවා .

"ඒක චාරිත්‍රයක්. ඒ වගෙම ඒක අනිවාර්යයෙන් වෙන්න ඕනෙ දෙයක්" නවීෂාත් කුංජනව අත ගාමින්ම හෙමිහිට බැහැගත්ත. එයාට මතක් වෙන්න ඇති, එයාත් මීට ටිකකට කලින් එහෙම ප්‍රශ්නයක හිටපු බව. ඒත් එයාගෙ කට කොනක හිනාවක් තිබුණා. ඒත් මේක තාමත් එයාට විහිළුවක්.

"මට මැවිල පේනවා මෙයාගෙ අම්මයි තාත්තයි කොහොමද ඒක කරේ කියල" නවීෂ අපේ කතාවේ මැදට පැන්න. නවීෂා ඒ ඇහෙව්වෙ එයාගෙ අම්මයි තාත්තයි

අතරේ සිදුවුණු දෙය මතක් වෙලා. දැන් එයා ඒක හොඳටම පහු කරලා.

සිංහය අඬාගෙනම නවීෂ දිහා බැලුවෙ, මරන් කන්න තරම් කේන්තියකින්. "නවීෂා, එයාට කතා කරගන්න දෙන්න'' මම බැගෑපත් වුණා. හැම සිදුවීමකම තියෙනව ආශ්චර්යයයක්, ඒක කොච්චර විද්‍යාත්මක ද කොච්චර දර්ශනවාදී ද කොච්චර මිත්‍යාවක් ද කියල වැඩක් නෑ මම අගරහෙම කිව්වම, නවීෂ අර මට මූණ ඇද කරා. කේන්ති යන්න ඇති. අන්තිමට එයත් ආනක් පාතක් නැති අපි අතරේම හෙමීට පාත් වෙලා ඉඳ ගත්තා. ඒ ඉඳ ගන්න ගමන්,



"අනේ මට මේකව දැක්කම හිනා යනවනෙ" නවීෂා ආයෙත් පටන් ගත්තා.

"හහ්හ්හා, ඔයාව දැක්කම මුලදී කුංජනටත් හිනා ගියා" මට කියවුණා. ඒකට නවීෂාගෙ මූණ ඇඹුල් වෙලා ගියා. ඒ ඇඹුලේ තිබුණා නියම ලාලිත්‍යයක්. ඒක හරිම විචිත්‍රයි. නවීෂා එහෙම ලේසියෙන් ගැහැනු ලාලිත්‍යයකට ඉඩ දෙන කෙනෙක් නම් නෙවෙයි .

මමත් එතනම බිම ඉඳගත්ත. කුංජන සිංහය ළඟින් හෙල්ලෙන්නෙවත් නැහැ. හොඬ දික් කරගෙන විමසිල්ලෙන්... මොකද මෙයාගෙන් අනතුරක් වෙන එක වළක්වා ගන්න එක ගැන කුංජන පරෙස්සම්.

"මගෙ එවුන් මාව දාල ගියා. මගෙන් එවුන්ට සිද්ධ වුණ අඩුපාඩුව මොකද්ද? මගෙ ගෑනි, හනේ මගෙ දරුවො, එවුන්ට පුළුවන් උනා කොහොම හරි මට එරෙහි වෙන්න. මේකෙ කොහේ හරි වැරැද්දක් තියෙනවා. මට ආයෙත් ජීවිතයක් නැහැ මුල ඉඳලම පටන් ගන්න. අපි ඉන්නෙ මේ මහ මැද්දක. ආයෙ ආපහු හැරෙන්න බැහැ. මගෙ එවුන්ට මම දැන් මොනවද කියන්නෙ?" සිංහ මිනිහා බැලුවෙ තරු දිහා. දැකල තියෙනවද තරු දිහා බලන් කඳුළු හලන සිංහයෙක්. දැන් ඒ සිංහයා ඉන්නෙ මං ළඟ.

සාමාන්‍යයෙන් සිංහයෙක්ට "මගෙ එවුන්" කියන අය නම් මිනිස් වාසයෙන් ගොඩක් ඈත තියෙන දෙයක්. මොකද සිංහයො ඉන්න රංචු පිටින්. අප්‍රිකානු තණ බිම්වල සැරක් ගහන කෙනෙකුට හොඳටම තේරෙන දෙයක් ඒක.

"ඉතින් දැන් ඔයාගෙ දරුවො කොහෙද ගියේ", මම ඇහුවා.

"මම දන්නෙ නැහැ. මම නම් හොයනවා. මේ දවස්වල වැහි කිහිපයක්ම වැටුණ නිසා මගෙ ඉව නැති වුණා. දැන් මට දැනෙන්නෙ වෙන වෙන එවුන්ගෙ සුවඳ. මම දන්නෙ නෑ හොයනව නම් එවුන්ව කොහෙන් හොයන්න පටන් ගන්නද කියලා."

ඇත්තටම ඒ වෙලාවෙත් මේ හරියට හොඳටම වැහැලයි තිබුණෙ. සිංහයෙක්ගෙ ඉව හරිම තියුණුයි. ඒත් මේ වලාකුළට පුළුවන් වෙලා තියෙනව හරිම සුපුරුදු

විදියට මේකාව නත්නත්තාර කරල දාන්න. සිංහයෙක්ට ස්වභාවධර්මය ගැන චෝදනාවක් තියෙන එකට කරන්න දෙයක් නැහැ. විසඳුමකුත් නැහැ. ඒ නිසා සිංහයන්ට දෛවයකුත් නෑ.

"මේ දේවල් සිද්ධ වුණෙ කොහොමද? එකපාරටම මේ වගෙ දෙයක් සිදු නොවෙන්න බැහැ. එකපාරටම මේ දේවල් සිද්ධ වුණා කියල හිතන්න ගියහම, අපිට ලැබෙන උත්තරය නිතරම බින්දුවයි. මම නම් කියන්නෙ ඕකට සෑහෙන හේතු ගොඩක් තියෙනවා. එකින් එක මතක් කරන්න ගත්ත නම් හරි." මම කිව්වා.

සිංහය මගෙ දිහා නිශ්ශබ්ද වෙලා ටික වෙලාවක් බලන් හිටියා. මං හිතනෙ මිනිහාට පොටක් පෑදුණා. මිනිහා කල්පනා කරන්න පටන් ගත්තා. ඒවගෙම මිනිහට ලොකු සැහැල්ලුවක් ගන්න ඕනෙ උනා. එහෙම ඉඳල ඉතාම සන්සුන්ව කතා කරන්න පටන් ගත්ත. උගුර පාදලයි පටන් ගත්තෙ.

"මගෙ අම්මයි තාත්තයි කවුද කියන්න මම දන්නෙ නෑ. මාව දාල ගිහින් තිබුණෙ කන්‍යාරාමයක දොරක් ළඟ. මම ලොකු වුණෙ ඒ කන්‍යාරාමයෙ අයත් එක්ක. මම සාමාන්‍යය ළමයෙක් වගෙ හැදුණා. ඒ අය ආස කළා මගෙ ඇස්වලට. ඒ නිසා මාව කන්‍යා සොයුරියන්ගෙ පුදුමයට හේතු උනා. දවසක් මගෙ ඇස්වල මමත් නොදන්න වෙනසක් දැකලා ඒ අය බය වෙලා තිබුණා. ඈත අඳුරේ

තිබුණා දේවල් මට පේන්න අරන් තිබුණා. මගෙ වෙනස මටම තේරෙන්න අරගෙනයි තිබුණෙ. දවසක් එයාල දැක්ක මහ දවාලක මගෙ ඇස්වල කළු ඉංගිරියාව පූසෙක් වගෙ වෙනස් වෙන්න ගන්නවා. ඇස් කොළ පාට වෙනවා. මං හිතන්නෙ එදා ඉඳන් කන්‍යාරාමයෙ හිටපු කරුණාවන්ත සොහොයුරියන්ගෙ ආරක්ෂාව වැඩි වෙන්න ගත්ත දෙගුණ තෙගුණ වෙලා. දන්නවනෙ කන්‍යා සොහොයුරින් තරම් මේ මිහිපිට රහස් රකින්න නම් වෙන කවුරුත් නෑ කියලා.''

"ටික ටික ලෙකු වෙන්න ගන්නවත් එක්කම මාව එයාල ඇරිය හොස්ටල් එකකට. මගෙ මේ වෙනස සඟවගන්න කියන ඔවදන මට සොහොයුරියන් දීලයි තිබුණෙ. ඒ වගෙම එයාල මෙහෙම දෙයකුත් කිව්ව. "ඔයා අද ඉඳන් ඇස්වල ආබාධයක් තියෙන ළමයෙක් විදියට හැසිරෙන්න." ඉතින් මම පුහුණු වුණා එහෙම වෙන්න. මුලදි මට අමාරුවුණා එහෙම ඉන්න. එයාල ඉන්න කියපු විදියට මම නත්පරේට ඇඟි පිල්ලම් වැඩි පූර ගහන කෙනෙක්. සාමාන්‍යයෙන් එහෙම කෙනෙක් දිගා මිනිස්සු එක දිගට බලාගෙන ඉන්නෙ නැහැ. ඉතින් මම ටිකෙන් ටික හොස්ටල් එකට පුරුදු උනා. ඔහොම කාලයක් ගියා. ඒත් දවසක් මට ඇහෙන්න ගත්තා ලස්සන සංගීතයක්. ඒක පියානෝවක්. සොහොයුරියෝ එක්ක ඉන්න කාලෙදි මට මේ හඬ නිතරම ඇහුණා.''

"ඒ අපෙ හොස්ටල් එකට එහායින් තිබුණා තැනක්. සෑහෙන උස තාප්පවලින් ඒ ගෙදර වට වෙලා තිබුණෙ. මට මේ සංගීතය සෑහෙන්න පැහැදිලිව ඇහෙනවා. ඉතින් මම දවසක් කාටත් හොරා පැන්නා ඒ තාප්පෙන් ඇතුළට. ඒ සංගීතය ඇහුණා සෑහෙන්න ලස්සනට. මම එදා දැක්කා ලස්සන ගෑනු ළමයෙක් පියානෝවක් වාදනය කරනවා. මම හිටියෙ ජනේලෙන් එළියෙ එයා කෙළින්ම හිටිගෙන. එයා හිටියෙ ජනේලෙ පැත්තට මූණ දමාගෙන නොනවත්වාම පියානෝව වාදනය කරන ගමන්. ඒත් පුදුමය කියන්නෙ එයා මාව දැකල බය වුණෙ නෑ. ඒත් මම කලබල උනා. ඒක සිද්ධ වුණෙ හරිම ඉක්මනට. බය වුණ මම එතනින් පැනල දිව්ව."



තාප්පයක් කිව්ව ගමන් නවීෂාගෙ ඇස් සතුටින් ඉපිලුණා. නවීෂා රජවරුන්ගෙ ලෝකයෙ පවුරු බිම හෙලන සේනාංකයකට අනුයුක්ත කරා නම් සෑහෙන වැඩක් ගන්න තිබ්බා. එයා දවසක ආයෙ ඒවි අර පිස්සන් කොටුවේ තාප්පය බිඳල දාන්න. ඉතිං ඒ අතරේ සිංහ මිනිසත් තමන්ගෙ කතාව කියාගෙන කියාගෙන යනවා. මම හිතන්නෙ මේ එයාගෙ කතාව කියන පළවෙනි වතාව වෙන්න ඕනෙ. ඒක අහන පළමුවෙනි අය අපි වෙන්න ඕනෙ.

"මට ඊළඟ දවසෙත් අර සංගීත හඬ ඇහෙන්න ගත්තා. මම ගියා ආයෙත් එතනට. එයා මගෙ දිහා

බලාගෙන ඉන්නවා. දිගටම බලාගෙන ඉන්නවා. පියානෝවට අත යන්නේ නිරායාසයෙන්. ඒ තරමටම පියානෝවෙ හැම අස්සක් මුල්ලක් ගැනම එයා දන්නවා. ඒ මූණේ එක ඇහිබැමක් වැරදිලාවත් හෙලවුණෙ නෑ. අඩුම ගානෙ මේ ඇවිල්ල ඉන්නෙ මොකාද කියන එක ගැන බයක් වත් එයාගෙ මූණේ ගෑවිලා තිබුණෙ නෑ. ඉතින් මම හැමදාම කාටත් හොරෙන් එතනට ආවා. ඒ වෙද්දි ටික ටික මගෙ වෙනස්කම් යාන්තමින් වෙන්න පටන් අරගෙන. ඒත් ඒවා හරි හැටි මතු වෙලා තිබුණෙ නෑ. පැහැදිලි වෙනසකට තිබුනේ අර සංගීතය ගැන හොස්ටල් එකේ කවුරුත් උනන්දු නැත්තෙ ඇයි කියන එක. ඒක මට විතරයි ඇහිලා තිබුණෙ. මම හිතන්නෙ මට අනිත් කාටවත් වඩා ගොඩක් දුර තියෙන දුර්වල ශබ්ද පවා ඇහෙනවා. ඒත් දවසක් මේ හැම දෙයක්ම කණපිට පෙරළුනා.''

"ඒ වෙනකොටත් මම හිටියෙ එයාගෙ සංගීතය අහන්න පුරුදු වෙලා. මට ඒ හැම කොටසක්ම මතකයි. මම ඒවා නිතරම මුමුණමින්නුයි හිටියේ. සමහර දාට මට උදේ වෙනකං අර ජනේලෙ ළඟ නින්ද යනවා. ඇහැරුණාමයි දන්නෙ මම ඉන්න ඕනෙ තැන මෙතන නෙවෙයි කියලා. ඒත් ඒ ජනේලෙ යට තිබුණා සැහෙන දෙයක්. සැහෙන සීතලක් වගෙම කන්වලට උණුසුමක්.''

"දවසක් එයා වෙනදට වඩා වේගෙන් පියානෝව වාදනය කරනව ඇහුණා. මං හිතන්නෙ එයා එදා හිටියෙ කේන්තියෙන්. එයාගෙ හැම සංගීත ඛණ්ඩයකම අස්සක් මුල්ලක් නෑරම මම රිංගන්න දන්න නිසා මගෙ හිතෙන් ඒවා සෑහෙන වෙනස් වෙලා දියුණු වෙලයි තිබුණෙ. ඉතින් එයා එදා වාදනය කරන්න ගත්තා ටිකක් හයියෙන්. මට ඉබේම නැටවෙන්න පටන් ගත්තා."

සිංහයා ඒ සංගීතය එයාගෙ හඬින් අපිට ඉදිරිපත් කරල පෙන්නුවා. ඒ හඬ සෑහෙන්න ගැඹුරුයි සංගීතයෙදී. හරිම සුවිශේෂී කමක් එතන තිබුණා... ඇත්තටම සිංහයෙක් සින්දු කියන එක දැන් පුදුමයට කරුණක් නෙවෙයි.

"ඉතින් ඔය විදියට ඒ තාලයට මගෙ හඬත් එකතු කරා. එහෙම නොවුණනනම් නෙ පුදුමෙ. සමහර තැන් එකතුවෙලා අලුත් සංගීතයක් හැදුණා. වෙලාවකට මගෙ හඬ උස් වෙනවා, පියානෝවෙ හඬ යට යනවා. ඒත් හිටිවනම එයා සංගීතය නතර කරා. ඒත් මගෙ හඬින් ඉතිරි ටික දිගටම වාදනය උනා. එයාට මාව ඇහුණා ඒක නම් මම කරගත්තු මෝඩම වැඩක්. එයා ආයෙත් පටන් ගත්තා. මමත් පටන් ගත්තා. ආයෙත් එක් වනම නතර කරා. මගෙ හඬ එයාට දැන් නම් පැහැදිලිවම ඇහුණා. අන්න එදයි එයාගෙ මූණට හිනාවක් ආවේ. ඉතින් අපි නොනනවත්වාම ඒ සංගීත ඛණ්ඩය වාදනය කරා. එයා අන්තිමට මහා සතුටකින් හිනාවෙනව දැක්කා."

"ඉතින් මේ විදියට මම ඊළඟ දවසෙත් නාප්පෙන් පැනල ගියේ පුදුම සතුටකින්. දැන් එයයි මමයි අතරෙ තියෙනව සම්බන්ධයක්, ඒ තමයි සංගීතය. හැබැයි එදා නම් ඇහුණෙ වෙනත් සංගීත ඛණ්ඩයක්. මම ඒක මීට කලින් අහල තිබුණෙ නෑ. මම සුපුරුදු විදයට ජනේලෙන් එබුණා."

"ඒත් එයා ගෙ ඇතුළෙ පේන්න හිටියේ නෑ. පියානෝවෙන් නෙවෙයි ඒක ඇහෙන්නෙ. පස්සෙ කාලෙකයි මම දැනගත්තෙ ඒක මෝසාර්ට්ගෙ කියලා. ඒත් ටිකකින් දැනෙන්න ගත්තා කවුරු හරි මගෙ පිටිපස්සෙ මං දිහා බලන් ඉන්න වගක්. හුස්මගන්න වගක්. මම හැරිල බැලුවා. මෙන්න එයා මගෙ ඉස්සරහ හිටගෙන ඉන්නවා. එයා එදා ඇඳන් හිටියෙ ලස්සන ගවුමක්. මට කර කියාගන්න දෙයක් නැතුව ඔළුව කැඩුණා. එයා ඒ තරමටම ලස්සනයි. ඒත් එයා එක එල්ලේම මගෙ දිහා බලන් හිටියා. එයාගෙ මුවගට ළා සිනහවක් නැගුණා. එයා මගෙ මූණ දිහාවට අත දිග් කරන් මගෙ ළඟට ආවා. එයා මගේ මූණ අල්ලන්න ගත්තා. මගෙ අත් දෙක අල්ලල ඉඹිල බලුවා. එතකොටයි මට තේරුණෙ..."



එයාගෙ නම 'ජුලි ඩෙබ්‍රෝ' එදා හඳත් පායලයි තිබුණෙ. ඔව් මට මතකයි, ඒ වගෙ ලස්සන ගැනු ළමයෙක්ගෙ අතින් ස්පර්ෂ වෙන පළවෙනි වතාව. එයා මාව සිපගත්තා. මමත් සිපගත්තා. අපි එදා එක් වුණා. ඒක තමයි ලස්සනම රාත්‍රිය. ඒ වගෙම මහා භයංකරම රාත්‍රිය. එයා ඕනෙම දේකට සූදානම් වෙලා හිටියෙ. අන්ධ අය එහෙමයි. ජනේලය ළඟ බිම මල් ගස් අතරේ තණ බිස්සෙ අපි දිගැදුණා... එනකොට මට අවුරුදු දහ හතයි.

''එයා දිගින් දිගටම කිව්වෙ එයාව ඒ ගෙදරින් අරන් යන්න කියලා. එයාට ඇස් නොපෙනුණත් ඒ ගෙදර ඇතුළෙ තියෙන ප්‍රශ්න එයාට වදයක්. ඒවා නිතරම ඇහෙන නිසයි සංගීතයට වඩාත් කැමැති වුණෙ. එයාගෙ පරම්පරාව අය මේ රටේ වැදගත් වංශයකින් එන පවුලක්.

රටේ වැදගත් තීන්දු තීරණ ගත්තේ මේ පවුලෙ ආශිර්වාදය එක්ක. එයාලගෙ ගෙදර හැමවෙලේම පිරිලා තිබුණේ රටේ දේශපාලකයන් බිස්නස්කරුවන්ගෙ සාකච්ඡාවලින්. ඒ හැම දෙයක් ගැනම එයාට පොඩි කාලෙ ඉඳන්ම ඇහිලා තිබුණා. සමහර සාකච්ඡාවල තිබුණෙ ලොකු රහස්. ඒ හැම දෙයක්ම නිහඬව ඉවසන්න ජූලි පුරුදුවුණේ සංගීතයත් එක්ක. මට නම් අර කන්‍යා සොයුරියො නිසා. සොහොයුරියන් කියල තිබ්බා මාව විශේෂ දරුවෙක් නිසා එයාල මං ගැන දැනගත්තොත් කරදර වැඩි වෙන්න නියමිතයි කියලා. ඒ තරමටම එයාල මාව පරෙස්සම් කරා. මට මතකයි එක සොයුරියක් කිව්ව ඔයාව දැකපු දවසේ මට කිරි එරුණා කියලා.''



"ඒත් ටිකෙන් ටික මගෙ පැවැත්මත් අපහසු වෙන්න ගත්ත. ඇය හමුවීමත් එක්ක බලන් ඉන්දෙද්දීම මගෙ ශරීරයෙ සැහෙන වෙනස්කම් සිද්ධ වෙන්න පටන් ගත්ත. මම මේ ගැන ජූලිට කිව්ව. එයා කිව්ව මම කවදාවත් සිංහයෙක් දැකල නෑ. හැබැයි එයාලගෙ සංගීතය නම් අහනව කියලා. ඇත්තටම මගෙ මේ කතාව එයාට විහිළුවක්. මම ඒක එයාට කියන්න හිතන හැම වෙලාවකම එයා මගෙ කට වහනවා. අපි වෙන දෙයක් කතා කරමු ද? කියල"

"ටික කාලයක් යද්දි ජූලි ගැබ්බර වෙන්න පටන් ගත්ත. ටික ටික ප්‍රශ්නය වැඩි වෙන්න ගත්ත නිසා

මම කන්‍යා සොයුරියොන්ගෙන් උදව් ඉල්ලුවා. එයාල කිව්ව කන්‍යාරාමයට අයිති ඉඩමක් තියෙනව එතන නවතින්න පුළුවන් කියලා. ඉතින් බැරිම තැන ජූලියි මමයි දවසක් දෙන්න ගෙදරින් පැනල ගියා. හොස්ටල් එකේ අධ්‍යාපනයත් එහෙම්ම නතර වුණා. දැන් මම රස්සාවක් හොයාගන්න ඕනෙ. ඒත් මේ මගෙ ශරීරයේ වෙනස් කම් එක්ක කොහොමද මේක කරන්නෙ. ජූලිගෙ බඩත් දැන් ලොකුයි."

"කරගන්නම දෙයක් නැති තැන මම ගියා කරන්න වැඩක් හොයාගෙන. ඒක මගෙ මෝඩකමයි, කරකියාගන්න දෙයක් නැති කමයි. කන්‍යා සොයුරියොන්ගෙන් හැමදාම යැපෙන්න බෑ. මේ බඩේ ඉන්න ළමයි ලොකු වෙනවා. මම තැනක් හොයාගත්ත. රෑට තමයි වැඩ කරන්න තියෙන්නෙ. ඒක නගර සභාවෙ රස්සාවක්. මට පුළුවන් මුළු ඇඟම වහගෙන කරගෙන ඒ රස්සාව කරන්න. එහෙම වහගෙන කුණු අත ගාන එක කෝටිපතියෙක්ට උනත් කරන්න පුළුවන් දෙයක්. ඉතින් මම ගියා හැමදාම රෑට ඒ වැඩේට. පොඩි ගාණක් හම්බුනත් අපිට ඒක ඉතුරු කරගන්නත් පුළුවන් උනා. ඒත් ටිකෙන් ටික මට දැනෙන ගත්තා, මේ වැඩ කරන අය අතරෙ මං ගැන එක එක දේවල් කතා වෙනව කියලා.

දවසක්... මම කුණු ලොරියෙන් බිමට වැටුණා. මගෙ මුළු ඇඟම හිරිලා ගියා. මම සෑහෙන වතාවක් උත්සාහ

කරා තනියම කාගෙවත් උදව්වක් නැතුව නැගිට්ටින්න. ඒත් වට වුණා කම්කරුවො දෙතුන් දෙනෙක්. එදා තමයි එවුන් මගෙ මේ චූටි නැට්ට දැක්කෙ."

"මට කරකියා ගන්න දෙයක් නැති උනා. මං ගැන මේ මිනිස්සු කොහොම හිතයිද? මින් ඉදිරියට මොකක් වෙයිද? ඒත් සිද්ධ වුණෙ වෙන දෙයක්. එයාල මට අත දුන්න නැගිට්ටින්න. මාව ගෙදරටම ගෙනත් ඇරලලා, යන්න ගියා. මුදල් ප්‍රමාණයකුත් අතට දුන්න. එයාල දැන ගත්ත මට මිනිස් බිරිඳක් ඉන්න බව. ඉතින් මම දවස් දෙක තුනක් වැඩට ගියේ නෑ. දවසක් මහ රෑ ජූලිට අමාරු උනා. එදා නම් මම සෑහෙන්න අසරණ වුණා. මම උදව් ඉල්ලගන්න කියල හිතාගෙන පාරට දිව්ව. මට කිසිම තේරුමක් තිබුණෙ නෑ ඊළඟට කරන්නෙ මොකද්ද කියලා. එතකොට දැක්කා වාහනයක් එනවා ඉස්සරහට. ඒ අපේ කුණු ලොරිය. මම මොන තරම් වාසනාවන්තයෙක්ද කියන එක මට නිතරම මතක් කරවන්නෙ ඒ සිදුවීම. ඉතින් කුණු ලොරිය එදා වැඩට ගියේ නෑ. එදා එකෙන් තමයි ජූලිව අරන් ගියේ."

"ජූලිව අරන් ගියේ රෝහලකට නෙවෙයි. අරන් ගියේ නගරයේ කොනක කවුරුත් නොයෙන තැනකට. මුඩුක්කුවලිනුත් එහාට. ජූලිව ගිහින් බාර දුන්නෙ තවත් ගැහැනු පිරිසකට. මම දැනගෙන හිටියෙ නෑ ඊළඟට මොකද්ද වෙන්නෙ කියලා. කර කියාගන්න දෙයක්

නැති කමට මට උදව් වුණේ එයාලගෙන් ලැබුණු පිටට තට්ටුව. මට ඇහුණා ජුලි කෑ ගහනවා. ඈත නගරයේ උස ගොඩනැගිලිවල විදුලිය දැල්වෙනවා. ඒත් අපිට හම්බුනෙ නිඹුල්ලු. දුවෙකුයි පුතෙකුයි."

"ඉතින් අර උදව් කරපු මිනිස්සු කවුද?" මම ඇහුවා.

"හහ්හා. එයාල මිනිස්සු නෙවෙයි. එයාලත් මං වගෙම අය. නව තවත් වර්ගයවල අය. සිංහයන්ම විතරක් නෙමෙයි. එයාල මිනිස්සු ගානට තමන්ව හොඳට නඩත්තු කරන්න ඉගෙන ගෙන තිබුණා. ඒත් හොඳටම ළං වෙලා බැලුවොත් කොහේ හරි තැනක නොමැකෙන සලකුණක් තියෙනවා. ඒ තමයි එයාලගෙ වංශය හොයාගන්න පුළුවන් විදිය. ඒත් ඒ අය අතරින් සිංහයෙක්ට හිටියෙ මං විතරයි"

"මොනව තවත් අය?" නවිෂ තමන්ටම කියාගත්තා.

"ඔව් තවත් අය. එයාල අතේ තමයි තිබුණෙ නගරයේ හැම අස්සක් මුල්ලකම තියෙන පිරිසිදු කිරීම් ටික. ඒ වගෙම අර මහ උස ගොඩනැගිලිවල එයාල වැඩ. ඒත් එයාල වැඩ කළේ දවල්ට නෙවෙයි.



"ඉස්සර අපි ගැන ඇහැ ගහගෙන හිටියෙ පූජකවරු. ආගමික නායකවරු. එවුන්ට ඕනෙ උනා අපි වගෙ තිරිසන්නු වැඩි දියුණු කරන්න. උන් අපිව හීලෑ කරගන්න හැදුවා. ඒ නිසා අපේ අනතුරුදායකකම අඩු වෙන්න ගත්තා. සතෙක් ලිංගිකත්වයෙදී මරණීයයි. ඒත් ඒ බව සත්තුවත් දන්නෙ නැහැ. මේ නිසා අපිට ඒ කාලෙ තිබුනෙ නැත්තෙ ශෘංගාරය. ඉතින් එවුන් අපිව හීලෑ කරන්න ගත්තෙ ලිංගිකත්වයයි මරණයයි අතර ඉදිමින් කසපහරවල් දෙමින්. මේ නිසා අපේ මුතුන් මිත්තොන්ට සෑහෙන්න දුක් විදින්න සිද්ධ වුණා. අපි ඒ යුගය පහු කළේ මහා පුදුම උත්සාහක් විරියක් අරගෙන. ඉස්සර පූජකවරුන් අතර තිබුණා සත්තු එක්ක මිනිස්සු රමණය කරන වත් පිළිවෙත්. ඒ රමණයන්ගෙන් පස්සෙ මිනිස්

ගර්භාෂයන්වල අපේ පැටව් උපදින්න පටන් ගත්තා. ඒක පළමෙනි උපත අහඹුවක්."

"මේවා අර පූජකවරුන්ගේ ආසාවල්. ඒ ආසාවල්වල අනාගතය තමයි අපි. ඉතින් උන්  අපිව වැඩි දියුණු කරමින් බෝ වෙන්න දුන්නා. දැන් අපිට අපේම ගර්භාෂ තියෙනව. ඒකියන්නෙ අපිට අපේම ලොවක් තනන්න අවශ්‍යය ශක්තිය තියෙනව. ගැනු ඉන්න අපිට මොකටද තවත් ආණ්ඩුවක්. ඒත් කාලය හෙමිහිට ගෙවිගෙන යනවත් එක්කම, අර පූජකවරු අතේ තිබුණා රහස් කොන්ත්‍රාත්කරුවන්ට එළිවෙන්න ගත්තා. ඇත්තටම සිද්ධ වුණෙ පූජකවරු අතෙ තිබ්බ බලය කොන්ත්‍රාත්කරුවන් අතට මාරු වීම. ඉතින් අපේ රහස් පැවැත්ම ගැන දන්න දෙවර්ගයක් දැන් ඉන්නවා. ඉතිං කෙනෙක් කොච්චර උත්සාහ කරත් කොන්ත්‍රාත්කරුවන්ගෙන් නම් අපි ගැන දැනගන්න බැහැ. හැබැයි ඒ ගැන දැනගන්න ඕනෙ නම් මේ නගරයේ ඉන්න කොන්ත්‍රාත්කරුවන්ගෙ සාර්ථකත්වය තමයි එකම සලකුණ. එවුන් අපිත් එක්ක තිබුණා සම්බන්ධය අපිට ඉවසගන්න බැරි තැනයි අපි ආයෙත් සංවිධානය වෙන්න පටන් ගත්තෙ. ඕනෙම කොන්ත්‍රාත්කරුවෙකුගෙ දියුණුවෙ රහස ඒක. සත්තු."

"නිකමට හිතන්න, මේ මහ රෑ අර හිරිගඩු පිපෙන උස තැන්වල හැංගගෙන, එළි වෙනකං වැඩ කරන හඬ ඇහෙන්නෙ, කොහොමද. අර අහස උසට හැදෙන

ගොඩනැගිලි දවසින් දවස වෙනස් වෙන්නෙ කාගෙ ශක්තියෙන්ද? ඒ කම්කරුවන්ගෙන් කියලයි ලෝකයම දන්නෙ? අනේ සමාවෙන්න. ඒක දැන් බාගයක ඇත්තක් විතරයි. සමහර විට දැන් ඊට වඩා වැඩින් ඇති. කම්කරුවන්ගෙ වෙහෙස ශ්‍රමය ගැන ඔයාල හැම දාම දුක් වෙනව ඇති. සමහර විට ඒ දුක දිහා නොබලාම වාහනවල යනව ඇත්තෙ කවදාහරි දවසක මේ මහා මිනිස් දුක ඉවර වෙයි නෙ කියල වෙන්න ඇති. ඒකෙ හැටි එහෙම උනත්, ඇත්තටම ඔයාල වරදවා වටහාගත් දුක රසකරන්නන් විතරයි. කවි කියන්නන් විතරයි. ඉතිං අන්තිමට අර අහස උසට විහිදෙන ගොඩනැගිලි හදල ඉවර උනාමයි තේරෙන්නෙ මේවා හදන්න පුළුවන් මිනිස්සුන්ට නෙවෙයි වෙනත් වර්ගයකට නේද කියන එක. එවුන් දෙවිවරුවත් මිනිස්සුවත් නෙවෙයි, සත්තු. මිනිස්සුන්ට ඕව කරන්න බැහැ. එයාලට පුළුවන් කම්මැලිකම විතරයි.''

"හරි බංඝ ටික නවත්තලා ඔයාගෙ පවුලෙ අයට මොකද උනේ කියල කියන්න", නවීෂා ඉක්මන් උනා.

"තමන්ගෙ පවුලට මොකද්ද උනේ කියන එක ඕනෙම විප්ලවවාදියෙක්ට මග ඇරෙන දෙයක්. පවුල අවුල් වුණාම දේශපාලනයට, සමාජ වැඩවලට එන එක මොන සනාගෙන් හැටියක්. පවුල අවුල් වීමෙන් පස්සෙ කරන දේශපාලනය මෙහෙ හඳුන්වන්නේ ප්‍රජාතන්ත්‍රවාදී

දේශපාලනය කියලා. උන්ගෙන් එකෙක් කට ඇරිය ගමන්ම තේරෙනව ඌ කියන්නෙ දේශපාලනය නෙවෙයි වෙනමම දෙයක් කියලා. ගෙදර ගෑනිට හොරෙන් තාත්තයි පුතයි පිට ගෑනියෙක් එක්ක මාරුවෙන් මාරුවට නිදාගන්න දේශපාලනයක් මේක. දැන් කාටවත් හොයාගන්න බෑ ඒ ගෑනිට හම්බුන දරුවගෙ තාත්ත කවුද කියලා. දේශපාලන බලය කියන්නේ ඒවගෙ අශ්ශීලාශාවකට හොඳටම විවර වුණ දෙයක්. ඒවගෙ දෙයක් කරන්න කැමති කෙනෙක් ඉන්නව නම්, වැඩි දෙයක් නෙවෙයි, කරන්න තියෙන්නෙ පාර්ලිමේන්තු දේශපාලනය පටන් ගන්න එක. මතක තියාගන්න ඔයාල හැප්පෙන්න යන්නෙ එයාලත් එක්ක" මම කිව්වා.

"මම කියන්නම්, මම කියන්නම්, ඒක තමයි මට සිද්ධ වුණ වැරැද්ද, අවුරුදු පහළොවක් විතර ගෙවිලා ගියා. මම හිටියෙ සංවිධාන වැඩත් එක්ක. හෙමින් හෙමින් මට ඒකෙ නායකත්වය හම්බුනා. මම ගෙදර ගියේ නෑ දවස් ගණන්. ඒ නිසා මම තීරණය කරා මගෙ දරුවන්ව රැකගන්න ක්‍රමවේදයක් හදන්න. මම ගෙදරට දොරවල් තුනක් දැම්මා. හැම ජනේලයක්ම සීල් කරා. අපි එලියට ගියේ මාසෙට එක සැරයයි. ඒකත් රෑට. එනකං අපි ගේ ඇතුලට වෙලයි හිටියේ. දවසක් මට ජූලි කියන්න ගත්තා, හරිම සතුටු හිතෙන පණිවුඩයක්."

"ඒ මොකද්ද?" නවීෂා ඇහුවා.

"ඒ තමයි මගෙ දුව ගැබ්බර වෙලා," සිංහයා තනියෙන් හිනාවෙනවා.

"මොකාහ්... ගැබ්බර වෙලා... මේ මොන මඟුලක්ද මේ... ඒක කොහොමද වෙන්නෙ... කාගෙ අතින්ද? නාවිෂා මගෙ දිහාවට අත දික් කරල අහනවා. එතකොටම සිංහයා උත්තරය දුන්නා.

"මගෙ පුතයි ඒ ආඩම්බර හිමිකාරයා"

ඒකට නාවිෂාට තවත් කේන්ති ගියා. කේන්ති ගිය නාවිෂා සිංහයගෙ ඔළුව ඇඟිල්ලෙන් තල්ලු කරල දැම්ම පස්සට. ඒත් සිංහයා...

"ඉතිං මට තවත් සතුටක් කොහෙද? ඒත් එදයින් පස්සෙ හැම දෙයක්ම වෙනස් වෙන්න පටන් ගත්තා. පුතා නිතරම ඇහුවා දුව එක්ක එළියට යන්න. මම ඉඩ දුන්නෙ නැහැ. මොකද එයාලත් ටික ටික වෙනස් වෙමින් හිටියෙ. එළියෙ ලෝකය ගැන එයාල දන්නෙ නැහැ. මම සීය කෙනෙක් වෙන්න යනව. ජූලි එයාලගෙ ආච්චි. අපේ අන්තිම සටනෙන් පස්සෙ අපි ගෙදරින් එළියට එන්නයි හිතන් හිටියේ. මගෙ පුතා තමයි අනාගත දිනාගන්න ලෝකයේ යුව රජ."

ඒ කිව්ව දේට මගෙ කට වැඩ කරගන්න ගත්තා. "එක ගෙදර පවුල් දෙකක් ඉන්න බැහැ. කරුණාකරල එයාලට යන්න දෙන්න. එයාලට වෙන් වෙන්න දෙන්න. දරුවන්ව ඔච්චර සුරකින්න යන්න එපා. එයාලා පවුලෙ

ඉන්න අයත් එක්ක විතරක් හැසිරෙන්න දෙන එකෙන් බිහි වෙන්නෙ ආත්මාර්ථය විතරයි. ඒ වගෙම තමන්ටවත් පාලනයක් නැති වස්තුවක් හැදෙන එක විතරයි. දරුවෝ දෙමව්පියන්ගෙම ගෙනවෙයි. එයාල සමාජයෙන් දරුවො. තමන්ගෙ කියල දරුවෙක් හිටිය නම් ඒක මහ පරණ සිරිතක්. මම දන්නවා අමාරුයි කියලා. එයාලටත් කවද හරි දික්කසාදන් වෙන්න දෙන්න. දික්කසාදයක්, වෙන්වීමක් කියල කියන්නෙ ඒ ළමයින්ගෙ විශ්වවිද්‍යාල. එනකොටයි, ඔයාලටත් සමජයක් හැදෙන්නෙ. නැත්නම් වෙන්නෙ මේ පාරත් කුලවාදයකින් ඉවර වෙලා යන එක. ඔයා වැඩේ මුල ඉඳන් වරද්දගෙන. ඔයාලගෙ මහ ලොකු සමූහයත් වැඩේ ඇති තරමට වරද්දගන්නෙ ඔතනින්. මම හිතන්නෙ නෑ ඔයාලයි අර දේශපාලකයොයි අතර වෙනසක් තියෙනව කියලා." මම කිව්වා.

"ඔව්, දරුවොන්ගෙ තටු කපල දැම්මම කොහොමද උන් පියාඹන්නෙ. වාහනවල හැප්පිල මැරෙනව මිසක් වෙන උරුමයක් උන්ට නැහැ." නවීෂට කියවුණා. නවීෂාට මතක් උනා තමන්ගෙ අතීතය. නවීෂා ආයෙත් සිංහයගෙ ඔළුව ඇඟිල්ලෙන් පස්සට තල්ලු කරා. මේ දෙවෙනි වතාව. නිහඬතාවයෙන් පිරී ගියා. කිසිම හැලහොල්මනක් නැතුව ගියා. හිටියෙ අපි හතර දෙනා විතරයි.

ඒනකොටම කුණු කන්ද පුරාවටම අමුතු සද්ද ටිකක් අපි අතරින් මතු වෙන්න පටන් ගත්ත. වටින් ගොඩින් එක

එක හෙවනැලි මතු වෙන්න ගන්නවා. අඳුරෙන් මතුවෙන නිසා එන්නෙ මොක්කුද කියල අඳුර ගන්න බැහැ. "මොක්කුද මේ" නවීෂා මගෙ පිටිපස්සෙ හැංගුනා. මගෙ පිටිපස්සෙ හැංගිල තේරුමක් නැති බව දැනගෙන ගිහින් කුංජනව අල්ලගත්තා. ටිකෙන් ටික ඔවුන් ළං වෙනවා. සිංහයා ඉඳගෙන හිටපු තැනින් නැගිට ගත්ත. මගෙ ළඟට ඇවිත් නතර වුණා. සිංහය දිහා බැලුවට මිනිහගෙ මූණේ කිසිම වික්ෂිප්තභාවයක් තිබුණෙ නම් නැහැ. බොහෝම සාමාන්‍යයයි.

මේ නම් සාමාන්‍යය මිනිස්සු නෙවෙයි. එවුන් අපිව දැන් මුළුමනින්ම වට කරගෙන. කුංජන හොඳටම ලැස්ති වෙලයි හිටියේ ඕනෙම දේකට. ඒත් සිංහයා මාවත් පසු කරගෙනම ඉදිරියට ගියා. ගිහින් නතර වුණා අපිට ඉස්සරහින්. අර ඇවිත් ඉන්නෙ තව තවත් සත්තු. උන් හැම කෙනාගෙම ඇඟෙන් බාගයක් සත්තු බාගයක් මනුස්ස. නවීෂා, නැගගත්තා ඉක්මනින්ම කුංජනගෙ ඇඟ උඩට. කුංජන අඩියක් දෙකක් පස්සට ගිහින් හොඳටම ලැහැස්ති උනා.

සිංහයා, එවුන් ළඟට ගිහින් මොනව හෝ රහසින් මිමුණුවා. ටික වෙලාවක් එහෙම කතා කරල අපි ළඟට ආයෙ එන්න හැරුණා.

මේ ඉන්නෙ අපෙ අය. බය වෙන්න එපා කියල අපිව හඳුන්වලා දුන්නෙ හරකෙක්ට. හැබැයි ඒකාගෙ මූණ

නම් මිනිස් මූණක්, ඒත් කකුල්වල කුර තිබුණා. විශාල අං දෙකක් තිබුණ මේ හරකා වැඩිහිටියෙක්. අනිත් ගොඩක් අය හරකුන්. සමහරුන් හිටියා තැන් තැන්වල වඳුරු මිනිසුන්. බලු මිනිස්සු. ඒකත් සෑහෙන විශේෂ වර්ගයෙ බලු වර්ගවල මූණු එක්ක. හැබැයි ඔවුන්ගෙන් කිසිම කෙනෙක් පිළිකුලක් දැනෙන තරමට විරූපී නැහැ. මිනිස් ශරීරයට සෑහෙන් සමානයි. එවුන් අපි වගෙම හොඳට ඇඳ පැලඳගෙනයි ඉන්නෙ. එවුන් එක එකා අපිට ආචාර කරා. එනකොටම අහසේ හඳ තිබුණ පැත්තට එහායින්, කඳු මුදුනට උඩින් මොකද්දෝ වෙනසක් ඇති වෙමින් තිබුණා. ඒ අහසින් මතු වුණේ මිනිස් පරිමාණයෙ විශාලත්වයෙන් යුතු සුදු පරෙවි මිනිසෙක්.

"මේකාගෙ අම්මයි තාත්තයි කවුද එනකොට?" නවිෂා කියාගත්තෙ මටත් එක්ක ඇහෙන්න. කාගෙන්වත් පිළිතුරක් නැති නිසා අන්තිමට එයාම උත්තරේ දීගත්ත. "ඒක නම් සෑහෙන ලොකු බිත්තරයක්."

මේ පරෙවි මිනිසා ආවෙ කෙළින්ම සිංහයා ළඟට. ඇවිත් කනට කරල කිව්ව දෙයින් සිංහයට උන් හිටි තැන් අමතක වුණා. හයියෙන් එහා මෙහා ඇවිදින්න උනා. මිනිහාට කවුරුත් බාධා කරේ නැහැ. තනියම හිතන්න උනා.

මම සිංහයාට ළං වුණා. මිනිහගෙ ඉක්මන් සක්මනට මගෙ පැමිණීම බාධාවක් උනා. මගෙ ළඟ නතර වෙලා උරහිසට අත තියලා කිව්වෙ,

"එයාල ඉන්න තැන අපි දන්නවා, උන්ට ඕනෙ මාව" සිංහයා කිව්ව. ඒත් ඒ ඇස්වල කඳුළු පනින්න ඔන්න මෙන්නයි තිබුණෙ...





සිංහයා එක් වරම අපි හිටපු තැනින් ඈතට දුවන්න ගත්තා. ඒ දුවන්නෙ දරු සෙනෙහස. ඒ වගෙම සිංහයට ඕනෙ වුණෙ නෑ  විප්ලවය වෙනුවෙන් තමන්ගෙ පවුල පාවා දෙන්න. සිංහය ඔහුගෙ එක සෙබළෙක්ටවත් මේ වෙනුවෙන් අඩියක් නොතියන්න එකඟ කරවගෙන තිබුණා. එවුන් කරන්න හිටපු විප්ලවය ඒ තරමටම අවංකයි. සිංහය දුවගෙන ගියේ කුණු ලොරියක් දිහාවට. මාත් ඒ පැත්තටම දුවන්න ගත්තා. මමත් දුවගෙන ගිහින් නැගගත්ත  කුණු ලොරියෙ ඔහුත් එක්කම. සිංහයා මගෙ දිහා බලාගෙන ඉන්නවා.

''ඔයා මොකද්ද මේ කරන්න හදන්නෙ? මේක සෑහෙන අනතුරුදායකයි.'' සිංහය මගෙන් ඇහුවා.

මම ඔයාලගෙ හමුදාවෙ එක්කෙනෙක් නෙවෙයි. ඉතිං මොකටද කාගෙවත් අණ පිළිපදින්නෙ. මමත් නියම කොටියෙක්. දැකල නැද්ද සිංහයොයි කොටියි එකට සටන් කරනවා. ඔන්න බලාගන්න." මම කිව්ව.

සිංහයා මගෙ උරහිසට අතක් තිබ්බෙ, හරිම උණුසුම් විදියට. මං දිහා ටික වෙලාවක් නිශ්ශබ්දව බලන් හිටියා. මිනිහා ආයෙත් හැඟීම් බරවෙලා. සිංහයොන්ගෙ ඇස්වල හැටි මෙහෙමද? ඒව සෑහෙන හැඟිම්බරයි නෙහ්.

"අනිත් එක සිංහයන්ට මෙහෙම හදවතක් තියෙන එක සෑහෙන අගුණයි, ඒකයි ආවේ." මම කිව්වා

ඉතින් එතන ඉඳන් වේගයෙන් වාහනේ ඉදිරියට ඇදෙන්න උනා. සිංහයෙක් වාහනයක් එලවන එක ගැන කවුරුත් දැකල නැත්තම්, ඒක බොරුවක්. මේ මන් ඒක දකිනවා. මට ගොඩක්ම හිනා යන දෙය තමයි, එයාල හෝන් ගහන එක.

ටික ටික අපි ළං වුණේ නටබුන් වෙච්ච පිටකොටුවට. ඒක දැන් කාන්තාරයක් වගෙ හිස් බිමක්. මුළු නගරයම මුන් අයින් කරල වෙන වෙන තැන්වලට විහිදුවල දැම්මම ඉතුරු වුණේ තිබුණ හැම කඩ පිලක්ම ඩෝසර් කරල දාන එක. වීදිවල කෑ ගහමින් වෙළදාම් කරපු වෙළෙන්දන් දැන් නැහැ. ළඟදීම මේවායේ අහස උසට හැදෙන ගොඩනැගිලි තැනේවි. මම මොන තරම් නම් වාසනාවන්තයෙක්ද? කොයිතරම් මෙතනින් යන්න එන්න ඇත්ද? මගෙ ඇස්

ඉදිරිපිට මේ වෙනස්කම් සිද්ධ වෙන එක ගැන මම නිතරම කතා කරා මගෙ මිතුරන් එක්ක. ඒත් දැන් අපිට තියෙන්නෙ වෙන වෙන මාතෘකා. එයාල ඔක්කොම පවුල් කාරයො වුණා. සමහරුන් පපුව පැළිලා මැරුණා. මම විතරක් තනි වුණා. ඒකත් මේ සිංහයෙක් එක්ක.

කුණු ලොරිය නතර කරල බැහැගත්ත මම වටපිට බැලුවෙ කොහෙන් කොහොම හොයාගන්නද කියල හිතාගන්න බැරුව. සිංහයා ලොරිය ඉස්සරහට ඇවිත් නතර වෙලා භාවනාත්මක උනා වට පිටාව ගැන. සිංහයගෙ ඇස් වැහි වැහී ඇරුණා පොඩි වෙලාවකට. එහෙමයි සිංහයෙක් ඉව කරන්නෙ. එවුන්ට පොඩි ආවේෂයකට යනව ඒ වෙලාවට. මගේ එවුන් කොහෙද?



සිංහයට මොකක් හරි වැදගත් දෙයක් හමුවුණා මං හිතන්නෙ. හීන් ගෙරවිල්ලක් එක්ක මිනිහගෙ කෝපයයි ශක්තියයි වැඩි කරගන්න ද කොහෙ ද? ඉතින් මම නිකම්ම නිකං ඉව තියා පුල්ලියක්වත් නැති කොටියෙක්. මට තියෙන්නෙ සිංහයව යන දිහාවකට යන්න විතරයි. එතකොටම සිංහයා දුවන්න ගන්න වෙිගෙන්.

මමත් ඒ පස්සෙන්ම දුවන්න ගත්ත. සිංහය මුලදී දිව්වෙ කකුල් දෙකෙන්. ඒත් ඇත තියෙන මොකක් හෝ දෙයක් ටික ටික පේන්න ගත්ත. ඒ නිසා නොඉවසිලිවන්ත සිංහය හතරගාතෙන්ම දුවන්න ගත්තා. බේබද්දොත් මෙහෙම තමයි. ඒත් මේක නම් දරු සෙනෙහස. ප්‍රේමය.

''අර ඉන්නෙ?'' සිංහයාට දුවන ගමන්ම කියවුණා. ඒත් අඳුරෙම මට මුකුත් පැහැදිලිව පෙනුනෙ නම් නැහැ. ඒත් සිංහයෙක්ට පේනවා. සිංහයෙක්ව විශ්වාස කරන්න පටන් ගන්න පුළුවන් තැන් බොහෝමයි. ඉතින් මමත් ඒ පස්සෙසන්ම දුවන්න ගත්තා. හතරගාතෙන් දුවන කොට මිනිහා මට වඩා සෑහෙන්න ඉදිරියෙන්.

ඒත් එකපාරටම සිංහයා තමන්ගෙ සමබරතාවය බිඳගෙන ලිස්සල ඉදිරියට ඇදිගෙන ගියා. මං හිතන්නෙ සිංහයට මොකක් හෝ අනතුරක් වුණා. මම ළඟට යද්දි මිනිහා වේදනාව මැඩගන්න හදනවා.

"ඇයි මොකද උනේ?" මම ඇහුවා.

සිංහයා මගෙ මූණ දිහා බලල, කෙළින්ම බැලුවේ මිනිහගෙම උරහිස දිහා. උරහිසෙන් ලේ ගලනව. ඒක වෙඩි උණ්ඩයක්... ඉස්සරහට තව මොනව වෙයිද කියන්න බැහැ.

එතකොටම තවත් උණ්ඩයක් ඇවිත් වැදුණ අපි හිටපු වැලි පොළවේ දූවිලි අවුස්සමින්ම. කවුරු හරි අපිට දිගටම වෙඩි තියනවා. මෙන්න ආයෙත් එකක් සිංහය ළඟින්ම.

සිංහය කෑගහගෙන එඩි ගත්ත ඒ පාර නම්. දුවන්න ගත්ත ඉස්සරහට ආයෙත් හතර ගාතෙන්ම. හැබැයි මේ පාර නම් හැරි හැරී. සිග් සැග් ක්‍රමයට. ඒත් ඒක නම් මහ වියරු දිවිල්ලක්. කලින්ටත් වඩා වේගයෙන්. මමත්

හැකි උපරිම වේගෙන දුවගෙන ගියා ඉස්සරහට. ඒත් දිගින් දිගටම වෙඩි සද්ද ආවා. ටික ටික ළං වෙද්දියි පෙනුනෙ අලුයම් අඳුර මැදින්, ඉන්නව තරුණයෙක් තුවක්කුව දිගු කරගෙන, සිංහය දිහාවට. ඒ තමයි සිංහයගෙ පුතා. වෙඩි පත්තුවෙන වේගය වැඩි නිසා අපිට තව ඉස්සරහට යාගන්න බැහැ. මුවා වුණා කැඩිල බිඳිල ගිය සිමෙන්ති බැම්මකට. සිංහයා හති අරිනවා වේගෙන්, වැදුණ උණ්ඩවලට වඩා වේදනාවක් තියෙනව මිනිහගෙ හදවතේ. ඒත් ඊට වඩා වැඩියි දරු සෙනෙහස.

"මේක මගෙ එකා, ඒත් මට වෙඩි තියනවා. ඒකාගෙ එල්ලය හරියටම හරි. මම මේවා කරන්න කියල දුන්නෙ නෑ. මේ දවස් ටිකට ඒකා ඒකත් පුරුදු වෙලා.'' සිංහයා හෙමිහිට කිව්ව.

සිමෙන්ති බැම්මට මුවා වෙලා පරෙස්සමෙන් කිහිප වරක්ම ඔළුව දාල බැලුවා වෙඩි තියන දිහාව. අහ්, එතන එක්කෙනෙක් නෙවෙයි දෙන්නෙක් ඉන්නව. සිංහයගෙ පුතාගෙ පිටිපස්සෙන් එකපාරම මතුවුණා තවත් එකෙක්. ඒ නම් සම්පූර්ණයෙන්ම පිරිමියෙක්. තිවන් දකින්න නම් මනුසත් බවයක් ලබන්නම ඕනෙ. ඒ අර්ථයෙන් නම් මේකා පරිපූර්ණ මනුස්සයෙක්. මම සිංහයට ඒ බව දැන්නුවා. මට වඩා දහස් ගුණයක සංහාර ශක්තියක් තියෙන එවුන් අතර යුද්ධයකදි මට කරන්න පුළුවන් ඒ වගෙ තොරතුරක් දීගන්න එක විතරයි ද? ඒත් ඒකා තැඹිලි පාට කෝට් කාරයෙක්...

සිංහයත් මමත් දෙන්නම සිමෙන්ති බැම්මට මුවා වෙලා බැලුවා මේ අනින් එකා හරියටම මොකාද කියලා. අපි නව ලං වෙන්න වෙනවා ඒකට. ඉදිරියෙ තියෙනව තව සිමෙන්ති බැම්මක්, යාගන්තොත් එතනට පුළුවන් වේවි හරියටම ඒ මොකාද කියලත් බලාගන්න. ඒ නිසා අපි අමාරුවෙන් බඩගෑවා එතනට.

ඔව් දැන් ටික ටික පැහැදිලියි. ඒත් අපිට මින් ඉදිරියට නම් මුවා වෙන්න නව ඉඩක් නැහැ. සියලුම බාධක එතනින් පස්සෙ ඉවරයි. තවත් ඉස්සරහට තියෙන්නෙ නිකම්ම නිකං හිස් බිමක්.

ඒකා, ඒ නැඹිලි පාට කෝට් කරායා සිංහ පුතාගෙ කන ළඟට වෙලා හිටගෙන ඉන්නවා. අපිට පේනවා තියන තියන හැම වෙඩි පහරකටම සිංහ පුතාගෙ කන ළඟට කරල කියන කියුමක්. ඌ මේ අත්හදා බලන්නෙ මොකද්ද? අඩු හානියකින් වැඩිපුර ප්‍රතිඵලද? සීතල යුද්ධ කියන්නෙ ඒවට.

සිංහ පුතා තුවක්කුව මානා ගෙන ඉන්නවා, මට දැන් ටික ටික පේනවා මිනිහා කඳුළු පිහිනවා. අඬ අඬ වෙඩි තියනවා. අපි ඉන්න සිමෙන්ති බැම්ම ටික ටික කැඩිල යනවා. ඒ තරමට උණ්ඩ පහර සැරයි. තව ටික වෙලාවකින් මේ බැම්බ කඩන් වැටෙනවා. අපි ඉන්නෙ ජීවිත අවධානමක. හන්හා. ජීවිත අවධානමක්... ජීවිත අවධානමක් කියන්නෙ මහා ලොකු විඥානවාදයක්. ඒත්

විඥානවාදය කියන්නෙ යථාර්ථය තිබ්බ තවත් මාදිලියක්. මීට ටිකකට කලින් වෙලාවක මගෙ පපුව පැලෙන්න එද්දි මගෙ ළඟ කවුරුත්ම හිටියෙ නෑ. ඒක අල්ලගෙන ඉන්න මගෙ අත් දෙක විතරයි තිබුණේ. ඒත් දැන් නම් සිංහයෙක් ඉන්නවා. හහ්හා...

ඊළඟ මොහොතේ වෙඩි පහර නොතකාම සිංහය පැන්න හතර පිම්මකින් ඉස්සරහට. ඒ තරම් දෙයක් මට නම් කරන්න බැහැ, ඒත් සිංහය දිහාවට තියපු උණ්ඩ කිහියකින්ම මිනිහා බේරුණා. ඒත් ඊළඟ උණ්ඩය සාර්ථක වුණා. ඒක ඇවිත් කෙලින්ම වැදුණෙ සිංහයට. ඒකෙන් නම් සිංහයගෙ ශක්තිය දෙකට තුනට කැඩුණා. අත් දෙක බිම් තියාගෙන දත ගහගෙන මිනිහා හුස්ම ගන්න හදනවා. ආයෙත් එක පිම්මකට මිනිහා ශක්තිය එකතු කරනවා. සිංහයත් එහෙමයි. සිංහයන් එහෙමයි.

මේ වෙඩි වරුසාව නවත්න ගන්න උණ්ඩ ඉවර වෙනකන් ඉන්නව වෙනවා. නැත්තම් උණ්ඩ සැර කාගෙන ඉස්සරහට යන්න වෙනවා. දැන් නම් මම මිනිහෙක්ව මරාගෙන මැරෙන්න තරම් හයියකින් පිපිරිලා යන්න ආසන්නයි. සිංහයව බේරගන්න ඕනෙ. මට පේනවා පූනා ඉන්නෙ බැරි බැරි ගාතේ අවසන් එල්ලය ගන්න. දැන් එල්ලය හොඳටම පැහැදිලියි. ඒකෙ වරදින්න ආයෙත් දෙයක් නැහැ. මිනිහට අවශ්‍යය වෙලා තිබුණෙ පුංචි ආවේගයක් විතරයි. අර මිනිහා දිගින් දිගටම සිංහ පූනාගෙ

කන ළඟට කරල කොඳුරනවා. මම මොකද කරන්නේ. ඒත් වෙන කරන්න දෙයක් නැහැ. බැරිම තැන මම මගේ කලිසම ඇතුළට අත දැම්මා.





ඒ ගත්තෙ

අර තුවක්කුව යකුනේ

කාලෙකට කලින් අර මහ රෑ හමුවුණ මිනිහා. මගෙ අතට දුන්න තුවක්කුව. අවුරුදු ගාණක් සඟවගෙන තියාගත්ත තුවක්කුව. මේ වෙන්න යන්නෙ මගෙ අතින් මම දැනුවත්වම වෙන්න යන පළවෙනි මිනීමැරුම. එල්ලයක් ගන්න තරම් වෙලාවක් නෑ. ඉලක්ක ගත නොවන මිනිහා හැම වෙලාවෙම ඉන්නෙ සෑහෙන දුරින්. කලබලයයි බයයි දෙක වෙන් කරගත්තෙ නැති නම් යන්නෙ උණ්ඩය වැරදි තෙනාට. හිත හිතා ඉන්න වෙලාවක් නැහැ. මේක මිනීමරුමකට අවස්ථාව. වැඩි වෙලාවක් ගියේ නෑ උණ්ඩයක් ලෝඩ් කරගන්න. මං ඇතුලෙ ජීවත් වුණ හැම ගැනියෙක්ගෙම හැම පිරිමියෙක්ගෙම හයිය ලැබුනා ඒකට. ඒත් එල්ලය ගත්තේ මම නෙවෙයි, මාර දූවරුන්ගෙ පනස. ඒ හැම සුවඳක්ම එකට එකතු වුණ එල්ලය. මාරාවේශයෙන්

කෑගහගෙන සතුරන් අතරට පැන්න හමුදා කොටි සෙල්ලම. අම්මගෙන් වැටුන කඳුළුවල රසය. දම් කැලයේ තණ කොළ පෙත්තන්ගේ තේරුමක් නැති නැටුම. වැවේදී අතුරුදහන් උන තැඹිලි පාට මැණික. මටත් ඇහෙන්න ගත්තා ජූලි ඩෙබ්‍රෝගේ කැමතිම සංගීතය.





මම අර මිනිහගෙ පපුවටම වෙඩි තිබ්බා. ඌ කෙහෙල් කඳක් විසි කරල දැම්ම වගෙ බිම ඇදගෙන වැටුණා. සිංහ පුතාත් එතනම බිම ඇදගෙන වැටුණා. හරියට එදා මම ඇදන් වැටුණ වගේ. මම දුවගෙන ගියා සිංහය ළගට. සිංහයගෙ පපුව පැත්තට වෙඩි වැදිලා. ඒත් සිංහයෙක්ව ලේසියෙන් මරන්න බැහැ එක වෙඩි පහරකට. ඒක ඒ තරමටම හයියයි. සිංහයට පුළුවන් තව වෙලා අල්ලන් ඉන්න. "කෝ මගෙ ජූලි, කෝ මගෙ දුව" සිංහයා කෙදිරි ගාමින්ම මගෙන් වාරු ගත්ත නැගිට්ටින්න. අපි ගියා ඒ දිහාවට. සිංහ පුතාගෙ අතේ තිබුණා තුවක්කුවට විසි වෙන්න පා පහරක් දීපු මම, කෙලින්ම ගියේ අර මිනිහා ගාවට. ඒකාට තවම පණ තියෙනවා. ඒකාට තවම පණ තියෙනවා. ඒකා හිටියෙ බිම වැටිලා, තවත් බැම්මක

ඔළුවත් වැදිලා. බිම ලෙයින් තෙත් වෙලා තිබුණා. ඒත් මට මිනිහගෙ මූණ පෙනුනේ නෑ. මිනිහා හිටියේ මූණ පැත්ත බිම හොවාගෙන.

මම ඌ දිහාවට පහත් වුණා. මේ මගෙන් වෙඩි වැදුණ මිනිහෙක්. මිනිහෙක්ව මැරුවම සතුටක් දැනෙනන වනම් ඒ සතුට කිසිම වරදකාරී හැඟීමකින් තොර එකක් නම් ඒක දැන් තියෙන්නෙ මගෙ ළඟ. මිනිහා හිටියේ මේ මිනිහා හුස්ම ගන්න උත්සාහ කරනවා. ඒත් ඒ හැම එකක්ම එකෙන් එක අසාර්ථක වෙනවා. මම මිනිහව තුවක්කුවෙන්ම හැරෙව්වා මගෙ පැත්තට. මේ අර එදා රෑ මට වෙඩි තියන්න පුරුදු කරපු මිනිහාමයි. උණ්ඩයක් පියැඹුව නෙළුම් වල.



"හහ්හ්හා .. දැන් ඉලක්කෙටම වෙඩි තියන්නත් දන්නව නේද?'' මිනිහා මගෙන් ඇහුවා. මගෙත් කට කොනක සිනහවක් මෝදු වේගෙන එනවා.

"තමුසෙ වැරැදි මිනිහටයි එදා තුවක්කුව අතට දුන්නේ." මට කිව්වා.

"මිනිහෙක්ගෙ අතකට තුවක්කුවක් දුන්නම ඒකෙ හරි වැරදි හොයන්න බැහැ. හරි තුවක්කුයි, වැරදි තුවක්කුයි කියල ජාතියක් නැහැ. ඒක මගෙ තුවක්කුව නෙවෙයි. මේ ලෝකේ කාටවත් 'මගේ තුවක්කුව' කියල එකක් කාටවත නැහැ. ඒක මම හොයාගත්තෙ ඔයාව හම්බවෙන්න ටිකකට කලින් එකෙක් ළඟ තිබ්ල. ඌත් විප්ලවකාරයෙක්...

තමුසෙටත් නොදෙවෙනි බඩුවක්.'' මිනිහා අමාරුවෙන් කියන්න ගත්ත.

"ඇයි මෙහෙම මර මර ඇවිදින්නෙ...?" මම ඇහුවා.

"ඒක දැනගන්න නම් ඔය එකෙක්ටවත් බැරි වෙයි. මට දැන් නිවාඩුවක් ගන්න කාලෙ හරි. මම මට කිව්ව දේවල් හරියටම කරා. මේ ජොබ් එක ඉවර වෙන්නෙ මරණයෙන් බව අපි හැමෝම දන්නවා'' මිනිහා කිව්ව.

මිනිහගෙ කටේ එදා බුලත් විටක් නම් තිබුණෙ නෑ. එදාට වඩා මිනිහා පැහැපත්. ඒත් මිනිහගෙ හිනාව නාම එහෙමයි. ඒක අසහනකාරීයි. එතකොටම මට ඇහුණා, සිංහයා කෑගනවා,



"ඕකාට මැරෙන්න දෙන්න එපා. මගෙ ජූලියි දුවයි ඉන්න තැන දන්නෙ ඒකා"

මම හැරිල බලද්දි, සිංහ පුතා හිටියෙ තමන්ගෙ නාත්තව වඩාගෙන. මිනිහගෙ ඇස්වලින් කඳුළු වැස්සී වැස්සියි තිබුණේ... මම ඇහුවා "කෝ, ජූලියි, දුවයි. කියපන්..." මැරෙන්න කලින්වත් හොඳ දෙයක් කරන්න හිතපන්.... ඒත් මම දැන් දන්නවා, මේ වගෙ මිනිහෙක්ට හෘද සාක්ෂියක් තියෙන්න විදියක් නැහැ කියලා.

"හන්හ්හා. මම ඔය කියන හොඳත් නරකත් පහු කරල ගොඩක් කල්. මට ආයෙ යන්න අපායක්වත් දෙව්ලොවක් වත් නාම හැදිලා නෑ. තමුසෙලට මේවායෙ හැටි නාම තේරෙන්නෙ නෑ. තමුසෙල අපි ගැන දකින්නෙ සිහින

විතරයි". මිනිහ කියවන්න ගත්තා. මම අත දිග ඇරල දුන්න මිනිහගෙ මූණට මිට මොළවල එකක්. ඒත් කිසිම තේරුමක් උනේ නෑ. මිනිහා ඒකෙන් තවත් උද්දාමයට පත් වුණා. ඔව් මැරෙන්න යන මිනිහෙක්ට මෙහෙම දේවල් වෙනවා.

සිංහයා පුතාගෙ වාරු අරගෙන අද්ද අද්ද අමාරුවෙන් ආවා. "කෝ කියපන්... කොහෙද ඉන්නෙ කියපන්." මිනිහා එතකොට ගනිමින් හිටියෙ අන්තිම හුස්ම ටික... ඒකත් හොඳටම කට කොනට සිනහවක් අරගෙන. මේ වගෙ මිනිහෙක්ගෙන් තොරතුරක් දැනනොගන්න එකම හොඳයි. මොකද ඒක බොරු මහන්සියක්. දැනගත්තත් ඒක ඇත්තක් නොවෙන්න පුළුවන්. මුන්ව ඒවගෙ අවස්ථාවලට මූණ දෙන්න හොඳටම පුහුණු කරලයි තිබුණෙ. මිනිහා අන්තිම හුස්ම පිට කරා. ඒ හිනාව තියාගෙනම මැරිල ගියා. මේ සිංහයන් මහා සේනා බල මුළු හදමින් හැප්පෙන්න යන්නෙ මේ වගෙ සංහාරයන් එක්කද? ඇත්තටම එක මිනිහෙක්ගෙ ශක්තිය යුධ ටැංකියක ශක්තිය. ඒ වගෙම උංට පුළුවන් තමන්ගෙ එවුන්ට එරෙහිව තමන්වම සතුරෙක් කරන්න. ඒකට අවශ්‍යය හැම මනෝ විද්‍යාවක්ම හැම දර්ශනවාදයක්ම උන් සතුව තියෙනවා. උන්ට අගක් මුලක් ඕනෙ නෑ දෙයක් පටන් ගන්න. ඕනෑම තැනකින් පටන් ගන්න පුළුවන් හැකියාව උන්ට තියෙනව. ඉතින් අපි ගාව තියෙන්නෙ මොනවද? අසාධාරණයට එරෙහි

මෝඩ හදවත් විතරයි. ඉතින් අපිට ඉස්සරහටත් මේ විදියේ සැහෙන ප්‍රශ්නවලට මුහුණ දෙන්න වෙනවා. ඒ ප්‍රශ්න වලින් අපිට ඉගෙන ගන්න වෙනවා. ඒකට ජීවිත සැහෙන ගාණක් කැප කරන්න සිද්ධ වෙයි.

ඉතින් අපි සිංහයවත් වත්තන් කරගෙන කුණු ලොරියට නැග්ගා. සිංහයත් මේ වෙනකොට සැහෙන අමාරුවෙන්. අපි ආයේ ආවේ අර කුණු ගොඩ ළඟට. එතන කවුරුත් පේන්න හිටියේ නෑ. කෝ නවීෂා, කෝ කුංජන. කිසිම හැල හොල්මනක්වත් නැතුව ගිහින්. මම කෑ ගැහුවා. කෝ මෙතන හිටපු අය...

ටික වෙලාවකින් කුණු ගොඩ දෙබෑ කරන් ඉඩක් විවර උනා. මේ කුණු ගොඩේ නිර්මාතෘ මෙහෙම දෙයක් කවදාවත් හිතන්නෙ නැතුව ඇති. ඒක පාරක් ඒක නාය ගියේ අහිංසක මිනිස්සු මරාගෙන. මේ වෙද්දි කුණුගෙ ාඩේ මිනීමරු නිර්මාතෘවරයා මේ රටේ නායකයෙකුත් වෙලා හමාරයි. ඒ අතර තුර කාලයේදියි මේ අර්ධ සත්ත්ව කොට්ඨාසය මෙහෙ ලැගුම් ගත්තේ. දැන් ඒ කුණු ගොඩ ටිකෙන් ටික කැලෑවට වැහෙමින් තියෙන තැනක්.

ඉතින් දොර ටිකෙන් ටික විවර උනා, මුලින්ම එතනින් එළියට ආවේ අර පරෙවි මිනිහා. ටිකෙන් ටික එක එක වර්ගයේ අර්ධ සත්ත්වයින් ඒ දොරෙන් එළියට ආවා. ඒ අතරේ නවීෂාත් හිටියා. සිංහයාගෙ සිරුර ඔසවාගන්න අනෙක් සත්තු මහුව අරන් යන්න හදද්දිම, සිංහයා මගෙ

උරහිසට අත තිබ්බා. "අපි යමු.. අපි වගේ අයටත් මේ පොළොවේ අලුත් ලෝකයක් හැදෙනව. අපිට ඉස්සරහට ඒකට ගොඩක් වැඩ කරන්න වෙනව. අපි ඒක හදමු.''

"ඔයාලගෙ ලෝකයේ අය කවද හරි මේ සටන ජය ගනීවි. ඔයාලට උදව් කරන්න මම ඕනෙම වෙලාවක ලෑහැස්තියි". මම කිව්වා.

මම නවීෂා දිහා බැලුවා. එයා හිටියේ අහක බලාගෙන. මම හිතන්නෙ එයා ඉන්නෙ මේ අය එක්ක යන්න කමැත්තෙන්. ඒත් මාව මොකකින් හරි නවත්තනවා. මට ඔවුන් සමග යන්න බැහැ.

"ඔයාට දැන් එළියෙ ඉන්න අමාරුයි, ඔයා දැන් උන්ගේ එකෙක් මරලත් ඉවරයි. මේ හැම එකක් ගැනම උන් දන්නවා. උන් හැම එකෙක් ගැනම අපි දැනටමත් දන්නවා. ඔයා කැමති වෙලාවක මෙහෙට ඇවිත් ආයෙ යන්න කිසිම බාධාවක් නැහැ. මේක තමයි ඔයාගෙ අලුත් ගෙදර. ඔයා තීරණයක් ගන්න.'' සිංහයා මට කිව්ව. සිංහයව අරගෙන ගියා ඇතුළට. ඒ එවුන්ගේ ලෝකයට. දැන් මෙතනින් එහාට මොකද වෙන්නේ? මේක ආයෙත් අලුත් ජීවිතයකට මුල පිරීමක්. සටන් කරනවා හැර වෙන විසඳුමක් නොමැති ලෝකයක්. මෙච්චර කාලෙකට අපි කවුරුත් නොදන්න විදියට මරල දාපු අතුරුදහන් කරපු මිනිස්සු වෙනුවෙන් සටන් කරන්න සිද්ධ වෙන ලෝකයක්. ආයෙ ආපහු හැරීමක් නැහැ. මට එක දෙයක් තෝරගන්න වෙනවා.

## බුදුන්ගේ රස්තියාදුව

ගෙදරින් එළියට බැස්සෙ මම, ආයෙ නොයන්න. ඒත් මට දැනුණා, මොකක් හරි තවමත් මම නොදන්න හේතුවකින් මාව වළක්වනවා කියලා. මට හැම තිස්සෙම මෙහෙම වෙනවා. ඉස්සරහ ගෙදරින් එළියට බහිද්දිත් හැම වෙලාවෙම මොකක් හරි අඩුවකින් මාව වෙලාගන්නවා. බලද්දි ගෙදර මොකාක් හරි දෙයක් දාල ඇවිත්. ඒත් අදත් මම මොනව හරි අමතක වෙලා දාලා ඇවිත් ද? පස්සෙයි මට මතක් වුණේ, මම ඒක අතට අරගෙන තිබුණා. ඒ තමයි මම මගෙ ජීවිතයේ ලියපු අවසාන සටහන. මෙච්චර වෙලාවක් මගෙ නන්නත්තාරයට මොකක් හරි අර්ථයක් තිබුණා නම් මේ තමයි ඒකේ ව්‍යවස්ථාව. මගෙ සාක්කුවේ ඒක නිතරම යන්තරයක් වගේ දමාගෙන ඉන්න බව මට මතක් වුණා.



ඉතින් මම පරෙවි මිනිසාට ළඟට ගියා. මගෙ සාක්කුවෙ මෙච්චර කාලයක් තියාගෙන හිටපු කාටවත් නොදුන්න අවසන් සටහන මම ඔහුට දුන්නා. ඒ පණිවුඩය ලැබිය යුතුම කෙනාට ගිහින් දෙන්න, මටත් පරෙවියෙක් දැන් ඉන්නවා. මම ඒක පරෙවි මිනිහාගේ අතට දුන්නා. එයාගෙ පිටෙන් එක්වරම පිහාටු යුගලය මතු වුණා. ඒක දිග ඇරියම, ඒවයෙ ශක්තිය සැඩ සුළඟක් වගේ. පරෙවි මිනිසා ඉගිලිලා ගියා. මම එතනම බිම ඉඳගත්තා. නවීෂාත් කුංජනත් හඳ එළියෙම මගෙ ළඟට ආවා. අපිටත් දැන් තියෙනව ලෝකයක් හදන්න. මේ මළ පෘථිවිය දැන් අලුත්

වැඩියා කරන්න බැරි තරමට පිරිහිලා. අපිට සිද්ධ වෙනවා පෙර නොවූ විරූ විදියකට හිතන්න.

"අපි මොකටද තවත් බලං ඉන්නෙ?" නවීෂා මගෙ ළඟ ඉඳගත්තෙ ඒ ගැන අහන ගමන්.

"කුංජනත් කැමති වගේ මෙහෙ නතර වෙන්න" නවීෂ කිව්වා.

"ඔව් ඉතිං උටත් දැන් වෙන තැනක් නෑ ජීවත් වෙන්න. පරිසර සංරක්ෂණවාදය උංගෙ වංශයම වඳ කරන්න පටන් අරගෙන. වනාන්තර කියන්නේ දැන් යුධ මුක්ත කලාප. පන්සල් කියන්නේ සර්කර්ස් බිම්. නිදහසේ ඉන්න වෙන ලෝකයක් සතෙක්ටවත් දැන් ඉතුරු වෙලා නැහැ. මේ අර්ධ මිනිස්සුන්ගෙ ලෝකය තාවකාලික තැනක් විතරයි. ඒත් ඒ ලෝකය හැදෙන්නෙ එවුන් විඳින වේදනාවලට එරෙහිව. අපිට තව කරන්න වැඩ ගොඩක් තියෙනවා. තවමත් එවුන්ගෙ සහෝදර සහෝදරියන් එකට නිදාගන්නවා." මම කිව්වා.

මම පරෙවි මිනිසාගෙ අතේ යැව්වෙ මගෙ ජීවිතයම වෙනස් කරපු ප්‍රශ්නයකට උත්තරයක් හොයාගන්න. මිනිසෙකුගෙ පපුව පැලෙන්නෙ වෙන හේතුවකටවත් නෙවෙයි ඒ මිනිහගේ ප්‍රේමය ලබන්න එහා කොනක් නැති වෙන කොට. ගොඩක් එවුන් බීල බීලා මැරිලා ගියා. තවත් අය පුදුමාකාර දුක් විඳිනවා. මහ රෑ අවදිවෙලා, කල්පනා කරනවා. නින්ද නොනින්ද අතර දුක් විඳිනවා.

ඉක්මනින් වයස්ගත වෙනවා. වැහැරෙනවා. ඒක හරියට මරණයයි ජීවිතයයි අතර ඉන්නව වගේ දුකක්. උන් ලබන මුසපත් වීම්වල අගය නිතරම බින්දුවයි. එයින් බොහෝ දෙනෙක් නිකරුණේ පරක්කු වෙලා මැරිලා යනවා. තවත් අය වේලාසනම මිය යනවා. ඒත් මගේ සටන් පාඨය 'හරි වෙලාවේ මැරෙනු' කියන එක. කිසිම වැඩකට නැති මරණයන් උලුප්පා දමන ව්‍යාජ ජීවිත මේ මහ අලුයම ඇඳන් උඩට වෙලා සිහින දකිනවා. ඉතින් මම බලාගෙන ඉන්නවා. තවමත් ඇයගෙන් පිළිතුරක් එනකන්. මම මේ ගමන එන්න කලින් මගෙ පපුව පහුරු ගෑවේ මෙන්න මේ පිළිතුරු නැති නිදන් ගත අපේක්ෂාව. දැනුත් මේ කකියන්න ගන්නේ ඒ නිදන්ගත අපේක්ෂාව. ඇය, ඇය තමයි මම පටන් ගත්ත තැන. මිනිහෙක් පටන් ගන්න ඕනෙ තමන් කැමතිම තැනෙන් නම් මේ තමයි ඒ තැන.

නවීෂාගෙ උරහිසට ඔළුව බරකරගත්තු මම, බලාගෙන හිටියා හඳ පායපු අහස දිහා. "එයා උත්තරයක් එවයිද?" ඇහුව මම ඇයගෙන්...

"මම දන්නෙ කොහොමද?'' ඇය කිව්වා.

එයා උත්තරයක් එවන්නම ඕනෙ. නේද? මම එහෙම ඇහුවෙ, ලොකු අනාගතයක් හදන්න තියෙන නිසා අපිට. ඒකට කරන්න ප්‍රේමවන්ත ආවේගයක් ඕනෙ වෙන නිසා මට. "ආආආආ එහෙනම් මේ සුරංගනාවියක් ගැන නේද මෙච්චර වෙලා කල්පනා කරන්නේ. ඇය මගෙ

කොණ්ඩය අවුල් කරල දැම්මා. දැන් මොකද්ද ඔය අරයා අතේ යැව්වේ.'' නවීෂා ඇහුවා.

"හනේ මට ඒක කට පාඩම්..." මට කියැවුණා.

''එහෙනං ඉතින් කියන්න. මොකද්ද යැව්වෙ කියලා.'' නවීෂා ඇවිටිලි කරා. "ඒක කවියක්'' මම කිව්ව.

"අහා.. කවියක්, බලමු කොච්චර පැණි බේරෙනවද කියල ඒකෙන්. කියන්ඩ බලන්න.'' ඉතින් මම පටන් ගත්තා. එතකොටම සුළඟක් අපිව පසුකරගෙන ගියා. හලො...

හලෝ මගේ ආදරණීය මිතුරිය...!!



ඔබගේ ඒ අනර්ඝ කුටියේ සයනයක

විවේක ගන්නට ඉඩ දීම ගැන

මාගේ ස්තුතියත් ගෞරවයත් ඔබ වෙත පිරිනමමි...!!

දුප්පතුන්ට පෝසතුන් විය හැකි බව අප දනිමු...

පෝසතුන් දුප්පතුන් වීමට බිය බවද දනිමු...

දුප්පතුන්ට තව තවත් දුප්පතුන් විය නොහැකි තරමට

ඔවුන් සතුව කිසිවක් නැත

එමෙන්ම පෝසතුන් පෝසතුන්මය

ඒ තරමටම ඔවුන් දුප්පත්කම ගැන බිය ය...

දුප්පත්කමට බිය වන තරමට අප පෝසතුන් වනු ඇත...

ඉතින් ඒ අලංකාර සුවඳවත් රදළ සයනය මතට මා පනිද්දී

තවත් වංශවත් මිනිසෙකුගේ හදවත බියෙන් ගැහෙන හඬ මට ඇසෙයි...

කිරිස් චිරිස්

ඔහුගේ හීතිය මා නිදි වරන මිනිසෙකු කරයි

එබැවින් ඔබ හා සයනය අත හැර මා මෙයින් නික්ම යමි...

මගේ මව බොහෝ දුගී ය...



එබැවින් ඇය බිය වූයේ මරණයට පමණි...

මරණය හා කළ ඇගෙ සටනේදී...

එනෙක් මෙතෙක් ඇසූ ලොව දිගම වාතය ඇගෙන් පිටවුණා මට මතකය...

ඉතින් පෝසතෙකුට තමන්ගේ දුප්පත්කම ගැන බිය මොන තරම් දිගු රැයක් වේවිද?

මා යමි...

මේ කුටිය ද මේ රැය ද හැර යමි...

සියලු සුවඳින් මා වෙත පිරිනැමූ ඔබේ හදවතට මම ගෞරව කරමි...

පෝසතුන් සතු බියත්, දුප්පතුන් සතු නැතිකමත්

මිනිස් ශිෂ්ටාචාරයේ ඉරණම මෙතරම් කාලයක් නිස්සේ තීරණය කළේය...

අද මා මේ සුවඳවත් රදළ සයනයේ හිඳ මේ ගැන ඔබට කියන්නේ

මේ සියලු ශිෂ්ටත්වයන් අභිබවා ලූ අපගේ මිතුදම ගැනය

ඒ මිතුදමේ නාමයෙන් මේ කුටිය හැර යමි...

ඔබට ඕනෑම නම්...

අර ඈත පෙනෙන සීතල කඳු නිම්නයේ

ගල් තලාව උඩ වැතිරී

තරු අහස දෙස බලාගෙන

අත් අල්ලාගෙන

අපේ මවුවරු ගැන කතා කරමු...

පියවරු ගැන කතා කරමු...

අවැසි නම් මේ අයුක්ති සහගත ශිෂ්ටාචාරය විනාශ කර දමමු...



නවීෂා, මගෙ අත් දෙකෙන්ම ඇල්ලගෙන තද කරගත්තා. පස්සෙදි මගෙ මූණත් හරව හරවා මූණේ හැම තැනක්ම හොඳින්ම බැලුවා. "මම ඔයාට විතරක් මේ රහස කියන්නම්. හොඳට අහගන්න" නවීෂා කිව්වා.

"ඔයා තාම මේ යුගයේ ඉන්න ගෑනු ගැන හරියකට දන්නෙ නෑ. හැම ගෑනියෙක්ම, ඔයා හිතනව වගේ නෙවෙයි. ඒත් ඔයා බලාපොරොත්තු වෙන ගැහැනිය තමයි මේ ලෝකේ ලස්සනම සුන්දරම වීරත්වයෙන්ම පිරුණු ගැහැනිය. ඒත් ඔයාට මය හම්බවෙලා තියෙන්නෙ කවුද කියල නම් මම තවම දන්නෙ නෑ. සමහර විට මේ එයා වෙන්න ඇති. එයා තවම කල් යල් බලනව ඇති. මැරෙනකම්ම කල් යල් බලාවි. ඒත් මේ ලෝකේ ඉන්න වැඩි හරියක් ජීවත් වෙන ගැහැනුන්ට  ඔයාව නම් සත පහකට ගැලපෙන්නෙ නැහැ.''

"ඔයා දන්නවද, වැඩි හරියක් ගැහැනු තවමත් තමන්ව දිනාගන්න කාටවත් අවසර දීල නැහැ. එයාල තවමත් කරන්නේ සහකරුවෙක් හොයා ගන්න මිසක් ප්‍රේමවන්තයෙක් හොයාගන්න නෙවෙයි. මොකද එයාල හිතනව ප්‍රේමවන්තයින්ට මේ ලෝකේ සුදුසු නැහැයි කියලා. ඒක ඇත්තක් උනත් බොරුවක් උනත් ඒක එහෙම්මයි. මොකද එයාල දන්නවා මේ යුගයෙදි ප්‍රේමවන්තයන් ඉක්මනටම මැරිල යනව බව, එක්කො මරලා දාන බව. නැත්නම් පිස්සන් වෙන බව."

"ඒ නිසා ගැහැනුන්ට මේ ඉන්න පිරිමි කියන්නෙ ආයිත්තමක් වගෙ දෙයක්. පිරිමි ඒකට සෑහෙන බයෙන් ඉන්නෙ. ඒත් කරන්න දෙයක් නැහැ. අන්තිමට ඒක සිද්ධ වෙන්නෙ එහෙමමයි. එයාලගෙ අම්මල එයාලව නිරන්තරයෙන්ම පුරුදු පුහුණු කරවන්නෙ, සුව පහසුකම් වලින් පිරුණු එකෙක්ව හොයාගන්න. ඒක කරන්න පුළුවන් හොඳම විදියට, ඒ කියන්නෙ තමන්ගෙ දූවව ගණිකා වෘත්තියේ යොදවන්න වුණත් පුළුවන් හැම දර්ශනවාදයකින්ම ගැහැනු සන්නද්ධ කරනවා. වාසනාවට මං වගෙ කෙනෙක්ට ඒක එහෙම උනෙ නැහැ. මොකද, මම පිස්සියක්."

"එයාල තවමත් විවාහ වෙන්නෙ තරු ගලපලා. ඒ විතරක් නෙවෙයි රක්ෂණ ආවරණයක්, හොඳ වාහනයක්, රැකියාවක් තියෙනවද කියල බලලා. අවදානමක් ගන්න

කිසිම විටෙක සූදානම් නැහැ. හැම දෙයක්ම නූලට සැලසුම් කරලයි සිද්ධ වෙන්නෙ. හැබැයි ඒ හැම සැලසුමක්ම අපිට නොදැන්නෙ, සංසාර කාලයක් පුරාවට පනාගෙන ආපු බැඳීමක් වගෙ. එහෙම දැනෙන තරමටම ඒ වෙනුවෙන් ඕනෙම වෙහෙසක් දරන්න එයාල සූදානම්. ඒ තරමටම සුවපහසුව ආරක්ෂාව කියන දේවල් ආදරයට ඇති කොන්දේසි වෙලා. ඉතිං දිගින් දිගට සිද්ද වෙන්නෙ වරදවා වටහාගැනීම්. පසු තැවෙන්න පුළුවන් හොඳම විදිය තමයි විවාහය. හරියට ඡන්දයෙන් පත් කරගන්න ආණ්ඩු වගේ. ඇත්තටම මේ යුගයේ දි හැම විටම සිද්ධ වෙන්නෙ, හැම ගැහැනියකට, ඔලමොට්ටල මෝඩයෙක් දිනාගන්න පුළුවන් වීම විතරයි. මංමාවත්වල මුහුදු අයින්වල කුඩ ඉහලගෙන, මහා සුපිරි වාහනවල, හෝටල් කාමරවල දිගින් දිගටම සිද්ධ වෙන්නෙ ඒක. ඒකට ලොකුම හේතුව වෙන්නෙ ගෑනුන්ට දිගටම මේ යුගයෙදි හොයාගන්න වෙන්නෙ මෝඩයෙක් වීම. ඒ මෝඩයව දිගින් දිගටම නඩත්තු කරගන්න ඕනින් සිද්ධ වෙන්නෙ, තමන්ගෙම ආත්මය ලෙඩ කරගැනීම. ලෙඩ වෙච්ච ආත්මවලට අන්තිමට සොහොන් ගෙවලුත් නැහැ. ඒ නිසා තවමත් ගැහැනුන්ට හැඩගැහෙන්න තරම් වටින පිරිමියෙක්, පෙම්වතෙක් මේ ලොකේ ඉන්නවද කියන එකයි ප්‍රශ්නය. දෙවියන් බුදුන් නම් ඒකට හොඳටම මදියි. ඒ මුනිවරයා පහළ වෙනකනුයි අපි බලන් ඉන්නෙ. තාමත් මුළු ගෑනු වංශයම මැරී මැරී උපදින්නෙ."

එතකොටම ටික වෙලාවකින් සඳ එළිය මැද්දෙන් වලාකුළු අස්සෙන් පරෙවි මිනිසා එනවා දැක්කා. මිනිහා කුණු ගොඩේ අපි හිටපු දිහාවට පාත් වුණා. නවීෂා කියපු දේවල්වලින් ගොඩක් දේවල් ගැන මටත් මීට සෑහෙන කාලෙකට කලින් දැනිල තිබ්බා. එක එක තැන් වල ඒ ගැන කුරුටු ගාල තිබ්බා. ගැහැනියක් තමන්ගෙම වංශය ගැන නිර්ලෝභීවත් උපරිම පරෙස්සමෙනුත් කතා කරන කොට අහන් ඉන්න ආසයි. ඒවගෙම එනකොට ඉක්මනටම මැරිල යයි කියලත් හිතෙන එකත් සාමාන්‍යයි. ඇත්තටම එයාගෙ උත්තරය මොකක් උනත්, මට කරන්න තියෙන්නෙ එක දෙයයි. මේ ලෝකය මට තවමත් වේලාසන වැඩියි. නවීෂා මගේ මුහුණෙන් අත් දෙක ඉවතට ගත්තා.



"මේ ඔය සුදු බිත්තරයා අතේ එන උත්තරේ මොකක් උනත්, යන්න ඕනෙ අපි මෙහෙට මිසක් එරෙහෙට නෙවෙයි, හරිද?'' තර්ජනය කරමින් දොර ළඟට ඇවිදගෙන ගියා. ගැහැනු ගැහැනු අතර සන්නිවේදනය සෑහෙන තියුණුයි. මොකද ඒ තියුණු බව සංසාර කාලයක් නෙහ්. කුංජන හැරුණා දොර දිහාවට. පරෙවි මිනිසා සිනහවෙමින් මං ළඟට ආවා.

එයා හරි ලස්සනයි නෙහ්. ඔහු කීවා. ඔහුගේ අතේ ඒ වැදගත් පණිවුඩය තිබුණා. ඔව්... අද ඇයගෙන් පිළිතුරක් ලැබිලා. පිළිතුර

# බුදුන්ගේ රස්තියාදුව

කේකේ ශ්‍රීනාත්



මේ අබුද්දස්ස කාලය නො වේ.
තවමත් බුදුවරු සැරි සරති.
ඔවුන්ගේ නම් ගම් අප්‍රකට ය.
කතා කරන සතුන් ද ජීවමාන ය.
ආශ්චර්යයන්, ප්‍රාතිහාර්යයන් නිම වී නැත.
සියලු අපාය ද, දෙව් ලොව ද පවතින්නේ ය.
එබැවින් සදාකාලිකත්වය
මේ යුගය වෙත කඩා වැදී ඇත.
අමරණීය ය. කිසිවෙකු මිය යන්නේ නැත.
සියලු සංස්කාර ධර්මයෝ
නැසෙන සුලු වුවත්
මේ යුගයේ දී නම් එය අවලංගු ය.
එනම්,
මෙහි ඕනෑ ම දෙයක් සිදුවිය හැකි ය.




සංහිඳ මුද්‍රණ සහ ප්‍රකාශන
අංක 06, විජේරාම පාර,
ගංගොඩවිල, නුගේගොඩ,
011-2802679 / 011-4542725
sanghindapubs@gmail.com

ISBN 978-955-681-289-3





Rs. 500/-


Cover Designer | Sanjaya Epa Senevirathna
Auther's Photograph | Kalpa Rajapakse